

# පාලි භාෂාව

03

තුන්වන ශ්‍රේණිය

මූලික පිරිවෙණ

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

තිළිණය ලෙසින් රජයෙන් මේ පොත ලදිමි
කියවා එයින් නැණ ගුණ එළි කර ගනිමි
මගෙ රට වෙනුවෙන් ම දෑ සම්පත් රකිමි
මේ පොත එන වසරෙ වෙන කෙනකුට පුදමි

அரசின் வெகுமதியாய் நூலிதனைப் பெற்றேன்
அறிவு பெருகிடவே நூலிதனைக் கற்பேன்
தாய் நாட்டின் வளமெனவும் நூலிதனைக் காப்பேன்
பல மாணவரும் பயின்றிடவே நூலிதையே அளிப்பேன்

From the government, I received this as a gift
I'll read it, light up my knowledge and practise thrift
On my country's own behalf , I'll protect the national resources
And offer this book to another one as a fresh garland of roses



## ගරු අධ්‍යාපන අමාත්‍යතුමාගේ පණිවුඩය

පිරිවෙන් මගින් ගිහි පැවිදි දෙපක්ෂයට ම භාෂා, ආගමික හා සාරධර්ම අධ්‍යාපනය ලබා දීම චිරාත් කාලයක සිට පැවත ආ බැවින්, පිරිවෙණ ශ්‍රී ලාංකික අධ්‍යාපනයේ කේන්ද්‍රස්ථානය බවට පත් විය. එය දේශීය ගිහි පැවිදි ශිෂ්‍ය පරම්පරාව පමණක් නො ව විදේශීය විද්‍යාර්ථීන් ද ඥානනය කළ විශ්වවිද්‍යාලයක් බඳු ස්ථානයක් විය. එක් එක් යුගයේ අවශ්‍යතා අනුව සකස් වූ විෂයමාලාවක් පිරිවෙන් අධ්‍යාපනය මඟින් සිසුන් වෙත ප්‍රදානය කරනු ලැබිණි. එබැවින් ම එවැනි අධ්‍යාපන මධ්‍යස්ථාන විශ්ව සම්භාවනාවට පත් විය.

විදේශීය ආක්‍රමණ හමුවේ - විශේෂයෙන් ම පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ආක්‍රමණ හමුවේ - පිරිවෙන් අධ්‍යාපනය ගුණාත්මක වශයෙන් හීන වී ගිය බව සැබෑ ය.

එහෙත් 1753 දී ශ්‍රී ලංකාවේ මහණ උපසම්පදාව යළි පිහිටුවීමට ක්‍රියා කළ අසරණ සරණ සරණංකර සංඝරාජ මාහිමිපාණන්ගේ කැපවීම මත පිරිවෙණ නමැති අධ්‍යාපන ආයතනය ශීඝ්‍ර දියුණුවකට පත් ව දෙස් විදෙස් කීර්තියට පත්වීම අප ලැබූ ජයග්‍රහණයකි.

අනෙකුත් අධ්‍යාපන ක්ෂේත්‍රවලට මෙන් ම පිරිවෙන් අධ්‍යාපනයට ද නිදහස් අධ්‍යාපන සංකල්පය වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ම අර්ථවත් කිරීම අපගේ පරම අපේක්ෂාවයි. පිරිවෙන් පෙළපොත් නොමිලයේ සැපයීමෙන් රජය ඉහළ වැයක් දැරුව ද එමගින් සමස්ත ජනතාවගේ විනය, සදාචාරය හා යහපැවැත්ම පිරිවෙන් ශිෂ්‍ය ප්‍රජාව වෙතින් ඉටු වනු ඇතැයි උදක් ම අපේක්ෂා ඇති ව මෙම පොත ඔබ අතට පත් කිරීමට ලැබීම භාග්‍යයක් කොට සලකන අතර මෙම පොත පරිහරණය කිරීමෙන් ගිහි පැවිදි දෙපාර්ශ්වයට ම අයත් ශිෂ්‍ය ශිෂ්‍යාවන්ගේ නැණ ගුණ දියුණු වේවායි ද පතමි.

**අකිල විරාජ් කාරියවසම්**

අධ්‍යාපන අමාත්‍ය

# පිරිවෙන් අධ්‍යාපන අධ්‍යක්ෂ නාහිමිපාණන්ගේ පණිවුඩය

මනුෂ්‍ය ජීවිතයක් ලැබූ අපි වාසනාවන්තයෝ වෙමු. අප ලැබූ වාසනාවන්ත ජීවිතය තව දුරටත් සාර්ථක කර ගත යුතු ය. ඒ සඳහා අනුගමනය කළ හැකි නිවැරැදි ක්‍රම බොහෝ ඇත. ඒ අතරින් ළමා වියේ දී නොවරදවා ම කළ යුතු වන්නේ ඉගෙන ගැනීමයි. ඔබගේ ජීවිතයේ ඉදිරි කාලය සතුටෙන් සිටිනවා ද දුකෙන් ගතකරනවා ද කියා තීරණය වන්නේ බාල වියේ ඉගෙනීමට දක්වන උනන්දුව මතයි. ඉගෙනීමට ඇති ළමා කාලය ඉතා ඉක්මනින් ගෙවී යන බව සිහියේ තබා ගන්න.

පිරිවෙන් අධ්‍යාපනය ලබන ගිහි පැවිදි දරුවන් වැඩි දෙනෙක් දුප්පත් දෙමාපියන්ගේ දරුවෝ ය. එබඳු දරුවන්ට පිරිවෙණක ඉගෙනීමට අවස්ථාව සැලසීම ම කොතරම් භාග්‍යයක් ද? අප මෙලොවට බිහිකළ දෙමාපියන්ටත් පැවිදි කළ ගුරු උතුමන් ඇතුළු ඉගෙනීමට උදවු කළ සැමටත් මේ රටටත් අප කළගුණ දැක්විය යුතු ය. එසේ කළ හැකි වන්නේ අප බණ දහම් හා ශිල්ප ශාස්ත්‍ර ඉගෙන උසස් තත්ත්වයකට පත්වුවහොත් පමණකි.

ශ්‍රී ලංකාවේත් වෙනත් රටවලත් උගතුන්, ධනවතුන් හා බලවතුන් බවට පත්ව ඇති බොහෝ ගිහි පැවිදි චරිත දෙස බලන්න. ඒ හැම කෙනෙක් ම පාහේ දුක් මහන්සි වී ඉගෙන ගත්තෝ ය. ඔවුන් ආහාරපාන පොත්පත් ආදිය සපයා ගෙන ඇත්තේ ඉතා දුක සේ ය. එහෙත් අලස නොවී, වෙහෙස නොබලා, කාලය අපතේ නොහැර ඉගෙනීම නිසා අද ඔවුන් තමන්ගේ ජීවිතත් තමන්ට උපකාර කළ අයගේ ජීවිතත් සතුටුදායක කොට ගෙන ඇත.

වර්තමාන ලෝකයේ මිලියන ගණනක් දරුවන්ට ජීවත් වීමට නිවසක් නැත; කුසට ආහාර නැත; අසනීපයකට බෙහෙත් ගන්නට මුදල් නැත; ඉගෙනීමට පොත්පත් නැත. එහෙත් ඔවුහු බොහෝ දුෂ්කරතා මැද ඉගෙන ගනිති. එසේ වුවත් අප කොතරම් වාසනාවන්ත ද? අපට පිරිවෙණෙන් හෝ දායකයන්ගෙන් හෝ නොමිලේ ම ආහාරපාන ලැබෙයි. රජය මගින් නොමිලේ පොත්පත් හා ඇඳුම් සැපයේ. පිරිවෙණේත් පාසලේත් ඉගෙනීමට මුදල් අය කරන්නේ නැත. එපමණක් නොව රජයේ සුරක්ෂා සිසු රක්ෂණ ක්‍රමය නිසා මෙම වර්ෂයේ පටන් අපට සෞඛ්‍ය රක්ෂණයක් ද ලැබී ඇත.

අද වන විට ලෝකයේ බොහෝ මිනිස්සු ආහාර පමණක් නොව බීමට ජලය ද නොමැති ව දුකට පත්ව සිටිති. ආහාර, ජලය, සිවුරු ආදිය අපතේ නොහැර ඒවායින් උපරිම ප්‍රයෝජන ගත යුතු යැයි අපගේ ශාස්තෘ වූ බුදුන් වහන්සේ විසින් අපට උගන්වා ඇත. ඒවා නාස්ති කිරීම වරදක් පමණක් නොව පාපයක් ද වේ. මේ පෙළපොත් ඔබට ලැබෙන්නේ ද නොමිලේ ය. ඒ සඳහා රජය මේ රටේ මිනිසුන්ගෙන් එකතු කර ගත් විශාල මුදලක් වැය කර ඇති බව අමතක නොකරන්න.

මෙම පෙළපොත් ප්‍රවේසමෙන් හා වුවමනාවෙන් පරිහරණය කරන්න; දැනුමෙන් පෝෂණය වන්න; විභාග සමත් වන්න. මේ රටට ආදරය කරන ලෝකයේ ජීවත් වන සැම කෙරෙහි කරුණා මෛත්‍රියෙන් යුක්ත සත්පුරුෂයකු වීමට ඔබත් අධිෂ්ඨාන කර ගන්න.

**මහාචාර්ය පූජ්‍ය නාබිරිත්තන්කඩවර ඤාණරතන හිමි**
අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්)
අධ්‍යාපන අමාත්‍යාංශය

# පෙරවදන

ශ්‍රී ලංකාව තුළ බුද්ධ ධර්මය ස්ථාපිත වීමත් සමග ම විහාරාරාම ගොඩනැංවීම ආරම්භ විය. දිවයිනේ ප්‍රධාන විහාරස්ථාන කේන්ද්‍ර කර ගනිමින් "පිරිවෙණ" නමැති විද්‍යායතනය බිහි වී ඇත. ගිහි පැවිදි දෙපක්ෂයට ම අවශ්‍ය වූ කලා ශිල්ප, භාෂා හා සමය සමයාන්තර ඥානයත්, යහපත්, ගුණගරුක සමාජයක් බිහි කිරීමට අවශ්‍ය සාරධර්ම අධ්‍යාපනයත් බෙදා දුන්නේ පිරිවෙණ මගිනි. එම සාම්ප්‍රදායික අනන්‍යතාව රැක ගනිමින් ම, කාලීන අවශ්‍යතා ද සපුරාලමින් යහපත් සමාජයක් ගොඩනැගීමේ කාර්යය ඉදිරියට ගෙන යාමට පිරිවෙණ ඉටු කරන කාර්යභාරය සුළු කොට තැකිය නොහැකි ය.

සම්භාවනීය අධ්‍යාපන සම්ප්‍රදායයන් රැක ගනිමින් ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලාගේ මෙන් ම ගිහි සිසුන්ගේත් අවශ්‍යතා සැලකිල්ලට ගෙන අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව පිරිවෙන් සඳහා මෙම පාඨග්‍රන්ථය සම්පාදනය කර ඇත. එම කාර්යය සඳහා දායකත්වය සැපයූ උපදේශක, ලේඛක හා සංස්කාරක මණ්ඩල සාමාජිකයන් සියලු දෙනාට ද අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ නිලධාරීන්ට ද මාගේ ස්තුතිය පිරිනමනු කැමැත්තෙමි.

**අයි.එම්.කේ.බී. ඉලංගසිංහ**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2017.05.02

**නියාමනය හා අධීක්ෂණය :-**

| | |
|---|---|
| අයි.එම්.කේ.බී. ඉලංගසිංහ මයා | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**මෙහෙයවීම :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය නාබිරිත්තන්කඩවර ඥාණරතන හිමි | - අධ්‍යාපන අධ්‍යක්ෂ (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩබ්.ඩී. පද්මිණි නාලිකා මිය | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (නිෂ්පාදන හා බෙදාහැරීම්)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි මිය | - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**උපදේශකත්වය :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය මකුරුප්පේ ධම්මානන්ද හිමි | - පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය |

**සම්බන්ධීකරණය :-**

| | |
|---|---|
| පූජ්‍ය බණ්ඩාරවෙල රතනසාර හිමි | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| ඩී.එම්.ජේ. පුෂ්පකුමාර මයා | - නියෝජ්‍ය කොමසාරිස් (පාලන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| කේ.ඒ. සුමිත් ධර්මශ්‍රී මයා | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

**සංස්කරණය :-**

| | |
|---|---|
| මහාචාර්ය පූජ්‍ය මකුරුප්පේ ධම්මානන්ද හිමි | - පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය |
| ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය විමල් හේවාමානගේ මයා | - බෞද්ධ අධ්‍යයන අංශය,<br>කොළඹ විශ්වවිද්‍යාලය, කොළඹ |

**ලේඛක මණ්ඩලය :-**

| | |
|---|---|
| පූජ්‍ය පුස්සැල්ලාවේ ඥාණරතන හිමි (සභාපති) | - ආරාධිත කථිකාචාර්ය<br>කොළඹ විශ්වවිද්‍යාලය, කොළඹ |

| | |
|---|---|
| පූජ්‍ය බණ්ඩාරවෙල රතනසාර හිමි | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |
| පූජ්‍ය මුවපැටිගේවෙල පඤ්ඤාලෝක හිමි | - ආරාධිත කථිකාචාර්ය<br>පාලි හා බෞද්ධ අධ්‍යයන අංශය<br>කැලණිය විශ්වවිද්‍යාලය<br>කැලණිය |
| ඩී.එම්.එස්. දිසානායක මයා | - පරිවේණාචාර්ය<br>විද්‍යාධාර මහා පිරිවෙණ,<br>කලාකරඹෑව<br>අනුරාධපුරය. |

**සෝදුපත් කියවීම** :-

| | |
|---|---|
| කේ.ඒ. සුමිත් ධර්මශ්‍රී මයා | - පාලි විෂය උපදේශක (පිරිවෙන්)<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

**පරිගණකගත කිරීම, පිටු නිර්මාණය සහ පිට කවරය** :-

| | |
|---|---|
| ක්‍රිෂ්නි සමුද්ධිකා නවරත්නගේ මෙය | - පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

# කටපාඩම් ගැනීම

## පළමුවන වාරය

බුද්ධානුස්සති, මෙත්තානුස්සති කමටහන්
සත්ථු, පිතු ශබ්ද
අජ්ජතනී, පඤ්චමී ආඛ්‍යාත
බාලාවතාර - ස්වර සන්ධි
ගිරිමානන්ද සුත්ත, ඉසිගිලි සුත්ත

## දෙවන වාරය

අසුභානුස්සති, මරණානුස්සති කමටහන්
මාතු, මන, අම්හ, තුම්හ ශබ්ද
සත්තමී ආඛ්‍යාතය
බාලාවතාර - ව්‍යඤ්ජන හා නිග්ගහීත සන්ධි
පරාභව සුත්ත, වසල සුත්ත

## තෙවන වාරය

අට්ඨමහාසංවේගවත්ථු
ත, එත, ඉම ශබ්ද
පරෝක්ඛා, හීයත්තනී ආඛ්‍යාත
බාලාවතාර - වෝමිස්සක සන්ධි
ආලවක සුත්ත

# ලඝු සඤ්ඤා

කි - කිතක පදයකි
ක්‍රි - ක්‍රියා පදයකි
ත - තද්ධිත පදයකි
තු - තුමන්ත ක්‍රියා පදයකි
නා - නාම පදයකි
නි - නිපාත පදයකි
පූ.ක්‍රි - පූර්ව ක්‍රියා පදයකි
ස - සමාස පදයකි
සං - සන්ධි පදයකි
ස.නා - සර්වනාම පදයකි

# පඨමො පාඨො

# සච්චවාදී

පුබ්බෙ ලඞ්කායං පච්චන්තගාමො අහොසි. තස්මිං ගාමෙ සච්චවාදී එකො දාරකො විහාසි. මාතාපිතරො තස්ස තිස්සො'ති නාමං අකංසු. තිස්සො කදාචි මුසා න භණි. තිස්සස්ස ගෙහඞ්ගණෙ නානා කුසුමගච්ඡා අහෙසුං. සො දාරකො සහායකෙහි දාරකෙහි සද්ධිං අත්තනො අඞ්ගණෙ කන්දුකකීළං කීළි. තදා තිස්සෙන දින්නකන්දුකපහාරෙන එකො කුසුමගච්ඡො භින්නො. සායණ්හෙ තස්ස මාතා ඡින්නභින්නසාඛං කුසුමගච්ඡං දිස්වා දාසං පක්කොසාපෙත්වා රෙ! කෙන අයං අපරාධො කතො'ති පුච්ඡි. භීතො සො දාසො අහං න ජානාමී'ති අවදි. තිස්සස්ස මාතා තං න සද්දහි. තස්මා දාසං තජ්ජෙත්වා පහරිතුං වායමි. තස්මිං ඛණෙ තිස්සො සම්පාපුණි. සො තං දිස්වා මාතුයා සන්තිකං ගන්ත්වා එවමාහ. අම්ම, මා දාසං පහරි. තං මෙ වජ්ජං. එසො මම කම්මො. න දාසස්ස දොසො. තස්මා අහං දණ්ඩනීයො භවාමි. තං සුත්වා මාතා අතී'ව පසන්නා තිස්සස්ස සීසං පරිමද්දිත්වා එකං චාගම්පි අදාසි.

**(පාලි රචනා 1)**

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **පච්චන්තගාමො** | **(ස)** | - | පිටිසර ගමක් |
| **සච්චවාදී** | **(ත)** | - | ඇත්ත කියන්නා/ සත්‍යවාදී |
| **විහාසි** | **(ක්‍රි)** | - | වාසය කළේය |
| **මාතාපිතරො** | **(ස)** | - | මවුපියෝ |
| **අකංසු** | **(ක්‍රි)** | - | කළහ |
| **මුසා** | **(නි)** | - | බොරු |
| **භණි** | **(ක්‍රි)** | - | කීවේය |
| **ගෙහඞ්ගණෙ** | **(ස)** | - | ගෙහි මිදුලේ |
| **නානා** | **(නි)** | - | නොයෙක් |
| **කුසුමගච්ඡා** | **(ස)** | - | මල් පඳුරු |
| **අහෙසුං** | **(ක්‍රි)** | - | වූහ |
| **කන්දුකකීළං** | **(ස)** | - | පන්දු ක්‍රීඩාව |
| **කීළි** | **(ක්‍රි)** | - | කෙළියේය/ක්‍රීඩා කළේය |
| **කන්දුකපහාරෙන** | **(ස)** | - | බෝල පහරකින් |
| **භින්නො** | **(කි)** | - | බිඳුණු |
| **සායණ්හෙ** | **(නි)** | - | සවස |
| **ඡින්න** | **(කි)** | - | සිඳුණු |

| | | | |
|---|---|---|---|
| සාඛං | (නා) | - | අත්ත |
| පක්කොසාපෙත්වා | (පූ.ක්‍රි) | - | කැඳවවා |
| ජානාමි | (ක්‍රි) | - | දනිමි |
| අවදි | (ක්‍රි) | - | කීවේය |
| සද්දහි | (ක්‍රි) | - | විශ්වාස කළේය |
| වායමි | (ක්‍රි) | - | උත්සාහ කළේය |
| පහරි | (ක්‍රි) | - | ගැසුවේය |
| අතීව | (සං) | - | අතිශයින් ම |
| පසන්නා | (කි) | - | පැහැදුණු තැනැත්තී |
| තජ්ජෙත්වා | (පූ.ක්‍රි) | - | තර්ජනය කොට |
| වජ්ජං | (නා) | - | වරද |
| දණ්ඩනීයො | (න) | - | දඬුවම් ලැබිය යුත්තා |
| පරිමද්දිත්වා | (පූ.ක්‍රි) | - | අතගා/ පිරිමැද |
| චාගමපි | (සං) | - | තෑග්ගක් ද |
| අදාසි | (ක්‍රි) | - | දුන්නේය |

**අභ්‍යාස**

1. 'සච්චවාදී' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සො දාරකො කිං වාදී හොති?
ii. ගෙහඞගණෙ කෙ අහෙසුං?
iii. කස්මා මාතා දාසං පක්කොසාපෙත්වා තජ්ජෙසි?
iv. පච්ඡා තිස්සො කිං අභාසි?
v. මාතා කස්ස චාගං අදාසි?

**අක්ෂර මාලාව**

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| අ | ආ | ඉ | ඊ | උ | ඌ | එ | ඔ |
| | ක | ඛ | ග | ඝ | ඞ | | |
| | ච | ඡ | ජ | ඣ | ඤ | | |
| | ට | ඨ | ඩ | ඪ | ණ | | |
| | ත | ථ | ද | ධ | න | | |
| | ප | ඵ | බ | භ | ම | | |
| | ය | ර | ල | ව | | | |
| | ස | හ | ළ | (අ)ං | | | |

පාලි හෝඩිය අකුරු 41 කින් යුක්ත ය. **(අක්ඛරාපාදයො එකචත්තාළීසං)**

**අක්ෂර ප්‍රභේද**

'ඕ' කාරය අවසන් කොට ඇති අකුරු අට (8) ස්වර නම් වේ. **(තත්‍ථොදන්තා සරා අට්ඨ)**

ස්වර හැරුණු විට නිග්ගහීතය අවසන් කොට ඇති ඉතිරි අකුරු තිස්තුන (33) **ව්‍යඤ්ජන** නම් වේ. **(සෙසා බ්‍යඤ්ජනා)**

**1. ස්වර ප්‍රභේද**

පාලි භාෂාවේ ස්වර උච්චාරණය සඳහා ගතවන කාලය අනුව **හ්‍රස්ව** හා **දීර්ඝ** යනුවෙන් ප්‍රභේද දෙකකට බෙදේ.

**හ්‍රස්ව ස්වර**

එක් මාත්‍රාවක දී උච්චාරණය කළ හැකි ස්වර **හ්‍රස්ව ස්වර** නම් වේ. එබඳු ස්වර තුනකි. **(අ, ඉ, උ ඉති තයො රස්සා)**

**අ, ඉ, උ**

**දීර්ඝ ස්වර**

උච්චාරණය සඳහා එක් මාත්‍රාවකට වැඩි කාලයක් ගතවන ස්වර **දීර්ඝ ස්වර** නම් වේ. එබඳු ස්වර පහක් පාලි වර්ණ මාලාවේ ඇත. **(අඤ්ඤෙ දීඝා)**

**ආ, ඊ, ඌ, එ, ඔ**

**2. ව්‍යඤ්ජන ප්‍රභේද**

ව්‍යඤ්ජනාක්ෂරයන්ගේ වර්ග, අවර්ග, වර්ගාන්ත ආදි බෙදීම් හැරුණු විට දක්නට ලැබෙන ප්‍රධාන බෙදීමක් වන්නේ **ඝෝෂ** හා **අඝෝෂ** භේදය යි.

**අඝෝෂාක්ෂර**

උච්චාරණයේ දී අඩු ශබ්දයක් සහිත ව කියවෙන අකුරු **අඝෝෂ** නම් වේ. වර්ගාක්ෂරවල පළමු වන සහ දෙවන අකුරුත් සකාරයත් යන අකුරු එකොළහ (11) **අඝෝෂ** නම් වේ. **(වග්ගානං පඨමදුතියා සොචාඝොසා)**

**ක, ඛ, ච, ඡ, ට, ඨ, ත, ථ, ප, ඵ, ස**

**ඝෝෂාක්ෂර**

උච්චාරණයේ දී අඝෝෂ අක්ෂරවලට වඩා වැඩි හඬකින් කියවෙන අකුරු ඝෝෂ නම් වේ. ව්‍යඤ්ජන අකුරුවල **අඝෝෂ** අකුරු සහ **නිග්ගහීතය** (බින්දුව) හැරුණු විට ළකාරයෙන් අවසන් වන ඉතිරි අකුරු විසිඑක (21) **ඝෝෂාක්ෂර** වේ. **(ළන්තාඤෙඤ ඝොසා)**

| | | | |
|---|---|---|---|
| ග, | ඝ, | ඞ | |
| ජ, | ඣ, | ඤ | |
| ඩ, | ඪ, | ණ | |
| ද, | ධ, | න | |
| බ, | භ, | ම | |
| ය, | ර, | ල, | ව |
| හ, | ළ | | |

**අභ්‍යාස**

1. පාලියෙහි වර්ණ මාලාව පිළිවෙළින් ලියා දක්වන්න.

2. අඝෝෂ හා ඝෝෂාක්ෂර එනමින් හැඳින්වීමට හේතු දක්වා, එම අකුරු වෙන වෙන ම ලියා දක්වන්න.

3. පහත සඳහන් වචනවල ආරම්භක අකුර පමණක් සලකා **අඝෝෂ** හා **ඝෝෂවලට** බෙදා දක්වන්න.

i. කලන්දකො
ii. වානරො
iii. පත්තං
iv. දෙවො
v. කුක්කුටො
vi. ඵලං
vii. බුරං
viii. වනිතා
ix. ඡත්තං
x. සිසෙසා
xi. මාලා
xii. ඝොසී
xiii. යොගි
xiv. තොයං

4. සිංහලට නගන්න.

i. බුද්ධො
ii. ආචරියො
iii. සිසෙසා
iv. සාලා
v. අක්ඛරං
vi. පොත්ථකං
vii. ලෙඛනං
viii. පීඨං
ix. පාඨං
x. පරිවෙණං

5. සිංහලට නගන්න.

i. ආචරියො ලිඛති.
ii. සිසෙසා උගගණ්හාති.
iii. භික්ඛු ධම්මං දෙසෙති.
iv. සො පීඨෙ නිසීදති.
v. අහං පාඨං පඨාමි.

6. පාලියට නගන්න.

i. අපි පිරිවෙණට යමු.
ii. මට පෑනක් (ලෙඛනී) දෙන්න.
iii. නුඹලා බුදුන් පුදව්.
iv. ළමයා සෙල්ලම් කරයි.
v. ඔහු ගස කපයි.

| දුතියො පාඨො | # සාධු මත්තඤ්ඤුතා |
|---|---|

තිස්සමහාරාජා'පි දෙවසිකං චෙතියපබ්බතෙ භික්ඛුසඞ්ඝස්ස දානං දදමානො 'මහාරාජ, කිං එකමෙව ඨානං භජසි? කිං අඤ්ඤත්ථ දාතුං න වට්ටතී'ති ජානපදෙහි වුත්තො දුතියදිවසෙ අනුරාධපුරෙ මහාදානං දාපෙසි. එකභික්ඛු'පි පටිග්ගහණෙ මත්තං න අඤ්ඤාසි. එකමෙකෙන පටිග්ගහිතං ඛාදනීයං භොජනීයං දෙව තයො ජනා උක්ඛිපිංසු. රාජා දුතියදිවසෙ චෙතියපබ්බතෙ භික්ඛුසඞ්ඝං නිමන්තාපෙත්වා රාජනෙතපුරං ආගතකාලෙ 'පත්තං දෙථා'ති ආහ. 'අලං මහාරාජ, අත්තනො පමාණෙන භික්ඛං ගණ්හිස්සන්තී'ති එකභික්ඛු'පි පත්තං න අදාසි. සබ්බෙ පමාණයුත්තකමෙව පටිග්ගහෙසුං. අථ රාජා 'පස්සථ, තුම්හාකං භික්ඛුසු එකො'පි මත්තං න ජානාති; හීයො කිඤ්චි අවසෙසං නාහොසි; අජ්ජ ගහිතං මන්දං, අවසෙසමෙව බහූ'ති තෙසං මත්තඤ්ඤුතාය අත්තමනො ඉතරෙසඤ්ච අමත්තඤ්ඤුතාය අනත්තමනො අහොසි.

**(පාලි ගද්‍ය පද්‍ය රචනා)**

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **තිස්සමහාරාජා** | **(ස)** | - | තිස්ස (සද්ධාතිස්ස) මහරජතුමා |
| **දෙවසිකං** | **(ත)** | - | දිනපතා |
| **චෙතියපබ්බතෙ** | **(ස)** | - | සෑගිරියෙහි |
| **දදමානො** | **(කි)** | - | දෙන්නේ |
| **ඨානං** | **(කි)** | - | තැනක් |
| **භජසි** | **(ක්‍රි)** | - | සේවනය කරහි |
| **අඤ්ඤත්ථ** | **(නි)** | - | වෙනත් තැනකට |
| **වට්ටති** | **(ක්‍රි)** | - | වටී |
| **ජානපදෙහි** | **(ත)** | - | ජනපදවැසියන් විසින් |
| **වුත්තො** | **(කි)** | - | කියන ලද්දේ |
| **දුතියදිවසෙ** | **(ස)** | - | දෙවෙනි දවසෙහි |
| **දාපෙසි** | **(ක්‍රි)** | - | දෙවීය |
| **පටිග්ගහණෙ** | **(සං)** | - | පිළිගැන්මෙහි |
| **මත්තං** | **(නි)** | - | පමණ |
| **එකමෙකෙන** | **(සං)** | - | එක් එක් භික්ෂුව විසින් |
| **පටිග්ගහිතං** | **(කි)** | - | පිළිගන්නා ලද |
| **ඛාදනීයං** | **(කි)** | - | කෑ යුතු |
| **භොජනීයං** | **(කි)** | - | බුදිය යුතු / අනුභව කළ යුතු |
| **උක්ඛිපිංසු** | **(ක්‍රි)** | - | විසි කළහ |
| **නිමන්තාපෙත්වා** | **(පූ.ක්‍රි)** | - | ආරාධනා කරවා |
| **රාජනෙතපුරං** | **(ස)** | - | රජ ගෙට |

| | | | |
|---|---|---|---|
| **ආගතකාලෙ** | **(ස)** | - | පැමිණි කල්හි |
| **අලං** | **(නි)** | - | කම් නැත |
| **පමාණයුත්තකමෙව** | **(සං)** | - | ප්‍රමාණයෙන් යුත් (භෝජනය) ම |
| **පටිග්ගණ්හෙසුං** | **(ක්‍රි)** | - | පිළිගත්හ |
| **හීයො** | **(නි)** | - | ඊයේ |
| **අවසෙසං** | **(නි)** | - | ඉතුරු |
| **මන්දං** | **(නි)** | - | ස්වල්ප |
| **බහූ** | **(නි)** | - | බොහෝ |
| **මත්තඤ්ඤුතා** | **(ත)** | - | පමණ දැනීම |
| **අමත්තඤ්ඤුතා** | **(ත)** | - | පමණ නො දැනීම |
| **අනත්තමනො** | **(ස)** | - | නො සතුටු සිතැති |

**අභ්‍යාස**

1. 'සාධු මත්තඤ්ඤුතා' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. රාජා කෙසං දෙවසිකං දානං අදාසි?
ii. ජානපදිකා කිං වදිංසු?
iii. දුතියදිවසෙ ආගතභික්ඛූ රාජානං කිං අභාසි?
iv. තෙ දෙව භික්ඛුගණා කථං භත්තං පටිග්ගණ්හෙසුං?
v. ජනා කිං උක්ඛිපිංසු?

3. ඡේදයේ ඇති මහාප්‍රාණාක්ෂර සහිත වචන උපුටා දක්වන්න.

## අක්ෂර ප්‍රභේද

ව්‍යඤ්ජන අක්ෂර පිළිබඳ ව ඉහත පාඩමෙහි දක්වන ලද ප්‍රභේදවලට අමතර ව ව්‍යාකරණ ග්‍රන්ථයන්හි තවත් ප්‍රභේද කිහිපයක් දක්වා ඇත. ඒ අතර **ධනිත** - **සිථිල** ප්‍රභේද ප්‍රධාන ය.

**ධනිතාක්ෂර (මහාප්‍රාණාක්ෂර)**

මහත් ප්‍රාණයකින් නොහොත් ආයාසයකින් උච්චාරණය කළ යුතු අකුරු **ධනිතාක්ෂර** හෝ **මහාප්‍රාණාක්ෂර** නම් වේ. වර්ගාක්ෂරයන්ගේ දෙවන හා සිවුවන අකුරු මේ ගණයට අයත් ය. **(එත්ථ වග්ගානං දුතියචතුත්ථා ධනිතා'ති වුච්චන්ති)**

| | |
|---|---|
| ඛ, | ඝ |
| ඡ, | ඣ |
| ඨ, | ඪ |
| ථ, | ධ |
| ඵ, | භ |

**සිථිලාක්ෂර (අල්පප්‍රාණාක්ෂර)**

සිථිල හෝ ලිහිල් අකුරු නැතහොත් අඩු ආයාසයකින් උසුරුවන අකුරු **සිථිලාක්ෂර** හෝ **අල්පප්‍රාණාක්ෂර** නම් වේ. ධනිත අකුරු හැරුණු විට වර්ගයන්ගේ ඉතිරි අකුරු සිථිල නම් වේ. **(ඉතරෙ සිථිලා)**

**ක, ග, ඞ**
**ච, ජ, ඤ**
**ට, ඩ, ණ**
**ත, ද, න**
**ප, බ, ම**

**අන්තඃස්ථාක්ෂර**

වර්ගයන්ගේ අන්තයෙහි හෙවත් කෙළවර පිහිටි බැවින් **ය, ර, ල, ව** යන අකුරු හතර මෙනමින් හැඳින්වේ.

## අකාරාදි පිළිවෙළ

හෝඩියේ **අකාරයේ** පටන් ඇති අක්ෂරවල අනුපිළිවෙළට වචන ලියා දැක්වීම අකාරාදි පිළිවෙළ නම් වේ. එහි දී පළමුවෙන් වචනයේ ආරම්භක අකුර සැලකිය යුතු ය. පහත සඳහන් නිදසුන දෙස බලන්න.

**කාලවාපි, මහාසයො, සුසිරං, වධකා, අඞගණං,**
**උදරං, ආපණං, ඔදනො, ලතා, ඉසි**

ඉහත සඳහන් පාලි වචන අකාරාදි පිළිවෙළට සකස් කළ පසු පහත සඳහන් පරිදි වේ.

**අඞගණං**
**ආපණං**
**ඉසි**
**උදරං**
**ඔදනො**
**කාලවාපි**
**මහාසයො**
**ලතා**
**වධකා**
**සුසිරං**

වචන මාලාවක් අකාරාදි පිළිවෙළට සැකසීමේ දී සැලකිය යුතු කරුණු කිහිපයකි.

- පළමුවෙන් ම ස්වරයකින් පටන් ගන්නා වචන ද ඉක්බිති ව ව්‍යඤ්ජනයකින් පටන් ගන්නා වචන ද සැලකිය යුතු ය.
- එක ම ව්‍යඤ්ජනාක්ෂරයෙන් පටන් ගන්නා වචන කිහිපයක් ඇති විට ව්‍යඤ්ජනාරූඪ ස්වරයන්හි අනුපිළිවෙළට සකස් කළ යුතු ය.
- පළමු අකුරෙහි ස්වර මෙන් ම ව්‍යඤ්ජන ද සමාන වන විට දෙවන අකුරෙහි ව්‍යඤ්ජනය හා ස්වරය සැලකිය යුතු ය.
- දෙවන අකුරෙහි ද ව්‍යඤ්ජනය හා ස්වරය සමාන වුවහොත් පිළිවෙළින් තෙවන සිවුවන ආදි අකුරු සලකා පිළිවෙළ සැකසිය යුතු ය.
- බැඳි අකුරකින් පටන් ගන්නා වචනයක් වුවහොත් පළමු ව්‍යඤ්ජනය ද දෙවන ව්‍යඤ්ජනය ද අනතුරු ව ස්වරය ද සලකා බැලිය යුතු ය.

| අකාරාදි පිළිවෙළට සැකසීමට පෙර | අකාරාදි පිළිවෙළට සැකසූ පසු |
|---|---|
| ආතුරො | අඞ්කුසං |
| කලන්‍දකො | අඞ්ගුලිං |
| අඞ්ගුලිං | ආතුරාලයං |
| දහරො | ආතුරො |
| අඞ්කුසං | කලන්‍දකො |
| බිලං | කලෙබරං |
| දාසො | දහරො |
| ආතුරාලයං | දාසො |
| කලෙබරං | බිලං |
| බිළාලො | බිළාලො |

**අභ්‍යාස**

1. ධනිත, සිථිල, වර්ගාන්ත යන ප්‍රභේදයන්ට අයත් අක්ෂර සංඛ්‍යාව දක්වා එම අකුරු වෙන වෙන ම ලියන්න.

2. පහත සඳහන් අක්ෂරවලින් ආරම්භ වන පාලි වචන දෙක බැගින් ලියන්න.

   ක, ච, ප, ධ, ජ

3. පහත සඳහන් වචන අකාරාදි පිළිවෙළට ලියන්න.

   පබ්බතං, පබ්බජ්ජා, භික්ඛා, නිදාසං, නිදානං,
   සිඛරං, උදුක්ඛලං, උදකං, පථිකො, ඔත්තප්පං,
   කුම්භං, පතිං, කුටජී, ගගනයානං, පඞ්කං,
   ගගනඞ්ගණං, පඞ්කජං, ජලධිං, ජලජං, ජනතා

4. 'සාධු මත්තඤ්ඤුතා' ඡේදයේ ඇති ස්වරයකින් පටන් ගන්නා වචන උපුටා දක්වා අකාරාදි පිළිවෙළට සකස් කරන්න.

5. 'සාධු මත්තඤ්ඤුතා' ඡේදයේ ඇති මහාප්‍රාණාක්‍ෂර සහිත වචන උපුටා දක්වා අකාරාදි පිළිවෙළට සකස් කරන්න.

6. සිංහලට නගන්න.

i. ව්‍යාධො මිගං මාරෙති.
ii. මාතා පුත්තං ලාලෙති.
iii. අහං සිප්පං උග්ගණ්හාමි.
iv. සො ඝටෙන ජලං ආහරති.
v. හත්ථිපාලකො ගජං විනෙති.

7. පාලියට නගන්න.

i. ඇත්ත කියන්නා ජයගනී.
ii. මව පුතාට අවවාද දෙයි.
iii. ගුරුවරයා සිසුන් හික්මවයි.
iv. රජතුමා රට පාලනය කරයි.
v. මේ මගේ පිරිවෙණ යි.

# තතියො පාඨො

# ජීවතු මම පුත්තො

එකා මහාගාමවාසී උපාසිකා රාජමහාවිහාරෙ මණිචෙතියගෙහද්වාරෙ ධම්මං සුණමානා අත්තනා පත්ථෙත්වා ලද්ධං එකපුත්තකං ආසිවිසෙන ඩසන්තං දිස්වා ධම්මසවණස්ස අන්තරායං මා හොතූ'ති වත්වා සයඤ්ච න නිවාරෙසි, අඤ්ඤෙසඤ්ච න දස්සෙසි. පච්ඡා ධම්මසවණනිට්ඨිතකාලෙ විසවෙගෙන විසඤ්ඤීභූතස්ස දාරකස්ස සන්තිකං ගන්ත්වා 'යෙන ආකාරෙන ධම්මසවණස්ස අන්තරායමකත්වා එකපදම්පි අවිනාසෙත්වා අස්සොසිං, එතෙන සච්චෙන නිබ්බිසො ජීවතු මම පුත්තො"ති සච්චකිරියං කත්වා පුත්තස්ස ජීවිතං අරොගං කත්වා තෙනෙ'ව සොමනස්සෙන පච්ඡා චවිත්වා සග්ගෙ නිබ්බත්තා.

(සහස්සවත්ථුප්පකරණ)

## පද මාලාව

| | | | |
|---|---|---|---|
| මහාගාමවාසී | (ස) | - | මාගම වැසි |
| මණිචෙතියගෙහද්වාරෙ | (ස) | - | මිණිමුවා සෑ ගෙහි දොර |
| සුණමානා | (කි) | - | අසන්නී |
| පත්ථෙත්වා | (පූ.ක්‍රි) | - | ප්‍රාර්ථනා කොට |
| ලද්ධං | (කි) | - | ලබන ලද |
| එකපුත්තකං | (ස) | - | එක ම පුතා |
| ආසිවිසෙන | (නා) | - | සර්පයෙකු විසින් |
| අන්තරායං | (නි) | - | අනතුරක් |
| මා | (නි) | - | නො/එපා |
| හොතු | (ක්‍රි) | - | වේවා |
| සයඤ්ච | (සං) | - | තෙමේ ද |
| නිවාරෙසි | (ක්‍රි) | - | වැළැක්වූවාය. |
| අඤ්ඤෙසඤ්ච | (සං) | - | අන් අයට ද |
| පච්ඡා | (නි) | - | පසුව |
| ධම්මසවණනිට්ඨිතකාලෙ | (ස) | - | දහම් ඇසීම අවසන් වූ කල්හි |
| විසවෙගෙන | (ස) | - | විෂ වේගයෙන් |
| විසඤ්ඤීභූතස්ස | (ස) | - | සිහි මූර්ච්ඡා වූ තැනැත්තාගේ |
| අන්තරායමකත්වා | (සං) | - | අනතුරක් නො කොට |
| එකපදම්පි | (සං) | - | එක් පදයකුදු |
| අවිනාසෙත්වා | (පූ.ක්‍රි) | - | නො හැර/නො නසා |
| අස්සොසිං | (ක්‍රි) | - | ඇසුවෙමි |
| නිබ්බිසො | (ස) | - | විෂ රහිත |
| ජීවතු | (ක්‍රි) | - | ජීවත් වේවා |
| සච්චකිරියං | (ස) | - | සත්‍ය ක්‍රියාව |

| | | | |
|---|---|---|---|
| අරොගං | (ස) | - | නීරෝගී |
| තෙනෙව | (සං) | - | එයින් ම |
| චවිත්‍වා | (පූ.ක්‍රි) | - | චුතවී |
| සග්ගෙ | (නා) | - | දෙව්ලොව |
| නිබ්බත්තා | (ක්‍රි) | - | උපන්නීය |

**අභ්‍යාස**

1. 'ජීවතු මම පුත්තො' ඡේදය සිංහලට නගන්න.

2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සා උපාසිකා කුහිං වසි?
ii. කිමත්ථාය සා රාජමහාවිහාරං අගමි?
iii. පුත්තකං ආසිවිසෙන ඩසන්තං දිස්වා උපාසිකා කිං අකාසි?
iv. කිං තස්සා සච්චකිරියං?
v. කාලකතා සා කුහිං නිබ්බත්ති?

## නාම වරනැගීම

නාමයක් ලිංග, විභක්ති, වචන අනුව වරනැගෙන ආකාරය අපි දනිමු. මෙම පාඩමේ දී ඒ ඒ විභක්තියෙන් කියැවෙන මූලික අර්ථ පිළිබඳ ව ඉගෙන ගනිමු. නාමයක් නාමපදයක් බවට පත්කිරීම සඳහා යොදාගනු ලබන විභක්ති සියල්ලට ම වෙන් වෙන් වූ කාර්යයක් ඇත. විභක්තිවල ප්‍රධාන අර්ථය සලකා ඒවා පහත ආකාරයට දැක්විය හැකි ය.

| | | |
|---|---|---|
| පඨමා විභත්ති | - | උක්තාර්ථය |
| ආලපන විභත්ති | - | ආමන්ත්‍රණාර්ථය |
| දුතියා විභත්ති | - | කර්මාර්ථය |
| තතියා විභත්ති | - | අනුක්තාර්ථය |
| කරණ විභත්ති | - | කරණාර්ථය |
| චතුත්ථී විභත්ති | - | සම්ප්‍රදානාර්ථය |
| පඤ්චමී විභත්ති | - | අපාදානාර්ථය |
| ඡට්ඨී විභත්ති | - | සම්බන්ධාර්ථය |
| සත්තමී විභත්ති | - | ආධාරාර්ථය |

- වාක්‍යයක උක්ත කර්තෘ පඨමා විභක්තියෙන් යෙදේ.
- යමෙකු ඇමතීමට ආලපන විභක්තිය යොදා ගැනේ.
- වාක්‍යයක කර්තෘගේ ක්‍රියාවට යටත්වන පදය එනම් කර්ම පදය දුතියාවෙන් යෙදෙයි.
- කර්මකාරක වාක්‍යයන්හි අනුක්ත කර්තෘ තතියාවෙන් යෙදෙයි.
- යමකින් හෝ යමක් කරණ කොට ගෙන යන අර්ථය දීම සඳහා කරණ විභත්තිය යොදා ගැනේ.
- යමක් දීමේ දී එය ලබන්නා තබන්නේ චතුත්ථී විභක්තියෙනි.
- යමකින් හෝ යමෙකුගෙන් හෝ වෙන්වීමක්, බියවීමක් කියැවෙන විට එම පද පඤ්චමී විභක්තියෙන් සිටී.
- කිසියම් අයිතියක්, සම්බන්ධයක් කියැවෙන විට එය ඡට්ඨී විභක්තියෙන් යෙදෙයි.

■ වාක්‍යවල ආධාරාර්ථය හෙවත් යමක පැවැත්මට උපකාර වන පද සත්තමී විභක්තියෙන් යෙදේ.

නාම විභක්තිවල ඉහත අර්ථ පිළිබඳ දැනුම වාක්‍ය නිර්මාණයේ දී ඉතා වැදගත් ය. එම අර්ථ ප්‍රකාශ වන පරිදි ලිංගත්‍රයට අයත් නාම කිහිපයක් වරනැගෙන ආකාරය පහත දැක්වේ.

## උකාරාන්ත පුල්ලිංග නාම වරනැගීම

එක ම අන්තයට අයත් නාම වෙනස් ව වරනැගෙන ආකාරය අකාරාන්ත නාම වරනැගීම ඇසුරෙන් දෙවන පන්තියේ දී උගත්තෙමු. මෙහි උකාරාන්ත නාමයක් පුල්ලිංගයෙහි වෙනස් ව යෙදෙන ආකාරය දක්වනු ලැබේ. **භික්ඛු, සත්ථු, පිතු** ආදි උකාරාන්ත නාම වරනැගීමේ දී ඇතැම් විභක්තිවල සමාන ව ද ඇතැම් විභක්තිවල අසමාන ව ද වරනැගේ. පහත දැක්වෙන වරනැගීම් ඇසුරින් එම වෙනස්කම් හඳුනාගන්න.

### උකාරාන්ත පුල්ලිංග 'සත්ථු' ශබ්දය වරනැගීම

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමා** | සත්ථා | සත්ථාරො |
| **ආලපන** | (භෙ) සත්ථ, සත්ථා | (භවන්තො) සත්ථාරො |
| **දුතියා** | සත්ථාරං | සත්ථාරෙ, සත්ථාරො |
| **තතියා** | සත්ථාරා | සත්ථාරෙහි, සත්ථාරෙභි |
| **කරණ** | සත්ථාරා | සත්ථාරෙහි, සත්ථාරෙභි |
| **චතුත්ථී** | සත්ථු, සත්ථුනො, සත්ථුස්ස | සත්ථාරානං, සත්ථානං, සත්ථූනං |
| **පඤ්චමී** | සත්ථාරා | සත්ථාරෙහි, සත්ථාරෙභි |
| **ඡට්ඨී** | සත්ථු, සත්ථුනො, සත්ථුස්ස | සත්ථාරානං, සත්ථානං, සත්ථූනං |
| **සත්තමී** | සත්ථරි | සත්ථාරෙසු, සත්ථුසු |

**'සත්ථු' ශබ්දයෙන් ශාස්තෘන් කියත්.**

සත්ථු ශබ්දය හා සමාන ව වරනැගෙන වෙනත් ශබ්ද කිහිපයක්:

**භත්තු** - ස්වාමියා
**සොතු** - අසන්නා
**ජෙතු** - දිනන්නා
**භෙත්තු** - පළන්නා/බිඳින්නා
**නත්තු** - මුනුබුරා
**නෙතු** - පමුණුවන්නා/නායකයා
**ඤාතු** - දන්නා
**ඡෙත්තු** - කපන්නා
**දාතු** - දෙන්නා
**කත්තු** - කරන්නා

### උකාරාන්ත පුල්ලිංග 'පිතු' ශබ්දය වරනැඟීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | පිතා | පිතරො |
| ආලපන | (හෙ) පිත, පිතා | (භවන්තො) පිතරෙ, පිතරො |
| දුතියා | පිතරං | පිතරෙ, පිතරො |
| තතියා | පිතරා, පිතුනා | පිතරෙභි, පිතරෙහි, පිතූභි, පිතූහි |
| කරණ | පිතරා, පිතුනා | පිතරෙභි, පිතරෙහි, පිතූභි, පිතූහි |
| චතුත්ථී | පිතු, පිතුනො, පිතුස්ස | පිතරානං, පිතානං, පිතූනං |
| පඤ්චමී | පිතරා | පිතරෙභි, පිතරෙහි, පිතූභි, පිතූහි |
| ඡට්ඨී | පිතු, පිතුනො, පිතුස්ස | පිතරානං, පිතානං, පිතූනං |
| සත්තමී | පිතරි | පිතරෙසු, පිතූසු |

'පිතු' ශබ්දයෙන් පියවරුන් කියත්.

### උකාරාන්ත ඉත්ථිලිංග නාම වරනැඟීම

පුල්ලිංගයෙහි මෙන් ම ඉත්ථිලිංගයෙහි ද උකාරාන්ත නාම යම් යම් වෙනස්කම් සහිත ව වරනැඟෙයි. එහි දී **යාගු, මාතු, ධීතු** ශබ්ද එකිනෙකට වෙනස්කම් සහිත ව වරනැඟෙනු දැකිය හැකි ය.

### උකාරාන්ත ඉත්ථිලිංග 'මාතු' ශබ්දය වරනැඟීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | මාතා | මාතා, මාතරො |
| ආලපන | (භොති) මාත, මාතා | (භොතී) මාතා, මාතරො |
| දුතියා | මාතරං | මාතරෙ, මාතරො |
| තතියා | මාතරා, මාතුයා | මාතරෙභි, මාතරෙහි, මාතූභි, මාතූහි |
| කරණ | මාතරා, මාතුයා | මාතරෙභි, මාතරෙහි, මාතූභි, මාතූහි |
| චතුත්ථී | මාතු, මාතුයා | මාතරානං, මාතානං, මාතූනං |
| පඤ්චමී | මාතරා, මාතුයා | මාතරෙභි, මාතරෙහි, මාතූභි, මාතූහි |
| ඡට්ඨී | මාතු, මාතුයා | මාතරානං, මාතානං, මාතූනං |
| සත්තමී | මාතරි, මාතුයා, මාතුයං | මාතරෙසු, මාතූසු, |

'මාතු' ශබ්දයෙන් මවුවරුන් කියත්.

**නපුංසකලිංග නාම වරනැගීම**

පුල්ලිංගයේ දී හා ඉත්ථිලිංගයේ දී මෙන් ම නපුංසකලිංගයේ දී ද සමාන අන්තයක් ඇති ශබ්ද වෙනස් ව වරනැගෙයි. අකාරාන්ත නපුංසකලිංග '**චිත්ත**' ශබ්දයට වෙනස් ව **මන** ශබ්දය වරනැගෙන අයුරු පහත දැක්වේ.

**අකාරාන්ත නපුංසකලිංග 'මන' ශබ්දය වරනැගීම**

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමා** | මනං, මනො (මනස) | මනා, මනානි (මනස්) |
| **ආලපන** | (හෙ) මන, මනා (එම්බල, මනස) | (භවන්තානි) මනා, මනානි (එම්බල මනස්) |
| **දුතියා** | මනං, මනො (මනස) | මනෙ, මනානි (මනස්) |
| **තතියා** | මනසා, මනෙන (මනසින්) | මනෙහි, මනෙභි (මනස්වලින්) |
| **කරණ** | මනසා, මනෙන (මනස කරණකොට ගෙන) | මනෙහි, මනෙභි (මනස් කරණකොට ගෙන) |
| **චතුත්ථී** | මනසො, මනස්ස (මනසට) | මනානං (මනස්වලට) |
| **පඤ්චමී** | මනසා, මනා, මනම්හා, මනස්මා (මනසෙන්) | මනෙහි, මනෙභි (මනස්වලින්) |
| **ඡට්ඨී** | මනසො, මනස්ස (මනසේ) | මනානං (මනස්වල) |
| **සත්තමී** | මනසි, මනෙ, මනම්හි, මනස්මිං (මනසෙහි) | මනෙසු (මනස්වල) |

**'මන' ශබ්දයෙන් මනස කියත්.**

මන ශබ්දය හා සමාන ව වරනැගෙන වෙනත් ශබ්ද කිහිපයක්:

| | | |
|---|---|---|
| **සිර** - හිස | **වය** - වය | **උර** - ළය |
| **පය** - කිරි | **තේජ** - තේජස | **යස** - කීර්තිය |
| **රජ** - දූවිලි | **තප** - තපස | **ඕජ** - ඕජාව |
| **වච** - වචනය | | |

**සැ.යු:-** මෙබඳු ශබ්දවලට '**මනොගණික ශබ්ද**' යැයි කියනු ලැබේ. මෙම පද තවත් පදයක් සමග එකතු වී (සමාස) යෙදෙන විට පද මධ්‍යයට ඔකාරාගමයක් වී භාවිත වේ. පහත නිදසුන්වලින් එය තේරුම් ගන්න.

| | | |
|---|---|---|
| සිර - රුහං > සිරොරුහං | | වය - වුද්ධා > වයොවුද්ධා |
| තෙජ - ධාතු > තෙජොධාතු | | පය - නිධි > පයොනිධි |
| රජ - හරණං > රජොහරණං | | යස - ගුණා > යසොගුණා |
| තප - ධනං > තපොධනං | | සර - රුහං > සරොරුහං |

**අභ්‍යාස**

1. පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| නාමපද | විභත්ති | වචන | අර්ථ |
|---|---|---|---|
| සත්ථාරා | | | |
| පිතුනං | | | |
| මාතරො | | | |
| මනො | | | |
| සත්ථරි | | | |
| පිතුනා | | | |
| මාතු | | | |
| මනානි | | | |
| පිතුහි | | | |
| මනසා | | | |

2. උකාරාන්ත පුල්ලිංග 'නත්තු' ශබ්දය හා අකාරාන්ත නපුංසකලිංග 'තප' ශබ්දය සියලු විභක්තිවල වරනගා එහි තේරුම ද ලියන්න.
3. 'ජීවතු මම පුත්තො' ඡේදයෙහි එන නාමපද එකතුකොට ඒවායෙහි අන්ත නම් කරන්න.

4. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. පුරිසො රුක්ඛං ඡින්දති.
ii. වනිතායො පදුමානි ආහරිංසු.
iii. මයං අනුරාධපුරං ගමිස්සාම.
iv. තුම්හෙ පුඤ්ඤානි කරොථ.
v. වඩ්ඪකී නානාවිධානි දාරුභණ්ඩානි කරොති.

5. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. පියා පුතාගේ ජීවිතය රැක්කේය.
ii. මව මනසින් මෙසේ සිතුවාය.
iii. භික්ෂුව විහාරයේ දී සත්‍යක්‍රියා කළේය.
iv. අපි ගමින් ගමට නගරයෙන් නගරයට යමු.
v. මන්ත්‍රීවරයා ළමයින්ට පොත් දුන්නේය.

# චතුත්ථො පාඨො

# අස්සමො

අයං පන තාපසානං අස්සමො. අයං පණ්ණසාලා. අස්මිං අස්සමෙ ජනා සබ්බෙ පසවො ච සකුණා ච සන්තුට්ඨා නිවසන්ති. බහවො රුක්ඛා ඉමස්මිං සන්ති. රුක්ඛා පන සාඛාහි විටපෙහි ච සජ්ජිතා. තහිං නිසින්නා පක්ඛිනො නිරන්තරං මධුරං කූජන්ති. රුක්ඛානං පණ්ණානි හරිතානි. පුප්ඵානි ඵලානි ච තරූනං විභූසනානි භවන්ති. අයං ගඞ්ගා පන අස්සමස්ස පුරතො සන්දති. පච්ඡිමාය දිසාය මහාපබ්බතො. ගඞ්ගා පන තතො සමුබ්භූතා. තස්මිං ජලං නිම්මලං මධුරඤ්ච. ජලජීවිනො අනෙකමච්ඡාදයො අස්සං ජීවන්ති. කමලානි තං අලඞ්කරොන්ති. තාපසානං දාරකා පච්චූසෙ නිද්දං විහාය උත්තිට්ඨන්ති. මුඛපක්ඛාලනාදිං කත්තුං ගඞ්ගඤ්ච ගච්ඡන්ති. තෙ තත්ථ නහාත්වා පණ්ණසාලං ආගච්ඡන්ති. අයං දාරකො පන ගඞ්ගාය තටෙ උපවිසති. සො ආකාසං ඔලොකෙත්වා සූරියං වන්දති. යං කිඤ්චි වදමානො අධොමුඛො ථොකං නිසීදති. අනන්තරං ස දාරකො පණ්ණසාලං ගච්ඡති.

(පාලිපාඨාවලී)

පද මාලාව

| | | | |
|---|---|---|---|
| පසවො | (නා) | - | සිවුපාවෝ |
| සකුණා | (නා) | - | කුරුල්ලෝ |
| නිවසන්ති | (ක්‍රි) | - | වසති |
| සාඛාහි | (නා) | - | අතුවලින් |
| විටපෙහි | (නා) | - | රිකිලිවලින් |
| සජ්ජිතා | (කි) | - | සරසන ලද්දාහු |
| කූජන්ති | (ක්‍රි) | - | නාද කරත් |
| පණ්ණානි | (නා) | - | කොළ |
| හරිතානි | (නා) | - | කොළ පැහැති |
| තරූනං | (නා) | - | ගස්වල |
| විභූසනානි | (නා) | - | ආභරණ/සැරසිලි |
| සන්දති | (ක්‍රි) | - | ගලයි |
| පච්ඡිමාය දිසාය | (නා) | - | බටහිර දිශාවෙහි |
| සමුබ්භූතා | (කි) | - | හටගත්තාහු |
| ජලජීවිනො | (ස) | - | ජලචර ජීවීහු |
| කමලානි | (නා) | - | පියුම් |
| පච්චූසෙ | (නා) | - | අලුයම |
| මුඛපක්ඛාලනාදිං | (නා) | - | මුව දෙවීම් ආදිය |
| ධෙනුයො | (නා) | - | දෙනුන් |
| පොතකා | (නා) | - | පැටව් |

| | | | |
|---|---|---|---|
| තටෙ | (නා) | - | ඉවුරේ |
| උපවිසති | (ක්‍රි) | - | හිඳියි |
| ඕලොකෙත්වා | (පූ.ක්‍රි) | - | බලා |
| අධොමුඛො | (නා) | - | යටට හෙළූ මුව ඇති ව |

**අභ්‍යාස**

1. 'අස්සමො' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කෙ අස්මිං අස්සමෙ සන්තුට්ඨා නිවසන්ති?
ii. කානි පන තරූනං විහඟනානි භවන්ති?
iii. ධෙනුයො දිවාභාගෙ කුහිං විචරන්ති?
iv. තස්ස ගඞ්ගා කුතො සමුබ්භූතා?
v. අනන්තරං ස දාරකො කුහිං ගච්ඡති?

## සර්වනාම

විවිධ අර්ථයන්ට නැමෙන නිසාත් වෙනස්වන නිසාත් **'නාම'** නම් වූ පද විශේෂය භාෂාවේ යෙදෙන ආකාරය අනුව විවිධ නම් ලබමින් හැසිරෙන අයුරු දැකගත හැකි ය. **'සර්වනාම'** ද ඒ අතරින් එකකි. වාක්‍යයක නාමයක් වෙනුවට යොදනු ලබන නාම විශේෂයක් ලෙස සර්වනාම හැඳින්වේ. අනෙකුත් නාම එක් ලිංගයක හෝ දෙකක පමණක් වරනැගුන ද ලිංග තුනෙහි ම වරනැගීම සර්වනාමවල විශේෂත්වය යි. නාමයක් වෙනුවට ලිංගත්‍රයෙහි ම සර්වනාම යෙදෙන ආකාරය මෙසේ ය.

**පුල්ලිංග** :- බාලකො අජ්ජ පාඨාලයං ගච්ඡති.
**සො** සුවෙ න ගච්ඡිස්සති.

මෙහි පළමු වාක්‍යයෙහි **'බාලකො'** යන නාමපදය වෙනුවට දෙවැන්නෙහි **'සො'** යන සර්වනාම පදය යෙදී ඇත. 'බාලකො' සහ 'සො' යන පද දෙක ම පුල්ලිංග ඒකවචන පද වේ.

**ඉත්ථිලිංග** :- මාතා අජ්ජ ඛෙත්තං ගච්ඡති.
**සා** සුවෙ න ගච්ඡිස්සති.

මෙහි ද මුල් වාක්‍යයෙහි යෙදුණු මෙන් **'මාතා'** යන්න වෙනුවට දෙවැන්නෙහි **'සා'** යනුවෙන් සර්වනාමයක් යොදා ඇත. මුලින් යෙදූ නාමයට සමාන ලිංග හා වචන අනුව යෙදී ඇති 'සා' යන්න ස්ත්‍රීලිංගික ඒකවචන සර්වනාමයකි.

**නපුංසකලිංග :- පුප්ඵං** අජ්ජ විකසති.
**තං** සුවෙ මිලායති.

මෙහි '**පුප්ඵං**' යන නපුංසකලිංග ඒකවචන නාමපදය වෙනුවට දෙවැනි වැකියේ දී '**තං**' යන නපුංසකලිංග ඒකවචන සර්වනාමය යෙදී ඇත.

ඉහත ආකාරයට නාම වෙනුවට ලිංග තුනේ දී ම සර්වනාම යෙදෙන ආකාරය පැහැදිලි කරගත හැකි ය. මෙසේ විවිධ ව යෙදෙන සර්වනාම වාක්‍ය රචනයට අතිශය ප්‍රයෝජනවත් ය. නාම විශේෂණ වශයෙන් ද යොදාගත හැකි මේවා මගින් වාක්‍ය පෝෂණය කළ හැකි ය.

පාලියෙහි නිතර යෙදෙන සර්වනාම කිහිපයක් මෙසේ ය.

| | | | |
|---|---|---|---|
| **සබ්බ** | - සියලු | **කතර** | - කවර |
| **අඤ්ඤ** | - අනෙක් | **ඉම** | - මේ |
| **අපර** | - අන්‍ය | **අඤ්ඤතර** | - එක්තරා |

ඉහත සඳහන් කරන ලද පරිදි අනෙකුත් නාම මෙන් ම සර්වනාම ද සියලු විභක්තිවල වරනැගේ. සර්වනාම අතර '**අම්හ - තුම්හ**' ශබ්ද විශේෂ වේ. අනෙකුත් සර්වනාම ලිංග තුනෙහි ම වරනැගුන ද මෙම නාම දෙක එසේ වෙන් වෙන් ව වරනැගෙන්නේ නැත. මේවා ලිංග තුනෙහි ම සමාන ව යෙදේ.

**අකාරාන්ත සර්වනාම 'අම්හ' (මම) ශබ්දය වරනැගීම**

| විභත්ති | ඒකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමා** | අහං (මම) | මයං, අම්හෙ, නො (අපි) |
| **දුතියා** | මං, මමං (මම) | අම්හාකං, අම්හෙ, නො (අපි) |
| **තතියා** | මයා, මෙ (මා විසින්) | අම්හෙභි, අම්හෙහි (අප විසින්) |
| **කරණ** | මයා, මෙ (මා කරණකොට ගෙන) | අම්හෙභි, අම්හෙහි (අප කරණකොට ගෙන) |
| **චතුත්ථී** | මම, මය්හං, මමං, මෙ (මට) | අම්හං, අම්හාකං, නො (අපට) |
| **පඤ්චමී** | මයා, මෙ (මගෙන්) | අම්හෙභි, අම්හෙහි (අපගෙන්) |
| **ඡට්ඨී** | මම, මය්හං, මමං, මෙ (මගේ) | අම්හං, අම්හාකං, නො (අපගේ) |
| **සත්තමී** | මයි (මා කෙරෙහි) | අම්හෙසු (අප කෙරෙහි) |

අකාරාන්ත සර්වනාම 'තුම්හ' (තෝ/ඔබ) ශබ්දය වරනැගීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | ත්වං, තුවං (ඔබ) | තුම්හෙ, වො (ඔබලා) |
| දුතියා | තං, තවං, ත්වං, තුවං (ඔබ) | තුම්හාකං, තුම්හෙ, වො (ඔබලා) |
| තතියා | ත්වයා, තයා, තෙ (ඔබ විසින්) | තුම්හෙහි, තුම්හෙභි (ඔබලා විසින්) |
| කරණ | ත්වයා, තයා, තෙ (ඔබ කරණකොට ගෙන) | තුම්හෙහි, තුම්හෙභි (ඔබලා කරණකොට ගෙන) |
| චතුත්ථී | තව, තුය්හං (ඔබට) | තුම්හං, තුම්හාකං, තුම්හෙ, වො (ඔබලාට) |
| පඤ්චමී | ත්වයා, තයා (ඔබගෙන්) | තුම්හෙහි, තුම්හෙභි (ඔබලාගෙන්) |
| ඡට්ඨී | තව, තුය්හං (ඔබගේ) | තුම්හං, තුම්හාකං, තුම්හෙ, වො (ඔබලාගේ) |
| සත්තමී | ත්වයි, තයි (ඔබ කෙරෙහි) | තුම්හෙසු (ඔබලා කෙරෙහි) |

ත, එත, ඉම ආදි අනෙකුත් සර්වනාම ලිංග තුනෙහි ම වරනැගේ. එහි දී පුල්ලිංග හා නපුංසකලිංග වරනැගීම්වල බොහෝ විට සමාන ව වරනැගෙන ආකාරය දක්නට ලැබේ.

සර්වනාම 'ත' ශබ්දය පුල්ලිංගයෙහි වරනැගීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | සො | තෙ |
| දුතියා | තං | තෙ |
| තතියා | තෙන | තෙහි, තෙභි |
| කරණ | තෙන | තෙහි, තෙභි |
| චතුත්ථී | තස්ස | තෙසං, තෙසානං |
| පඤ්චමී | තම්හා, තස්මා | තෙහි, තෙභි |
| ඡට්ඨී | තස්ස | තෙසං, තෙසානං |
| සත්තමී | තම්හි, තස්මිං | තෙසු |

සර්වනාම 'ත' ශබ්දය ඉත්ථිලිංගයෙහි වරනැඟීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | සා | තා, තායො |
| දුතියා | තං | තා, තායො |
| තතියා | තාය | තාහි, තාභි |
| කරණ | තාය | තාහි, තාභි |
| චතුත්ථී | තස්සා, තාය | තාසං, තාසානං |
| පඤ්චමී | තාය | තාහි, තාභි |
| ඡට්ඨී | තස්සා, තාය | තාසං, තාසානං |
| සත්තමී | තස්සං, තායං | තාසු, තාසු |

නපුංසකලිංගයෙහි 'ත' ශබ්දය පුල්ලිංගයෙන් වෙනස් වන්නේ **පඨමා, දුතියා** විභක්තිවල පමණි. ඉතිරි විභක්තිවල රූප පුල්ලිංගයට සමාන ය.

| | | |
|---|---|---|
| පඨමා | තං, නං | තෙ, තානි, නෙ, නානි |
| දුතියා | තං, නං | තෙ, තානි, නෙ, නානි |

සර්වනාම 'එත' ශබ්දය පුල්ලිංගයෙහි වරනැඟීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | එසො | එතෙ |
| දුතියා | එතං | එතෙ |
| තතියා | එතෙන | එතෙහි, එතෙභි |
| කරණ | එතෙන | එතෙහි, එතෙභි |
| චතුත්ථී | එතස්ස | එතෙසං, එතෙසානං |
| පඤ්චමී | එතම්හා, එතස්මා | එතෙහි, එතෙභි |
| ඡට්ඨී | එතස්ස | එතෙසං, එතෙසානං |
| සත්තමී | එතම්හි, එතස්මිං | එතෙසු |

සර්වනාම 'එත' ශබ්දය ඉත්ථිලිංගයෙහි වරනැගීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | එසා | එතා, එතායො |
| දුතියා | එතං | එතා, එතායො |
| තතියා | එතාය | එතාහි, එතාභි |
| කරණ | එතාය | එතාහි, එතාභි |
| චතුත්ථී | එතිස්සාය, එතිස්සා, එතාය | එතාසං, එතාසානං |
| පඤ්චමී | එතාය | එතාහි, එතාභි |
| ඡට්ඨී | එතිස්සාය, එතිස්සා, එතාය | එතාසං, එතාසානං |
| සත්තමී | එතස්සං, එතිස්සං, එතායං, එතාය | එතාසු |

සර්වනාම 'එත' ශබ්දය නපුංසකලිංගයෙහි වරනැගීම

| | | |
|---|---|---|
| පඨමා | එතං | එතෙ, එතානි |
| දුතියා | එතං | එතෙ, එතානි |

(ඉතිරි විභක්ති රූප පුල්ලිංගයට සමානය)

සර්වනාම 'ඉම' ශබ්දය පුල්ලිංගයෙහි වරනැගීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | අයං | ඉමෙ |
| දුතියා | ඉමං | ඉමෙ |
| තතියා | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| කරණ | අනෙන, ඉමිනා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| චතුත්ථී | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| පඤ්චමී | අම්හා, අස්මා, ඉමම්හා, ඉමස්මා | එහි, එභි, ඉමෙහි, ඉමෙභි |
| ඡට්ඨී | අස්ස, ඉමස්ස | එසං, එසානං, ඉමෙසං, ඉමෙසානං |
| සත්තමී | අම්හි, අස්මිං, ඉමම්හි, ඉමස්මිං | එසු, ඉමෙසු |

### සර්වනාම 'ඉම' ශබ්දය ඉත්ථිලිංගයෙහි වරනැගීම

| විභත්ති | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමා | අයං | ඉමා, ඉමායො |
| දුතියා | ඉමං | ඉමා, ඉමායො |
| තතියා | ඉමාය | ඉමාහි, ඉමාභි |
| කරණ | ඉමාය | ඉමාහි, ඉමාභි |
| චතුත්ථී | අස්සාය, අස්සා, ඉමිස්සාය, ඉමිස්සා, ඉමාය | ඉමාසං, ඉමාසානං |
| පඤ්චමී | ඉමාය | ඉමාහි, ඉමාභි |
| ඡට්ඨී | අස්සාය, අස්සා, ඉමිස්සාය, ඉමිස්සා, ඉමාය | ඉමාසං, ඉමාසානං |
| සත්තමී | අස්සං, ඉමිස්සං, ඉමායං | ඉමාසු |

### සර්වනාම 'ඉම' ශබ්දය නපුංසකලිංගයෙහි වරනැගීම

| | | |
|---|---|---|
| පඨමා | ඉදං, ඉමං | ඉමෙ, ඉමානි |
| දුතියා | ඉදං, ඉමං | ඉමෙ, ඉමානි |

(ඉතිරි විභක්ති රූප පුල්ලිංගයට සමානය)

**අභ්‍යාස**

1. පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| සර්වනාමය | විභත්තිය | වචනය | අර්ථය |
|---|---|---|---|
| මයි | | | |
| එතෙසං | | | |
| තාය | | | |
| තවං | | | |
| තායො | | | |
| තානි | | | |
| මයං | | | |
| තස්සා | | | |
| තුය්හං | | | |
| එතම්හා | | | |

2. 'අස්සමො' ඡේදයෙහි සඳහන් සියලු සර්වනාමපද උපුටා දක්වන්න.

3. පහත සඳහන් පදවල සිංහල තේරුම ලියා දක්වන්න.

| | | | | |
|---|---|---|---|---|
| අනෙන | තෙ | තාය | ඉමිනා | එතිස්සාය |
| එතෙන | ඉමායො | අයං | තිස්සං | තාසු |
| එතිස්සං | තස්මිං | ඉමා | තෙසු | තාසානං |
| එතෙ | ඉදං | ඉමානි | අම්හා | තෙහි |

4. සුදුසු සර්වනාම පද යොදා වාක්‍ය සම්පූර්ණ කර සිංහලට නගන්න.

i. ..................... ගාමං ගච්ඡාමි.
ii. ..................... ආහාරං භුඤ්ජන්ති.
iii. ..................... භූමිං ඛණන්ති.
iv. ..................... ඉධ ආගච්ඡසි.
v. ..................... පාඨං පඨාම.
vi. ..................... පුප්ඵං මිලායති.
vii. ..................... උදකං පිබථ.
viii. ..................... පාඨාලයං ධාවසි.
ix. ..................... ධම්මං දෙසෙන්ති.
x. ..................... මඤ්චම්හි සයථ.

5. පාලියට නගන්න.

i. සොරු මිනිසුන්ගේ අශ්වයන් සොරකම් කළහ.
ii. ගොපල්ලා ගොනුන් විකුණයි.
iii. මගේ බල්ලා මා සමග ගමට යයි.
iv. අපි අපේ ආහාර මෙහෙකරුවන්ට දුන්නෙමු.
v. හෙතෙම මේ ධනය දී සැප ලබන්නේය.

6. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. අම්හාකං පිතරො තුම්හෙහි සද්ධිං තෙන ගගනයානෙන ජම්බුදීපං ගන්තුං ඉච්ඡන්ති.
ii. ත්වං තෙන මග්ගෙන ගන්ත්වා තස්ස සෙවකස්ස තානි භණ්ඩානි දත්වා තස්මිං යෙව ඨානෙ තිට්ඨ.
iii. තායො කඤ්ඤායො තස්ස රුක්ඛස්ස ඉමානි ඵලානි ඛාදන්ති.
iv. සො එකිස්සා පොත්ථකං ගහෙත්වා පීඨස්ස හෙට්ඨා නිගූහි (සැඟවීය).
v. මයං ඉමං දානං ඉමිස්සං සාලායං නිසින්නස්ස භික්ඛුසඞ්ඝස්ස දෙම.

# පඤ්චමො පාඨො

# මහානිදාඝො

ජම්බුදීපස්මිං කිර පුබ්බෙ මහානිදාඝො අහොසි. තදා නිදාඝසූරියෙන සකිරණකරා වාපිපොක්ඛරණීනදීගිරිකන්දරනිජ්ඣරාදීසු උදකං නිස්සෙසං කත්වා පීතමිව උදකෙ පරික්ඛීණෙ මච්ඡකච්ඡපාදයො යෙභුය්‍යෙන විනාසං පත්තා. අථ මහාරඤ්ඤභූමියං රුක්ඛතිණලතාදයො අතීව මිලාතා අහෙසුං. මිගපක්ඛිනො'පි සම්මාහිතත්තා පිපාසිතා මරීචිං තොයන්ති මඤ්ඤමානා ඉතොචිතො ච ධාවන්තා මහාදුක්ඛප්පත්තා අහෙසුං.

**(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **පුබ්බෙ** | **(ස.නා)** | - | පෙර |
| **මහානිදාඝො** | **(ස)** | - | මහ නියගයක් |
| **නිදාඝසූරියෙන** | **(ස)** | - | ග්‍රීෂ්ම සූර්යයා කරණ කොට |
| **සකිරණකරා** | **(ස)** | - | තම රශ්මියෙන් |
| **පොක්ඛරණී** | **(නා)** | - | පොකුණ |
| **ගිරිකන්දර** | **(ස)** | - | ගිරිකඳුරු |
| **නිජ්ඣර** | **(නා)** | - | දිය ඇලි |
| **නිස්සෙසං කත්වා** | **(පූ.ක්‍රි)** | - | ඉතිරි නො කොට |
| **පීතමිව** | **(සං)** | - | පානය කළා සේ |
| **පරික්ඛීණෙ** | **(ක්‍රි)** | - | ක්ෂය වූ කල්හි |
| **මච්ඡ** | **(නා)** | - | මත්ස්‍ය |
| **කච්ඡප** | **(නා)** | - | කැසුබු/ඉදිබු |
| **යෙභුය්‍යෙන** | **(නි)** | - | බොහෝ සෙයින් |
| **පත්තා** | **(ක්‍රි)** | - | පැමිණියාහු |
| **සම්මාහිතත්තා** | **(ක්‍රි)** | - | ග්‍රීෂ්මයෙන් තැවුණෝ |
| **මරීචිං** | **(නා)** | - | මිරිඟුව |

| | | | |
|---|---|---|---|
| **තොයනති** | **(සං)** | - | ජලය යැයි |
| **මඤ්ඤමානා** | **(කි)** | - | සිතන්නාහු |
| **ඉතොචිතො** | **(නි)** | - | එහෙමෙහෙ/ ඔබිනොබ |
| **දුක්ඛප්පත්තා** | **(සං)** | - | දුකට පැමිණියාහු |
| **අහෙසුං** | **(ක්‍රි)** | - | වූහ |

**අභ්‍යාස**

1. 'මහානිදාඝො' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත දැක්වෙන ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. පුබ්බෙ ජම්බුදීපෙ කිං අහොසි?
ii. නිදාඝසුරියෙන කෙසු ජලං පීතං?
iii. උදකෙ පරික්ඛීණෙ කෙ විනාසං පත්තා අහවිංසු?
iv. සම්මාහිතත්තා කෙ මරීචිං තොයනති විනෙතසුං?
v. කෙ මිලාතා අහෙසුං?
vi. කිං ත්‍වං මරීචිං දිට්ඨපුබ්බො?
vii. කෙ මහාදුක්ඛප්පත්තා අහෙසුං?
viii. කෙසු ජලං පරික්ඛීණං?
ix. සුරියෙන කෙහි ජලං පීතං?
x. කෙ ඉතොචිතො ධාවිංසු?

## ආඛ්‍යාත විභක්ති I

පාලි භාෂාවේ ආඛ්‍යාත විභක්ති අටකි. **වත්තමානා, පඤ්චමී, සත්තමී, පරොක්ඛා, හීයත්තනී, අජ්ජතනී, භවිස්සන්ති, කාලාතිපත්ති** යනු ඒ ආඛ්‍යාත විභක්තීන් ය. ඔබ පසුගිය වසරවල **වත්තමානා, භවිස්සන්ති, අජ්ජතනී** හා **පඤ්චමී** යන ආඛ්‍යාත උගෙන ඇත. එහි දී ආඛ්‍යාත පදයක කාල භේදය, පුරුෂ භේදය, වචන භේදය, ආඛ්‍යාත විභක්තීන්හි අර්ථ හා ආඛ්‍යාත පදවල අර්ථ ද පැහැදිලි කර ගන්නට ඇතැයි සිතමු. මෙම පාඩමේ දී ඔබ උගත් කාලත්‍රයට අයත් ක්‍රියා වරනැගීම පිළිබඳ නැවත සිහිපත් කෙරේ.

**වත්තමානා ආඛ්‍යාතය**

ආරම්භ වී නිම නො වුණු කාලය වර්තමාන කාලය යි. **(වත්තමානා පච්චුප්පන්නෙ) ති, අන්ති, සි, ථ, මි, ම** යන ප්‍රත්‍යය වත්තමානා පරස්සපදයේ ද **තෙ, අන්තෙ, සෙ, ව්හෙ, එ, ම්හෙ** යන ප්‍රත්‍යය වත්තමානා අත්තනොපදයේ ද යෙදේ. **√පච** ධාතුව වර්තමානකාල ප්‍රත්‍යයන් සමග යෙදී වරනැගෙන අන්දම බලන්න.

### වත්තමානා පරස්සපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | සො | ති | පචති | තෙ | අන්ති | පචන්ති |
| මජ්ඣිමපුරිස | ත්වං | සි | පචසි | තුම්හෙ | ථ | පචථ |
| උත්තමපුරිස | අහං | මි | පචාමි | මයං | ම | පචාම |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | පිසයි | පිසති/පිසත් |
| මජ්ඣිමපුරිස | පිසහි | පිසහු |
| උත්තමපුරිස | පිසමි | පිසමු |

### වත්තමානා අත්තනොපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | සො | තෙ | පචතෙ | තෙ | අන්තෙ | පචන්තෙ |
| මජ්ඣිමපුරිස | ත්වං | සෙ | පචසෙ | තුම්හෙ | ව්හෙ | පචව්හෙ |
| උත්තමපුරිස | අහං | ඒ | පචෙ | මයං | ම්හෙ | පචාම්හෙ |

පහත දැක්වෙන වගු හොඳින් අධ්‍යයනය කරන්න.

### වත්තමානා පරස්සපද

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| තිට්ඨති | තිට්ඨන්ති | තිට්ඨසි | තිට්ඨථ | තිට්ඨාමි | තිට්ඨාම |
| සයති | සයන්ති | සයසි | සයථ | සයාමි | සයාම |
| ඛාදති | ඛාදන්ති | ඛාදසි | ඛාදථ | ඛාදාමි | ඛාදාම |
| චරති | චරන්ති | චරසි | චරථ | චරාමි | චරාම |

**වත්තමානා අත්තනොපද**

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| තිට්ඨතෙ | තිට්ඨන්තෙ | තිට්ඨසෙ | තිට්ඨවෙහ | තිට්ඨෙ | තිට්ඨාමෙහ |
| සයතෙ | සයන්තෙ | සයසෙ | සයවෙහ | සයෙ | සයාමෙහ |
| ඛාදතෙ | ඛාදන්තෙ | ඛාදසෙ | ඛාදවෙහ | ඛාදෙ | ඛාදාමෙහ |
| චරතෙ | චරන්තෙ | චරසෙ | චරවෙහ | චරෙ | චරාමෙහ |

**භවිස්සන්ති ආඛ්‍යාතය**

අනාගත කාල ක්‍රියා සිද්ධියක් භවිස්සන්ති ආඛ්‍යාතයෙන් පැවසේ. **(අනාගතෙ භවිස්සන්ති) ස්සති, ස්සන්ති, ස්සසි, ස්සථ, ස්සාමි, ස්සාම** යන ප්‍රත්‍යය පරස්සපදයේත් **ස්සතෙ, ස්සන්තෙ, ස්සසෙ, ස්සවෙහ, ස්සං, ස්සාමෙහ** යන ප්‍රත්‍යය අත්තනො පදයේත් යෙදේ. වත්තමානා ආඛ්‍යාත ප්‍රත්‍යයවලට '**ස්ස**' ප්‍රත්‍යය එකතු කළ විට භවිස්සන්ති ආඛ්‍යාත ප්‍රත්‍යය සාදාගත හැකි ය.

| වත්තමානා | | භවිස්සන්ති | |
|---|---|---|---|
| පච + ති | = පචති | පච + ස්ස + ති | = පචිස්සති |
| පච + න්ති | = පචන්ති | පච + ස්ස + අන්ති | = පචිස්සන්ති |
| පච + සි | = පචසි | පච + ස්ස + සි | = පචිස්සසි |
| පච + ථ | = පචථ | පච + ස්ස + ථ | = පචිස්සථ |

**භවිස්සන්ති පරස්සපද**

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | සො | ස්සති | පචිස්සති | තෙ | ස්සන්ති | පචිස්සන්ති |
| මජ්ඣිමපුරිස | ත්වං | ස්සසි | පචිස්සසි | තුම්හෙ | ස්සථ | පචිස්සථ |
| උත්තමපුරිස | අහං | ස්සාමි | පචිස්සාමි | මයං | ස්සාම | පචිස්සාම |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | පිසන්නේය | පිසන්නෝය/පිසන්නාහ/ පිසන්නාහුය |
| මජ්ඣිමපුරිස | පිසන්නෙහි | පිසන්නෙහු |
| උත්තමපුරිස | පිසන්නෙමි | පිසන්නෙමු |

### භවිස්සන්ති අත්තනොපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| පඨමපුරිස | සො | ස්සතෙ | පචිස්සතෙ | තෙ | ස්සන්තෙ | පචිස්සන්තෙ |
| මජ්ඣිමපුරිස | ත්වං | ස්සසෙ | පචිස්සසෙ | තුම්හෙ | ස්සව්හෙ | පචිස්සව්හෙ |
| උත්තමපුරිස | අහං | ස්සං | පචිස්සං | මයං | ස්සාම්හෙ | පචිස්සාම්හෙ |

පහත වගු හොඳින් අධ්‍යයනය කරන්න.

### භවිස්සන්ති පරස්සපද

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| පස්සිස්සති | පස්සිස්සන්ති | පස්සිස්සසි | පස්සිස්සථ | පස්සිස්සාමි | පස්සිස්සාම |
| යාචිස්සති | යාචිස්සන්ති | යාචිස්සසි | යාචිස්සථ | යාචිස්සාමි | යාචිස්සාම |
| භණිස්සති | භණිස්සන්ති | භණිස්සසි | භණිස්සථ | භණිස්සාමි | භණිස්සාම |
| ලිඛිස්සති | ලිඛිස්සන්ති | ලිඛිස්සසි | ලිඛිස්සථ | ලිඛිස්සාමි | ලිඛිස්සාම |

### භවිස්සන්ති අත්තනොපද

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන | ඒකවචන | බහුවචන |
| පස්සිස්සතෙ | පස්සිස්සන්තෙ | පස්සිස්සසෙ | පස්සිස්සව්හෙ | පස්සිස්සං | පස්සිස්සාම්හෙ |
| යාචිස්සතෙ | යාචිස්සන්තෙ | යාචිස්සසෙ | යාචිස්සව්හෙ | යාචිස්සං | යාචිස්සාම්හෙ |
| භණිස්සතෙ | භණිස්සන්තෙ | භණිස්සසෙ | භණිස්සව්හෙ | භණිස්සං | භණිස්සාම්හෙ |
| ලිඛිස්සතෙ | ලිඛිස්සන්තෙ | ලිඛිස්සසෙ | ලිඛිස්සව්හෙ | ලිඛිස්සං | ලිඛිස්සාම්හෙ |

### අජ්ජතනී ආඛ්‍යාතය

අද පටන් ආසන්න අතීතකාල ක්‍රියා සිද්ධියක් **අජ්ජතනී** ආඛ්‍යාත විභක්තියෙන් පැවසේ. **(සමීපෙජ්ජතනී, අජ්ජප්පභුති සමීපෙ අතීතෙ කාලෙ අජ්ජතනී හොති)** අජ්ජතනී ආඛ්‍යාතයේ අකාරාගමය වූ රූප කොටසක් ද අකාරාගමය නො වූ රූප කොටසක් ද දැකිය හැකි ය. **ඊ, උං, ඔ, ත්‍ථ, ඉං, ම්හා** යන ප්‍රත්‍යය පරස්සපදයේත් **ආ, ඌ, සෙ, ව්හං, අ, මෙහ** යන ප්‍රත්‍යය අත්තනොපදයේත් යෙදේ.

**අජ්ජතනී පරස්සපද**

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| **පඨමපුරිස** | සො | ඊ (ඉ) | අපචි, පචි<br>අපචී, පචී | තෙ | උං (ඉංසු) | අපචුං, පචුං<br>අපචිංසු,<br>පචිංසු |
| **මජ්ඣිමපුරිස** | ත්වං | ඔ | අපචො<br>පචො | තුමෙහ | ත්‍ථ | අපචිත්‍ථ,<br>පචිත්‍ථ |
| **උත්තමපුරිස** | අහං | ඉං | අපචිං<br>පචිං | මයං | ම්හ (ම්හා) | අපචිම්හ,<br>පචිම්හ<br>අපචිම්හා,<br>පචිම්හා |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමපුරිස** | පිසුවේය | පිසුවෝය/ පිසූහ |
| **මජ්ඣිමපුරිස** | පිසුවෙහි | පිසුවෙහු |
| **උත්තමපුරිස** | පිසුවෙමි | පිසුවෙමු |

**අජ්ජතනී අත්තනොපද**

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | පදය | සර්වනාම | ප්‍රත්‍යය | පදය |
| **පඨමපුරිස** | සො | ආ | අපචා, පචා | තෙ | ඌ | අපචූ, පචූ |
| **මජ්ඣිමපුරිස** | ත්වං | සෙ | අපචිසෙ,<br>පචිසෙ | තුමෙහ | ව්හං | අපචිව්හං,<br>පචිව්හං |
| **උත්තමපුරිස** | අහං | අ | අපච, පච | මයං | මෙහ | අපචිමෙහ,<br>පචිමෙහ |

පහත දැක්වෙන වගු අධ්‍යයනය කරන්න.

**අජ්ජතනී පරස්සපද**

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| **එකවචන** | **බහුවචන** | **එකවචන** | **බහුවචන** | **එකවචන** | **බහුවචන** |
| අදදි, දදි<br>අදදී, දදී | අදදුං, දදුං<br>අදදිංසු,<br>දදිංසු | අදදො,<br>දදො | අදදිත්ථ,<br>දදිත්ථ | අදදිං, දදිං | අදදිම්හ, දදිම්හ<br>අදදිම්හා,<br>දදිම්හා |
| අකිණ්ණි, කිණ්ණි<br>අකිණ්ණී, කිණ්ණී, | අකිණ්ණුං,<br>කිණ්ණුං<br>අකිණ්ණිංසු,<br>කිණ්ණිංසු | අකිණ්ණො,<br>කිණ්ණො | අකිණ්ණිත්ථ,<br>කිණ්ණිත්ථ | අකිණ්ණිං,<br>කිණ්ණිං | අකිණ්ණිම්හ,<br>කිණ්ණිම්හ<br>අකිණ්ණිම්හා,<br>කිණ්ණිම්හා |
| අභවි, භවි<br>අභවී, භවී | අභවුං, භවුං<br>අභවිංසු,<br>භවිංසු | අභවො,<br>භවො | අභවිත්ථ<br>භවිත්ථ | අභවිං, භවිං | අභවිම්හ,<br>භවිම්හ<br>අභවිම්හා,<br>භවිම්හා |

**අජ්ජතනී අත්තනොපද**

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| **එකවචන** | **බහුවචන** | **එකවචන** | **බහුවචන** | **එකවචන** | **බහුවචන** |
| අදදා, දදා | අදදූ, දදූ | අදදිසෙ,<br>දදිසෙ | අදදිව්හං,<br>දදිව්හං | අදද, දද | අදදිම්හෙ,<br>දදිම්හෙ |
| අකිණ්ණා,<br>කිණ්ණා | අකිණ්ණූ, කිණ්ණූ | අකිණ්ණිසෙ,<br>කිණ්ණිසෙ | අකිණ්ණිව්හං,<br>කිණ්ණිව්හං | අකිණ්ණ,<br>කිණ්ණ | අකිණ්ණිම්හෙ,<br>කිණ්ණිම්හෙ |
| අභවා, භවා | අභවූ, භවූ | අභවිසෙ,<br>භවිසෙ | අභවිව්හං,<br>භවිව්හං | අභව, භව | අභවිම්හෙ,<br>භවිම්හෙ |

- අජ්ජතනී ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යය චුරාදි ගණයට අයත් ධාතු සමග යෙදෙන විට ඉහත දක්වන ලද ක්‍රමයට වඩා වෙනස් ලෙස වරනැගේ.

| පුරුෂය | එකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | චොරෙසි, චොරයී | චොරෙසුං, චොරයිංසු |
| මජ්ඣිමපුරිස | චොරයො | චොරයිත්ථ |
| උත්තමපුරිස | චොරයිං | චොරයිම්හා |

ඉහත ක්‍රමයට සමාන ව වරනැගෙන තවත් ක්‍රියාපද කීපයක්:-

**ආනෙසි** - ගෙනාවේය
**ජාලෙසි** - දල්වීය
**චින්තෙසි** - සිතුවේය
**නෙසි** - ගෙනාවේය/පැමිණවීය
**දෙසෙසි** - දේශනා කළේය

**පූජෙසි** - පිදුවේය
**ඨපෙසි** - තැබුවේය
**කථෙසි** - කීවේය
**මාරෙසි** - මැරුවේය
**පීළෙසි** - පෙළුවේය

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ආඛ්‍යාත විභක්ති අට නම් කරන්න.
ii. වත්තමානා, භවිස්සන්ති, අජ්ජතනී යන ආඛ්‍යාතයන්ට අදාළ බාලාවතාර සූත්‍ර පාඨ ලියා දක්වන්න.
iii. වත්තමානා, භවිස්සන්ති, අජ්ජතනී යන ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යය වෙන වෙන ම වගුගත කර දක්වන්න.
iv. √ගමු = (ගමණ) ධාතුව කාලත්‍රයේ උභයපදයේ වරනගා එහි තේරුම ද ලියා දක්වන්න.

2. පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| ආඛ්‍යාත පදය | ආඛ්‍යාත විභක්තිය | පුරුෂය | වචනය |
|---|---|---|---|
| පතිංසු | | | |
| ආහිණ්ඩන්ති | | | |
| ජීන්දිස්සන්ති | | | |
| ගමිස්සාමි | | | |
| ආරුහිං | | | |

3. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. අම්හාකං පිතරො මධුං ආහරිත්වා දධිනා සහ භුඤ්ජිංසු.
ii. මයං තුම්හෙහි විනා අරඤ්ඤං ගන්ත්වා දාරූනි භඤ්ජිස්සාම.
iii. දාරකො ඡත්තං ගණ්හිතුං සොපාණං ආරූහති.
iv. මයං ලොචනෙහි රූපානි පස්සිත්වා සුඛං ච දුක්ඛං ච ලභාම.
v. දෙවා වසුධායං මනුස්සෙ රක්ඛන්ති.

4. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. බුදුරජ භික්ෂූන්ට ධර්මය දේශනා කළ සේක.
ii. පෙර ලංකාවේ දප්පුල නම් රජෙක් වීය.
iii. ඔවුහු ඊයේ උදෑසන ම කුඹුරට ගියහ.
iv. අපගේ මව්වරු දිනපතා බත් පිසති.
v. අපි විහාරයට ගොස් බුදුරදුන්ට මල් පූජා කළෙමු.

# ඡට්ඨමො පාඨො

# පිපාසා

තදා එකො සුවපොතකො පිපාසිතො තත්ථ තත්ථ පානීයං පරියෙසන්තො මහාරඤ්ඤෙ එකස්මිං පූතිපාදපෙ සට්ඨිරතනනරකාවාටෙ පානීයගන්ධං ඝායිත්වා ලොභෙන පාතුං ඔතිණ්ණො අතිපානෙන භාරො තත්ථෙ'ව පතිත්වා උග්ගන්තුං නාසක්ඛි. අථාපරො'පි සප්පො ච, මනුස්සො චාති ද්වෙ ජනා තත්ථෙ'ව පතිංසු. සප්පා නාම විවෙකං ලද්ධා'ව අත්තං විජහන්ති. තස්මායං අලද්ධා විවෙකත්තං උග්ගන්තුං නාසක්ඛි. අනාලම්බත්තා මනුස්සො'පි තෙ උග්ගන්තුං අසක්කොන්තා මරණභයභීතා අඤ්ඤමඤ්ඤමවිහෙඨෙන්තා තත්ථෙ'ව වසිංසු.

**(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)**

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **සුවපොතකො** | (ස) | - | ගිරා පැටවා |
| **පිපාසිත** | (කි) | - | පවසට පත් |
| **පානීයං** | (කි) | - | පැන්/ජලය |
| **පරියෙසන්තො** | (කි) | - | සොයනුයේ |
| **පූතිපාදපෙ** | (ස) | - | කුණු වූ ගසක |
| **සට්ඨිරතන** | (ස) | - | හැටරියන් |
| **නරකාවාට** | (ස) | - | නරාවළ |
| **ඝායිත්වා** | (පූ.ක්‍රි) | - | රසවිඳ |
| **උග්ගන්තුං** | (තු) | - | උඩට එන්නට |
| **ද්වෙජනා** | (නා) | - | දෙදෙනෙක් |
| **ලද්ධාව** | (සං) | - | ලැබ ම |
| **විජහති** | (ක්‍රි) | - | අතහරී |
| **අනාලම්බත්තා** | (ස) | - | එල්බගැනීමක් නොමැති බැවින් |

**අභ්‍යාස**

1. 'පිපාසා' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කෙ ජලං පරියෙසන්තා නරකාවාටෙ පතිංසු?
ii. කස්මා සුවපොතකො උග්ගන්තුං නාසක්ඛි?
iii. සප්පා කථං අත්තං විජහන්ති?
iv. මහාරඤ්ඤෙ නරකාවාටෙ කිං අහවි?
v. මරණභයභීතා තෙ කථං වසිංසු?

## ආඛ්‍යාත විභක්ති II

වාක්‍යයක් සම්පූර්ණ වීමටත් පූර්ණ අර්ථයක් ලබා ගැනීමටත් ආඛ්‍යාත වැදගත් වන බව ඉහත පාඩම්වල දී ඔබ උගෙන ඇත. කාලත්‍රයට අයත් ආඛ්‍යාත මීට පෙර වරනගා අර්ථ ගන්වා තිබෙන හෙයින් මෙම පාඩමේ දී **පඤ්චමී** හා **සත්තමී** ආඛ්‍යාත විභක්තිවල වරනැගීම් සිදු වන්නේ කෙසේ දැයි බලමු.

**පඤ්චමී ආඛ්‍යාතය**

අණකිරීමක් හෝ ආශීර්වාද කිරීමක් හෝ පැවසීමට පඤ්චමී ආඛ්‍යාත විභක්තිය යෙදේ. **(ආණත්‍යාසිට්ඨෙනුත්තකාලෙ පඤ්චමී)**

**අණකිරීම:-** **සම්ම, ඉධාගච්ඡ** (මිත්‍රය, මෙහි එන්න)
**තුම්හෙ, ඉමං සප්පං න මාරෙථ** (තෙපි මේ සර්පයා නො මරවු)

**ආශීර්වාද කිරීම:-** **හොතු තෙ ජයමඞ්ගලං** (ඔබට ජය මංගල්‍යයක් වේවා!)
**රක්ඛන්තු සබ්බදෙවතා** (සියලු දෙවියෝ රකිත්වා!)

**තු, අන්තු, හි, ථ, මි, ම** යන ප්‍රත්‍යය පරස්සපදයට ද **තං, අන්තං, ස්සු, ව්හො, එ, ආමසෙ** යන ප්‍රත්‍යය අත්තනොපදයට ද අයත් වේ.

විධානයක් කිරීමේ දී මධ්‍යම පුරුෂ ඒකවචන **'හි'** ප්‍රත්‍යය ලොප් වී **ගච්ඡ, තිට්ඨ, ආහර** යනාදි වශයෙන් ද යෙදේ. ඇතැම් විට උක්තපදය ඒකවචන වුවත් ආඛ්‍යාතපදය බහුවචනයෙන් ද යෙදුණු තැන් දක්නට ලැබේ.

**පඤ්චමී පරස්සපද**

| පුරුෂය | ඒකවචන | | බහුවචන | |
|---|---|---|---|---|
| | ප්‍රත්‍යය | ආඛ්‍යාතය | ප්‍රත්‍යය | ආඛ්‍යාතය |
| **පඨමපුරිස** | තු | ජයතු | අන්තු | ජයන්තු |
| **මජ්ඣිමපුරිස** | හි | ජය, ජයාහි | ථ | ජයථ |
| **උත්තමපුරිස** | මි | ජයාමි | ම | ජයාම |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | ජය වේවා | ජය වෙත්වා |
| මජ්ඣිමපුරිස | ජය වෙහිවා | ජය වෙහුවා |
| උත්තමපුරිස | ජය වෙම්වා | ජය වෙමුවා |

## පඤ්චමී අත්තනොපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨමපුරිස | සො | තං | ජයතං | තෙ | අන්තං | ජයන්තං |
| මජ්ඣිමපුරිස | ත්වං | ස්සු | ජයස්සු | තුම්හෙ | වෙහො | ජයවෙහො |
| උත්තමපුරිස | අහං | ඒ | ජයෙ | මයං | ආමසෙ | ජයාමසෙ |

පහත දැක්වෙන වගු අධ්‍යයනය කරන්න.

## පඤ්චමී පරස්සපද

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| භවතු | භවන්තු | භව, භවාහි | භවථ | භවාමි | භවාම |
| රක්ඛතු | රක්ඛන්තු | රක්ඛ, රක්ඛාහි | රක්ඛථ | රක්ඛාමි | රක්ඛාම |
| සුණාතු | සුණන්තු | සුණ, සුණාහි | සුණාථ | සුණාමි | සුණාම |

## පඤ්චමී අත්තනොපද

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| භවතං | භවන්තං | භවස්සු | භවවෙහො | භවෙ | භවාමසෙ |
| රක්ඛතං | රක්ඛන්තං | රක්ඛස්සු | රක්ඛවෙහො | රක්ඛෙ | රක්ඛාමසෙ |
| සුණතං | සුණන්තං | සුණස්සු | සුණවෙහො | සුණෙ | සුණාමසෙ |

**සත්තමී ආඛ්‍යාතය**

**අනුමති** හා **පරිකල්ප** යන අර්ථයන්හි යෙදෙන සත්තමී ආඛ්‍යාත විභක්තිය අනාගත කාලයට අයත් ය. යමක් කරනු කැමැත්තාට එය කිරීම මැනවැ'යි අනුමත කිරීම අනුමති අර්ථය යි. කුමක් කළයුතු දැයි කල්පනා කිරීමත් එහි නියමයක් නොමැති බවත් පරිකල්පාර්ථය යි. **(අනුමති පරිකප්පත්ථෙසු සත්තමී)**

**අනුමති අර්ථයඃ-**

**සාධු ත්වං සබ්බදා සායං බුද්ධං පූජෙය්‍යාසි.**
(ඔබ සැමදා සවස බුදුන් පුදන්නේ නම් මැනවි)

**පරිකල්පාර්ථයඃ-**

**යනනූන අහං මාතාපිතරෙ පස්සෙය්‍යං.**
(ඉදින් මම මව්පියන් දකින්නේ නම් මැනවි)

සත්තමී ආඛ්‍යාතය යෙදුණු පහත වාක්‍ය දෙස බලන්න. සත්තමී ආඛ්‍යාතය යෙදෙන විට **සචෙ, චෙ, යදි, යනනූන** වැනි නිපාත පද මුලින් යෙදීම සාමාන්‍ය ලක්ෂණයකි.

- සචෙ හි සො භික්ඛවෙ භික්ඛු චත්තාරි අභිරාජකුලානි මෙත්තෙන චිත්තෙන **ඵරෙය්‍ය**, න හි සො භික්ඛවෙ භික්ඛු අහිනා දට්ඨො කාලං **කරෙය්‍ය**.
- මමෙ'ව තස්මිං සමයෙ ධජග්ගං **උල්ලොකෙය්‍යාථ**.
- නො චෙ මං **අනුස්සරෙය්‍යාථ** අථ ධම්මං **අනුස්සරෙය්‍යාථ**.
- නො චෙ මෙ ධජග්ගං **උල්ලොකෙය්‍යාථ** අථ වරුණස්ස දෙවරාජස්ස. ධජග්ගං **උල්ලොකෙය්‍යාථ**.
- **ලභෙය්‍යං** අහං භන්තෙ භගවතො සන්තිකෙ පබ්බජ්ජං **ලභෙය්‍යං** උපසම්පදං.

**එය්‍ය, එය්‍යුං, එය්‍යාසි, එය්‍යාථ, එය්‍යාමි, එය්‍යාම** යන ප්‍රත්‍යය සත්තමී පරස්සපදයේත් **එථ, එරං, එථො, එය්‍යව්හො, එය්‍යං, එය්‍යාමෙහ** යන ප්‍රත්‍යය අත්තනොපදයේත් යෙදේ.

**සත්තමී පරස්සපද**

| පුරුෂය | ඒකවචන | | බහුවචන | |
|---|---|---|---|---|
| | ප්‍රත්‍යය | ආඛ්‍යාතය | ප්‍රත්‍යය | ආඛ්‍යාතය |
| **පඨමපුරිස** | එය්‍ය | පචෙය්‍ය | එය්‍යුං | පචෙය්‍යුං |
| **මජ්ඣිමපුරිස** | එය්‍යාසි | පචෙය්‍යාසි | එය්‍යාථ | පචෙය්‍යාථ |
| **උත්තමපුරිස** | එය්‍යාමි | පචෙය්‍යාමි | එය්‍යාම | පචෙය්‍යාමි |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | පිසන්නේය | පිසන්නෝය |
| මජ්ඣිමපුරිස | පිසන්නෙහි | පිසන්නෙහු |
| උත්තමපුරිස | පිසන්නෙමි | පිසන්නෙමු |

**සත්තමී අත්තනොපද**

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨමපුරිස | සො | එථ | පචෙථ | තෙ | එරං | පචෙරං |
| මජ්ඣිමපුරිස | ත්වං | එථො | පචෙථො | තුම්හෙ | එය්‍යාවෙහො | පචෙය්‍යාවෙහො |
| උත්තමපුරිස | අහං | එය්‍යං | පචෙය්‍යං | මයං | එය්‍යාමෙහ | පචෙය්‍යාමෙහ |

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. පඤ්චමී ආඛ්‍යාතය හැඳින්වෙන බාලාවතාර පාඨය දක්වා තේරුම ද ලියන්න.
ii. සත්තමී ආඛ්‍යාතය යෙදෙන අර්ථ දෙක ලියා උදාහරණය බැගින් ලියන්න.
iii. පඤ්චමී ආඛ්‍යාත පද යෙදුණු පාලි පාඨ 05ක් සොයා ලියන්න.
iv. සත්තමී ආඛ්‍යාත පද යෙදුණු පාලි පාඨ 05ක් සොයා ලියන්න.
v. පඤ්චමී හා සත්තමී ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යය මාලා වගුගත කර දක්වන්න.
vi. √ජිද (ජිනාති) √ගමු (ගච්ඡති) යන ධාතු පඤ්චමී හා සත්තමී ආඛ්‍යාතවල වරනගා වගුගත කර දක්වන්න.

2. පහත දැක්වෙන ආඛ්‍යාත පදවල පඤ්චමී හා සත්තමී ආඛ්‍යාත පරස්සපද ප්‍රථම පුරුෂ ඒකවචන රූප ලියා දක්වන්න.

| ආඛ්‍යාත පදය | පඤ්චමී | සත්තමී | ආඛ්‍යාත පදය | පඤ්චමී | සත්තමී |
|---|---|---|---|---|---|
| ඛාදාමි | | | චරසි | | |
| ධාවිංසු | | | යාචථ | | |
| හරති | | | භණාමි | | |
| දදි | | | අභාසි | | |
| ගණ්හන්ති | | | ලභති | | |

3. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. සබ්බ පාණිනො ච රුක්ඛලතායො ච ජලෙන ජීවන්ති.
ii. අසුද්ධජලපරිභොගෙන නානා රොගා උප්පජ්ජන්ති.
iii. මයං අසුද්ධජලං කථං ජානෙම?
iv. දෙවා සීහලදීපං රක්ඛන්තු.
v. අහං සතතං තුමෙහ රක්ඛාමි.

4. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. පින්වත්හු මගේ වචනය අසත්වා!
ii. වක්කලී, ඔබ මෙතැනින් යන්න.
iii. සත්පුරුෂයන්ගේ ඇසුර වේවා!
iv. ඔබ පිරිවෙණට යන්නේ නම් මැනවි.
v. ඉදින් ඔබ යන්නෙහි නම් මම ද යමි.

# සත්තමො පාඨො

# සඛායො

අථෙ'කො බාරාණසිවාසිකො මනුස්සො වනං පවිට්ඨො තථෙ'ව පානීයං පරියෙසමානො තං ඨානං පත්වා තෙ තයො'පි දිස්වා කම්පමානහදයො වල්ලියා පිටකං බන්ධිත්වා සික්කාය'පි පක්ඛිපිත්වා ඔතාරෙත්වා තෙ තයො'පි උද්ධරි, අථා'නෙන තෙ අම්හාකං ජීවිතං දින්නන්ති සොමනස්සා තස්සෙවමාහංසු, සාමි, මයං තුම්හෙ නිස්සාය ජීවිතං ලභිම්හ, තුම්හෙ ඉතො පට්ඨාය අම්හාකං සහායො, මයම්පි තෙ සහායා, අම්හාකං වසනට්ඨානානි ආගන්තුකාමොති වත්වා තෙසු තාව සුවපොතකො ආහ, සාමි බාරාණසියං දක්ඛිණද්වාරෙ මහානිග්‍රොධො අත්ථි, තත්‍රාහං වසාමි. තව තථාරූපෙ කිච්චෙ සති මම සන්තිකමාගම්ම සුවං ඉති සද්දං කරොහී'ති වත්වා මෙත්තිං ථිරං කත්වා පක්කාමි. සප්පො'පි සම්මාහං තස්සෙ'ව නිග්‍රොධස්සාවිදූරෙ මහන්තං වම්මිකං අත්ථි, තත්ථ වසාමි. තවත්‍ථො සති තත්ථ ගන්ත්වා දීඝා'ති, සද්දං කරොහී'ති වත්වා තථෙව පක්කාමි. මනුස්සො'පි බාරාණසියං අසුකාය නාම වීථියා අසුකගෙහෙ වසාමි. තවත්‍ථො සති මම සන්තිකං ආගච්ඡා'ති වත්වා පක්කාමි.

**(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)**

**පද මාලාව**

| | | | |
|---|---|---|---|
| **තථෙව** | **(සං)** | - | එසේ ම |
| **පරියෙසමානො** | **(කි)** | - | සොයන්නේ |
| **තයොපි** | **(සං)** | - | තුන්දෙනා ම |
| **දිස්වා** | **(පූ.ක්‍රි)** | - | දැක |
| **කම්පමානහදයො** | **(ස)** | - | කම්පාවන හදවත් ඇත්තේ |
| **වල්ලියා** | **(නා)** | - | වැලෙන් |
| **පිටකං** | **(නා)** | - | කුඩයක් |
| **සික්කාය** | **(නා)** | - | සාල්ලක |
| **පක්ඛිපිත්වා** | **(පූ.ක්‍රි)** | - | බහා |
| **උද්ධරි** | **(ක්‍රි)** | - | ගොඩ ගත්තේය |
| **අනෙන** | **(ස.නා)** | - | මොහු විසින් |
| **දින්නන්ති** | **(සං)** | - | දෙන ලදැයි |
| **නිස්සාය** | **(නි)** | - | නිසා |
| **පට්ඨාය** | **(පූ.ක්‍රි)** | - | පටන් |
| **සහායො** | **(නා)** | - | මිත්‍රයා/ සහායකයා |
| **වසනට්ඨානානි** | **(සං)** | - | වසන තැන් |
| **ආගන්තුකාමො** | **(කි)** | - | එනු කැමැත්තේ |
| **තාව** | **(නි)** | - | පළමු කොට |

| | | | |
|---|---|---|---|
| ආහ | (ක්‍රි) | - | කීවේය |
| තත්‍ථාහං | (සං) | - | එහි, මම |
| සන්තිකමාගමම | (සං) | - | සමීපයට පැමිණ |
| කරොහි | (ක්‍රි) | - | කරන්න |
| තවත්‍ථෙ | (සං) | - | ඔබට වැඩක් |
| සති | (නි) | - | ඇති කල්හි |
| ආගච්ඡාති | (සං) | - | එන්න යැයි |

**අභ්‍යාස**

1. 'සබායො' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කො තං ඨානං පාවිසි?
ii. සො කෙ පස්සි?
iii. සො කෙන පිටකං බන්‍ධි?
iv. සො කිමත්‍ථාය වනං පාවිසි?
v. අම්හාකං ජීවිතං දිත්‍තනන්ති කෙ ආහංසු?
vi. කෙ සොමනස්සා අහෙසුං?

## ආඛ්‍යාත විභක්ති III

වර්තමාන, අනාගත, අතීත ක්‍රියා ප්‍රකාශ කිරීමට පිළිවෙළින් **වත්තමානා, භවිස්සන්ති, අජ්ජතනී** යන ආඛ්‍යාත විභක්ති භාවිත වෙයි. ආශීර්වාද කිරීම් සඳහා පඤ්චමී ආඛ්‍යාත විභක්තිය ද අනුමති හා පරිකල්පාර්ථ ප්‍රකාශ කිරීමට සත්තමී ආඛ්‍යාත විභක්තිය ද භාවිත වේ. මෙකී ආඛ්‍යාත විභක්තිවලට අමතර ව අතීත කාල ක්‍රියා සිද්ධියක් ප්‍රකාශ කිරීම සඳහා තවත් ආඛ්‍යාත විභක්ති දෙකක් භාවිත වේ. එනම් **පරොක්ඛා** ආඛ්‍යාත විභක්තිය හා **හීයත්තනී** ආඛ්‍යාත විභක්තිය යි. එම ආඛ්‍යාත විභක්ති දෙකෙහි ප්‍රත්‍යයමාලා හා වරනැගීම් සිදුවන අයුරු තේරුම් ගනිමු.

### පරොක්ඛා ආඛ්‍යාත විභක්තිය

පරොක්ඛා ආඛ්‍යාත විභක්තිය අතීත කාලාර්ථයක් ප්‍රකාශ කිරීම සඳහා භාවිත වේ. ඉන්ද්‍රිය ප්‍රත්‍යක්ෂ නො වූ (නො දුටු) අතීත කාලය කිවයුතු විටක දී හෝ ඇසූ දෙයක් කීමේ දී (ශ්‍රැති සූචනාර්ථයේ) **පරොක්ඛා** ආඛ්‍යාත පද යෙදේ. ධාතුවේ මුල් අක්ෂරය ද්විත්ව වීමත් **ව්‍යඤ්ජනාදික ආඛ්‍යාත ප්‍රත්‍යය** යෙදුණු විට, ඉකාරයක් ආගම වීමත් මෙම ආඛ්‍යාත විභක්තියේ දැකිය හැකි ය. **(අපච්චක්ඛෙ පරොක්ඛාතීතෙ)** අ, උ, එ, ත්‍ථ, අ, ම්හ යන ප්‍රත්‍යය පරස්සපදයේත් **ත්‍ථ, රෙ, ත්‍ථො, ව්හො, ඉ, ම්හෙ** යන ප්‍රත්‍යය අත්තනොපදයෙත් භාවිත වේ.

නො දුටු අතීතය :-

අතීතෙ ලඞ්කායං රාවණො නාම රාජා බභූව.

(පෙර ලංකාවේ රාවණ නම් රජෙක් වීලු)

ශ්‍රැති සූචනාර්ථය :-

සා තං පවත්තිං සුත්වා රුරොද.

(ඕතොමෝ ඒ පුවත අසා හැඬුවාලු)

පරොක්ඛා පරස්සපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨමපුරිස | සො | අ | පපච | තෙ | උ | පපචු |
| මජ්ඣිමපුරිස | ත්වං | එ | පපචෙ | තුම්හෙ | ත්ථ | පපචිත්ථ |
| උත්තමපුරිස | අහං | අ | පපච | මයං | මහ | පපචිමහ |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| පඨමපුරිස | පිසුවෙලු | පිසුවාහුලු |
| මජ්ඣිමපුරිස | පිසුවෙහිලු | පිසුවෙහුලු |
| උත්තමපුරිස | පිසුවෙම්ලු | පිසුවෙමුලු |

පරොක්ඛා අත්තනොපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| පඨමපුරිස | සො | ත්ථ | පපචිත්ථ | තෙ | රෙ | පපචිරෙ |
| මජ්ඣිමපුරිස | ත්වං | ත්තො | පපචිත්තො | තුම්හෙ | ව්හො | පපචිව්හො |
| උත්තමපුරිස | අහං | ඉ | පපචි | මයං | ම්හෙ | පපචිම්හෙ |

## හීයත්තනී ආඛ්‍යාත විභක්තිය

අතීත කාල ක්‍රියාර්ථයක් ප්‍රකාශ කිරීම සඳහා හීයත්තනී ආඛ්‍යාත විභක්තිය ද භාවිත වේ. ඊයේ දවසින් මත්තෙහි ඉන්ද්‍රිය විෂය වූ හෝ නො වූ අතීත ක්‍රියා දැක්වෙන්නේ **හීයත්තනී** ආඛ්‍යාත විභක්තියෙනි. ධාතුවට මුලින් අකාරයක් ආගම වීම මෙම ආඛ්‍යාතයේ විශේෂ ලක්ෂණය යි. **(හීයොප්පභුති පච්චක්ඛෙ හීයත්තනී)** ආ, ඌ, ඔ, ත්ථ, අ, ම්හ යන ප්‍රත්‍යය පරස්සපදයේත් ත්ථ, ත්ථුං, සෙ, ව්හං, ඉං, ම්හසෙ යන ප්‍රත්‍යය අත්තනොපදයේත් යෙදේ.

### හීයත්තනී පරස්සපද

| පුරුෂය | ඒකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| **පඨමපුරිස** | සො | ආ | අපචා | තෙ | ඌ | අපචූ |
| **මජ්ඣිමපුරිස** | ත්වං | ඔ | අපචො | තුම්හෙ | ත්ථ | අපචත්ථ |
| **උත්තමපුරිස** | අහං | අ | අපච | මයං | ම්හා | අපචම්හා |

| පුරුෂය | ඒකවචන | බහුවචන |
|---|---|---|
| **පඨමපුරිස** | පිසුවේය | පිසුවෝය |
| **මජ්ඣිමපුරිස** | පිසුවෙහි | පිසුවෙහු |
| **උත්තමපුරිස** | පිසුවෙමි | පිසුවෙමු |

### හීයත්තනී අත්තනොපද

| පුරුෂය | එකවචන | | | බහුවචන | | |
|---|---|---|---|---|---|---|
| | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය | සර්වනාම | ප්‍රත්‍යය | ආඛ්‍යාත පදය |
| **පඨමපුරිස** | සො | ත්ථ | අපචත්ථ | තෙ | ත්ථුං | අපචත්ථුං |
| **මජ්ඣිමපුරිස** | ත්වං | සෙ | අපචසෙ | තුම්හෙ | ව්හං | අපචව්හං |
| **උත්තමපුරිස** | අහං | ඉං | අපචිං | මයං | ම්හසෙ | අපචම්හසෙ |

පහත දැක්වෙන වගු අධ්‍යයනය කරන්න.

**හීයත්තනී පරස්සපද**

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| අදදා | අදදූ | අදදො | අදදත්ථ | අදද | අදදම්හා |
| අකරා | අකරූ | අකරො | අකරත්ථ | අකර | අකරම්හා |
| අයචා | අයචූ | අයචො | අයචත්ථ | අයච | අයචම්හා |
| අභවා | අභවූ | අභවො | අභවත්ථ | අභව | අභවම්හා |

**හීයත්තනී අත්තනොපද**

| පඨමපුරිස | | මජ්ඣිමපුරිස | | උත්තමපුරිස | |
|---|---|---|---|---|---|
| එකවචන | බහුවචන | එකවචන | බහුවචන | එකවචන | බහුවචන |
| අදදත්ථ | අදදත්ථුං | අදදසෙ | අදදව්හං | අදදිං | අදදම්හසෙ |
| අකරත්ථ | අකරත්ථුං | අකරසෙ | අකරව්හං | අකරිං | අකරම්හසෙ |
| අයචත්ථ | අයචත්ථුං | අයචසෙ | අයචව්හං | අයචිං | අයචම්හසෙ |
| අභවත්ථ | අභවත්ථුං | අභවසෙ | අභවව්හං | අභවිං | අභවම්හසෙ |

**අභ්‍යාස**

01. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ''අපච්චක්ඛෙ පරොක්ඛාතීතෙ'' යන්න පැහැදිලි කරන්න.
ii. හීයත්තනී ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යය මාලාව වගුගත කර දක්වන්න.
iii. පරොක්ඛා ආඛ්‍යාත විභක්ති ප්‍රත්‍යය මාලාව වගුගත කර දක්වන්න.
iv. අජ්ජතනී, පරොක්ඛා හා හීයත්තනී ආඛ්‍යාත භාවිතයේ වෙනස පෙන්වා දෙන්න.
v. පරොක්ඛා හා හීයත්තනී ආඛ්‍යාත පද සහිත වාක්‍ය පහ බැගින් සොයා ලියන්න.

02. √චර ධාතුව පරොක්ඛා ආඛ්‍යාත විභක්තියේත් √භිණ ධාතුව සත්තමී ආඛ්‍යාත විභක්තියේත් උභයපදයෙහි වරනගා වගුගත කර දක්වන්න.

03. පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.

| වත්තමාන | භවිස්සන්ති | අජ්ජතනී | පඤ්චමී | සත්තමී | හීයත්තනී |
|---|---|---|---|---|---|
| ගච්ඡති | ගච්ඡිස්සන්ති | අගච්ඡි | ගච්ඡතු | ගච්ඡෙය්‍ය | අගච්ඡා |
| ලිඛති | | | | | |
| හසති | | | | | |
| චරති | | | | | |
| භවති | | | | | |
| වන්දති | | | | | |

04. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. එවං සො අත්තනො පවත්තිං කථෙසි.
ii. අථ නාගරාජා තස්ස තානි පුප්ඵානි දත්වා එවමාහ.
iii. එකදා තථාගතො තං වනං පාපුණි.
iv. සො අහං ධම්මං දෙසිස්සාමි තං සුණාථ.
v. පිතා පුත්තෙන සද්ධිං ගෙහං අගච්ඡි.

05. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. පෙර අනුරාධපුර නම් නගරයක් විය.
ii. ඒ නගරයේ මහානාම නම් මහ තෙරනමක් වැඩ විසීය.
iii. ඒ කුමාරයා දිනපතා විහාරයට යයි.
iv. මම නැවෙන් ඉන්දියාවට ගියෙමි.
v. හැමදා මම බුද්ධශ්‍රාවකයෙක් වෙමි.

# අට්ඨමො පාඨො

# සසකෙනෙ'කො සීහො මාරිතො

මන්දාරපබ්බතෙ දුද්දන්තො නාම එකො සීහො වසි. තෙන පතිදිනං බහුන්නං පාණානං ව්‍යාපාදිතත්තා තං වනවාසිනො චතුප්පදා සමාගන්ත්වා 'අම්හෙසු එකෙකං පච්චාහං සීහස්ස සන්තිකං පෙසෙමා'ති නිච්ඡයං කත්වා තං පවත්තිං සීහස්ස ආරොචෙසුං. සො'පි සාධූ'ති සම්පටිච්ඡි. එකදා එකස්ස වුද්ධසසකස්ස වාරො සම්පාපුණි. සො කථං මරණම්හා මුඤ්චිස්සාමී'ති උපායං චින්තෙන්තො තත්ථ තත්ථ විලම්බන්තො කාලක්ඛෙපං කත්වා තමුපාගමි. ඛුදාභිභූතත්තා කොපාවිට්ඨො සීහො 'කස්මා ත්වං චිරායිත්වා ආගච්ඡසී'ති පුච්ඡි. 'සාමී, න මය්හං දොසො; අන්තරාමග්ගෙ අඤ්ඤෙන සීහෙනාහං නිවත්තාපිතො'ම්හි. යාවා'හං භවන්තස්ස සන්තිකමාගන්ත්වා පච්චාගමනාය පටිඤ්ඤං නාදාසිං, තාව මෙ ආගන්තුං නාදාසී'ති සසකො ආහ. තෙනාතී'ව කොපාවිට්ඨො සීඝං මෙ තං සපත්තසීහං දස්සෙහී'ති වදන්තො තෙන සද්ධිං ගන්තුං නික්ඛමි. අථ සසො තමෙකස්ස ගම්භීරකූපස්ස උපන්තිකං නෙත්වා 'පස්ස, සාමී, සො දුට්ඨො ඉමස්මිං කූපබ්භන්තරෙ වසතී'ති වදන්තො කූපම්බුනි දිස්සමානං තස්සෙ'ව පටිබිම්බං දස්සෙසි. දප්පිතො සීහො මහානාදං නදිත්වා කූපං පක්ඛන්දිත්වා තත්ථෙ'ව මරි.

(පාලි ගද්‍ය පද්‍ය රචනා)

**පද මාලාව**

| | | | |
|---|---|---|---|
| **මන්දාරපබ්බතෙ** | **(ස)** | - | මන්දාර පර්වතයෙහි |
| **පතිදිනං** | **(ස)** | - | දිනපතා |
| **ව්‍යාපාදිතත්තා** | **(ත)** | - | නසන ලද බැවින් |
| **වනවාසී** | **(ස)** | - | වනවැසි |
| **චතුප්පදා** | **(ස)** | - | සිව්පාවෝ |
| **සමාගන්ත්වා** | **(පූ.ක්‍රි)** | - | රැස්ව |
| **පෙසෙම** | **(ක්‍රි)** | - | යවමු |
| **නිච්ඡයං** | **(නා)** | - | තීරණය |
| **පවත්තිං** | **(නා)** | - | පුවත |
| **ආරොචෙසුං** | **(ක්‍රි)** | - | දන්වූහ |
| **සාධූති** | **(සං)** | - | මැනවැයි |
| **සම්පටිච්ඡි** | **(ක්‍රි)** | - | පිළිගත්තේය |
| **වුද්ධසසකස්ස** | **(ස)** | - | වෘද්ධ සාවෙකුට |
| **මුඤ්චිස්සාමි** | **(ක්‍රි)** | - | මුදන්නෙමි |
| **උපායං** | **(නා)** | - | උපායක් |
| **විලම්බන්තො** | **(කි)** | - | පමා වෙමින් |
| **කාලක්ඛෙපං** | **(ස)** | - | වේලාව ඉක්මවා |

| | | | |
|---|---|---|---|
| ඛුදාභිභූතත්තා | (කි) | - | බඩසයින් පෙළුණු බැවින් |
| කොපාවිට්ඨො | (කි) | - | කිපුණු |
| චිරායිත්වා | (පූ.ක්‍රි) | - | ප්‍රමාද වී |
| අන්තරාමග්ගෙ | (ස) | - | අතරමග |
| නිවත්තාපිතොම්හි | (සං) | - | නවත්වන ලද්දේ වෙමි |
| පච්චාගමනාය | (සං) | - | නැවත පැමිණීමට |
| පටිඤ්ඤං | (නා) | - | පොරොන්දුවක් |
| නාදාසිං | (සං) | - | නො දුන්නෙමි |
| සප්පගබ්භං | (සං) | - | උඩගු |
| ගම්භීරකූපස්ස | (ස) | - | ගැඹුරු ළිඳ |
| උපන්තිකං | (ස) | - | සමීපයට |
| නෙත්වා | (පූ.ක්‍රි) | - | පමුණුවා |
| කූපබ්භන්තරෙ | (ස) | - | ළිඳ තුළ |
| කූපම්බුනි | (ස) | - | ළිං ජලයෙහි |
| පටිබිම්බං | (ස) | - | සේයාව |
| පක්ඛන්දිත්වා | (පූ.ක්‍රි) | - | පැන |
| මරි | (ක්‍රි) | - | මළේය |

**අභ්‍යාස**

1. ‘සසකෙනෙ’කො සීහො මාරිතො’ ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සීහො කුහිං වසි?
ii. වනවාසිනො චතුප්පදා කිං අකංසු?
iii. වුඩ්ඪසසකො කිමත්ථාය චිරායි?
iv. සීහො කස්මා මරි?
v. දුට්ඨො කුහිං වසි?

## වාක්‍ය රචනය I

සම්පූර්ණ අදහසක් කියැවෙන වචන සමූහය වාක්‍යයක් නම් වේ. වාක්‍යයක් තේරුම් ගැනීමට වචනවල තේරුම් දැනගැනීම පමණක් ප්‍රමාණවත් නො වේ. ඒ සඳහා වාක්‍යයක අංග වටහාගත යුතු ය. මූලික ව සරල වාක්‍යයකට අවශ්‍ය වන්නේ අංග දෙකකි. එනම්, කරන්නෙක් හා කිරීමක් පමණි. මෙහි කරන්නා ‘**කර්තෘ**’ ලෙසත් කිරීම ‘**ක්‍රියාව**’ ලෙසත් හැඳින ගනිමු. මේ අනුව වාක්‍යයක මූලික අංග දෙක **කර්තෘ** හා **ක්‍රියාව** වේ. පහත සඳහන් කෙටි වාක්‍ය විමසන්න.

**නාගො සයති** (නාගයා නිදයි) **පදීපො ජලති** (පහන දැල්වේ)
**ලතා කම්පති** (වැල සෙලවේ) **මාලා මිලායති** (මල් මාලාව මැලවේ)
**තුලා ලම්බති** (තරාදිය එල්ලෙයි) **අස්සු පග්ඝරති** (කඳුළු වැටේ)

ඉහත වාක්‍යවල **නාගො, පදීපො, ලතා** ආදි කර්තෘ පද ඒකවචනයෙන් දක්වා ඇති අතර එබැවින් ම ක්‍රියාපද ද **සයති, ජලති, කම්පති** යනාදි වශයෙන් ඒකවචනයෙන් තබා ඇත. මේ අනුව වාක්‍යයක කර්තෘ පදය ඒකවචන වුවහොත් නිත්‍යයෙන් ම ක්‍රියාව ද ඒකවචන වේ. බහුවචන වුවහොත් බහුවචන වේ. ඉහත සඳහන් වාක්‍ය බහුවචනයට නගා ඇති ආකාරය බලන්න.

**නාගා සයන්ති** (නාගයෝ නිදති) **පදීපා ජලන්ති** (ප්‍රදීපයෝ දැල්වෙති)
**ලතායො කම්පන්ති** (ලතාවෝ කම්පා වෙති) **මාලායො මිලායන්ති** (මල්මාලාවෝ මැලවෙති)
**තුලායො ලම්බන්ති** (තරාදි එල්ලෙයි) **අස්සූනි පග්ඝරන්ති** (කඳුළු වැගිරෙයි)

සිංහල භාෂාවේ වාක්‍ය රටාව මෙයට තරමක් වෙනස් ය. එහි උක්තය ලෙස නපුංසකලිංග බහුවචනයක් යෙදුණ ද ක්‍රියා පදය ඒකවචනයෙන් සිටී.

උදා:- **ගස් වැටෙයි.**
**ගංගා ගලයි.**

එහෙත් පාලි භාෂාවෙහි ඉහත රීතිය එසේ නො වේ. එහි උක්තය කුමන ලිංග යකට අයත් වුව ද උක්තය ඒකවචන නම් ක්‍රියාව ද ඒකවචන වේ. බහුවචන නම් ක්‍රියාව ද බහුවචන වේ.

උදා:- **මනුස්සා ගච්ඡන්ති.**
**කඤ්ඤායො නහායන්ති.**
**ඵලානි පතන්ති.**

ඇතැම් වාක්‍ය ලිවීමේ දී කර්තෘ - ක්‍රියාව පමණක් ප්‍රමාණවත් නො වේ. '**අහං රක්ඛාමි**' (මම රකිමි) යන වාක්‍යයෙහි 'කුමක් රකිමි ද?' යනුවෙන් ප්‍රශ්නයක් පැනනගී. එහි දී යෙදී ඇති ක්‍රියාපදය කර්තෘ යෙදුණ පමණින් අර්ථවත් නො වේ. ඒ සඳහා අනෙකුදු අංගයක් එකතු කළ යුතු ය. එය කර්මය යනුවෙන් හැඳින්වේ. මේ අනුව දෙවැනි පියවරෙහි දී වාක්‍යයක අංග තුනක් (03) දක්නට ලැබෙයි. එනම්,

කර්තෘ + කර්ම + ක්‍රියා

මුලින් දක්වන ලද ආකාරයට ම මෙහි දී ද කර්තෘ හා ක්‍රියාව තැබීමේ දී ඒකවචන - බහුවචන භේදය සැලකිය යුතු ය. එහෙත් කර්මය සම්බන්ධයෙන් එබඳු වෙනසක් නැත. පහත නිදසුන් අධ්‍යයනය කරන්න.

පුරිසො **රුක්ඛං** ඡින්දති.
අහං **ලෙඛනං** ලිඛාමි.
උපාසකො **දානං** දෙති.

බිළාලො **සකටං** ආරුහති.
මූසිකො **බිලං** පවිසති.
කස්සකා **ඛෙත්තං** කසන්ති.
තුම්හෙ **පුඤ්ඤානි** කරොථ.
තෙ **චෙතියං** වන්දන්ති.
මයං **ආචරියෙ** වන්දාම.
වනිතායො **පදුමානි** ආහරන්ති.

මෙබඳු වාක්‍යයන්හි කර්තෘ - කර්මාදිය යෙදීමේ දී විභක්ති පිළිබඳ ව ද සැලකිලිමත් විය යුතු ය. වාක්‍යයක කර්තෘ පදය හෝ උක්ත පදය සැමවිට ම පඨමා විභක්තියෙන් යෙදෙන අතර කර්මය දුතියා විභක්තියෙන් යොදනු ලැබේ. ක්‍රියාව හැමවිට ම කර්තෘට අනුව තැබිය යුතු ය.

**අභ්‍යාස**

1. පහත සඳහන් වාක්‍ය සඳහා සුදුසු ක්‍රියාපද යොදන්න.

i. කලන්දකො ............................
ii. අස්සා ............................
iii. ත්වං ............................
iv. වනිතා ............................
v. ව්‍යාධා ............................
vi. මයං ............................
vii. පියදාසො ............................
viii. බාලිකා ............................
ix. කුක්කුටා ............................
x. මිගා ............................

2. පහත සඳහන් වාක්‍ය සුදුසු කර්ම පද යොදා සම්පූර්ණ කරන්න.

i. ත්වං ............ ගච්ඡාහි
ii. භික්ඛවො ............ රක්ඛන්ති.
iii. හත්ථිනො ............ ඛාදන්ති.
iv. දාසා ............ ආහරන්ති.
v. මයං ............ කසාම.
vi. තුම්හෙ ............ ආරුහථ.
vii. කම්මකාරො ............ කරොති.
viii. බුද්ධො ............ දෙසෙති.
ix. අහං ............ සමාදියාමි.
x. මාතා ............ ලාලයති.

3. පහත සඳහන් වාක්‍ය බහුවචනයට හරවා තේරුම ලියන්න.

i. කාකො රවති.
ii. ත්වං සයසි.
iii. සච්චවාදී සච්චං භණති.
iv. කස්සකො ඛෙත්තං කසති.
v. සමණො අස්සමෙ නිසීදති.

4. පහත සඳහන් වාක්‍ය ඒකවචනයට හරවා තේරුම ලියන්න.

i. වරාහා භූමිං ඛණන්ති.
ii. තරුණියො වාපිං ගච්ඡන්ති.
iii. යොධා යුජ්ඣන්ති.
iv. ජනකා පුත්තං ඔවදන්ති.
v. චතුප්පදා වනෙ වසන්ති.

5. පාලියට නගන්න.

i. මේ විහාරයෙහි එක් භික්ෂුවක් වාසය කරයි.
ii. මෑ මාගේ කුඩය ගත්තීය.
iii. මොහුගේ ඇසින් කඳුළු වැගිරෙයි.
iv. පුරුෂයා කඩෙන් රෙදි ගෙනාවේය.
v. හෙතෙම දන් දී සිල් රකියි.

# නවමො පාඨො

# චත්තාරො මාණවකා

එකස්මිං කිර ගාමෙ චත්තාරො මාණවකා සිප්පං උග්ගණ්හිතුං එකස්ස ආචරියස්ස සන්තිකං අගමංසු. තෙසු එකො වෙජ්ජසත්ථඤ්ච එකො ජොතිසත්ථඤ්ච උග්ගණ්හි. එකො පන ගීතකලාසු අතීව පියො අහොසි. තස්මා සො ගීතසත්ථං උග්ගණ්හිතුමාරභි. ඉතරො වාදප්පියො වාචා නිපුණො හොති. තෙන සො තක්කසත්ථං පරියාපුණි. තෙ චත්තාරො'පි ජනා වත්තපටිවත්තෙහි ආචරියං ආරාධෙන්තා අත්තනො අත්තනො සත්ථෙසු සමත්ථා හුත්වා න චිරෙනෙ'ව සිප්පුග්ගහණං නිට්ඨපෙසුං. තතො ගුරුපූජං ච කත්වා සකගෙහං ගන්තුකාමො ආචරියං වන්දිත්වා මග්ගං පටිපජ්ජිංසු. තෙ තෙසු තෙසු සිප්පෙසු කොටිප්පත්තා විය මඤ්ඤමානා අහෙසුං. අපි ච, තෙ සත්ථනිපුණා බුද්ධිමන්තා සමානාපි ලොකවොහාරං අජානනතාය අතිධාවනතාය ච කිච්චා'කිච්චෙසු පමාණකාරිනො න අහෙසුං.

(පාලිපාඨමඤ්ජරී)

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **එකස්මිං** | (ස.නා) | - | එක් |
| **මාණවකා** | (නා) | - | තරුණයෝ |
| **සිප්පං** | (නා) | - | ශිල්ප |
| **උග්ගණ්හිතුං** | (තු) | - | ඉගෙන ගන්නට |
| **සන්තිකං** | (නි) | - | සමීපයට |
| **අගමංසු** | (ක්‍රි) | - | ගියහ |
| **තෙසු** | (ස.නා) | - | ඔවුන් අතර |
| **වෙජ්ජසත්ථං** | (ස) | - | වෛද්‍ය ශාස්ත්‍රය |
| **ජොතිසත්ථං** | (ස) | - | නැකැත් ශාස්ත්‍රය |
| **උග්ගණ්හි** | (ක්‍රි) | - | උගත්තේය |
| **ගීතකලාසු** | (ස) | - | ගීත කලාවන්හි |
| **ගීතසත්ථං** | (ස) | - | ගීත ශාස්ත්‍රය |
| **උග්ගණ්හිතුමාරභි** | (සං) | - | ඉගෙනීමට පටන් ගත්තේය |
| **ඉතරො** | (ස.නා) | - | අනෙකා |
| **නිපුණො** | (නා) | - | දක්ෂ |
| **වාදප්පියො** | (ස) | - | වාදයට කැමති |
| **තක්කසත්ථං** | (ස) | - | තර්ක ශාස්ත්‍රය |
| **පරියාපුණි** | (ක්‍රි) | - | උගත්තේය |
| **වත්තපටිවත්තෙහි** | (ස) | - | වත් පිළිවෙතින් |
| **ආරාධෙන්තා** | (කි) | - | සතුටු කරන්නාහු |

| | | | |
|---|---|---|---|
| සමත්ථා | (නා) | - | සමත් වූවාහු |
| සිප්පුග්ගහණං | (ස) | - | ශිල්ප ඉගෙනීම |
| නිට්ඨාපෙසුං | (ක්‍රි) | - | නිම කරවූහ |
| ගුරුපූජං | (ස) | - | ගුරු පූජාව |
| සකගෙහං | (ස) | - | සිය නිවස |
| ගන්තුකාමො | (නා) | - | යනු කැමති |
| පටිපජ්ජිංසු | (ක්‍රි) | - | පිළිපන්හ |
| කොටිප්පත්තා | (ක්‍රි) | - | කෙළවරට පත්වූවාහු |
| මඤ්ඤමානා | (ක්‍රි) | - | හඟිනු ලබන්නාහු |
| සත්ථනිපුණා | (ස) | - | ශාස්ත්‍රයෙහි දක්ෂ වූවෝ |
| ලොකවොහාරං | (ස) | - | ලෝක ව්‍යවහාරය |
| අජානනතාය | (ත) | - | නො දන්නා හෙයින් |
| අතිධාවනතාය | (ත) | - | ඉක්මවා යන හෙයින් |
| කිච්චාකිච්චෙසු | (ස) | - | කළ යුත්ත නො කළ යුත්තෙහි |
| පමාණකාරිනො | (ත) | - | පමණ දන්නවුන් |

**අභ්‍යාස**

1. 'චත්තාරො මාණවකා' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ඇසුරෙන් පහත ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු ලියන්න.

i. චත්තාරො මාණවකා කිං කිං උග්ගණ්හිංසු?
ii. වාදප්පියො කස්මා තක්කසත්ථං පරියාපුණි?
iii. තෙ කිං කත්වා ආචරියං ආරාධෙසි?
iv. කිං ලොකවොහාරං නාම?
v. කස්මා තෙ කිච්චා'කිච්චෙසු පමාණකාරිනො න අහෙසුං?

## වාක්‍ය රචනය II

උක්ත, කර්ම, ආඛ්‍යාත සහිත ව වාක්‍යයක් වර්තමාන කාලයෙන් ලියන ආකාරය ඉහත පාඩමෙහි උගත්තෙමු. මෙහි දී තවදුරටත් එම වාක්‍ය කාලත්‍රයට අනුව ලියන ආකාරය ඉගෙන ගනිමු. පහත සඳහන් වාක්‍ය බලන්න.

**මනුස්සො රුක්ඛං ඡින්දති.** (මිනිසා ගස කපයි)
**මනුස්සො රුක්ඛං ඡින්දි.** (මිනිසා ගස කැපුවේය)
**මනුස්සො රුක්ඛං ඡින්දිස්සති.** (මිනිසා ගස කපන්නේය)

ඉහත නිදසුනෙහි එක ම වාක්‍යය වර්තමාන, අතීත හා අනාගත යන කාලවලට අයත් ව ලියා ඇත. වාක්‍ය රචනයේ දී ප්‍රධාන කාල තුනට අයත්වන සේ වාක්‍ය ලිවීමේ

හැකියාව තිබිය යුතු ය. ඒ සඳහා ඉතා සරල ක්‍රමය වන්නේ වාක්‍යයෙහි එන අවසාන ක්‍රියා පදය වෙනස් කිරීම යි. වර්තමාන කාල වාක්‍ය සඳහා ක්‍රියා පදය **වත්තමානා** ආඛ්‍යාත විභක්තියෙන් ද අතීත කාලය හැඟවීමේ දී **අජ්ජතනී** විභක්තියෙන් ද අනාගත කාලය සඳහා **භවිස්සන්ති** විභක්තියෙන් ද තැබිය යුතු ය.

**හීයො රවිවාරො අහොසි.**
**අජ්ජ චන්දවාරො භවති.**
**සුවෙ කුජවාරො භවිස්සති.**

**අහං පාඨාලයං අගමි.**
**අහං පාඨාලයං ගච්ඡාමි.**
**අහං පාඨාලයං ගච්ඡිස්සාමි.**

එදිනෙදා ව්‍යවහාරයේ දී භාවිතයට ගන්නා අදහස් පාලි භාෂාවෙන් ද ප්‍රකාශ කළ හැකි ය. ඒ සඳහා ඉහතින් දක්වන ලද වාක්‍ය පෝෂණය කළ යුතු ය. වාක්‍යයක් වඩාත් රසවත් හා දීර්ඝ කිරීම පිණිස එකතු කරන අංග කිහිපයකි.

### නිපාත

ලිංග, විභක්ති, වචන අනුව වෙනස් නො වන පද විශේෂයක් වාක්‍ය තුළ දක්නට ලැබේ. ඒවා නිපාත නම් වේ. අනෙක් නාම හා ක්‍රියාපද මෙන් මේවා වරනැගෙන්නේ නැත. එනිසා ම ඒවා **අව්‍යය** යනුවෙන් ද හැඳින්වේ. නිශ්චිත විභක්තියක වර නො නැඟුන ද බොහෝ නිපාතවලට වෙන් වූ අර්ථ පවතී. කාලාර්ථය, ස්ථානාර්ථය, සම්බන්ධාර්ථය, අවධාරණාර්ථය, ප්‍රශ්නාර්ථය යනු අර්ථ කිහිපයකි. ඇතැම් නිපාත හුදෙක් පදපූරණය සඳහා පමණක් භාවිත වේ. විවිධ අදහස් ප්‍රකාශ කිරීම, වාක්‍යය අංග සම්පූර්ණ කිරීම හා භාෂාවේ අලංකාරය යනාදි කරුණු සඳහා මෙම පද භාවිතය වාක්‍ය රචනයේ දී ඉතා වැදගත් වේ.

**කාලාර්ථය,**

**තෙ සුවෙ පාතො ගාමම්හා නික්ඛමිස්සන්ති.**
**මයං හීයො සායං අටවිං අගමිම්හ.**

**ස්ථානාර්ථය,**

**යත්ථ දෙවො න වස්සති, මයං තත්ථ වසාම.**
**ත්වං ඉතො අපෙහි.**

**සම්බන්ධාර්ථය,**

**සො අම්හෙහි සද්ධිං වාපිං ගමිස්සති.**
**තුම්හෙ කුමාරීහි සහ වනං ගච්ඡථ.**

අවධාරණාර්ථය,

**සා නාරී පාතො එව උට්ඨහිත්වා භත්තං පචි.**

**නස්සති වත භො ලොකො.**

ප්‍රශ්නාර්ථය

**කිං ත්වං තත්ථ නහායිස්සසි?**

**තෙ කුමාරා කුහිං වසිස්සන්ති?**

ඉහත ආකාරයට නිපාත භාවිතයෙන් වාක්‍ය පෝෂණය කරමින් අවශ්‍ය අර්ථ ප්‍රකාශ කළ හැකි ය. පාලියෙහි නිතර යෙදෙන නිපාත කිහිපයක් මෙසේ ය.

| | | | |
|---|---|---|---|
| **න** | - නැත | **කුහිං** | - කොහි |
| **වත/වෙ** | - ඒකාන්තයෙන් | **ච** | - ද |
| **පන** | - වනාහි | **සුවෙ** | - හෙට |
| **මා** | - එපා | **පුන** | - නැවත |
| **සදා** | - සැමදා | **වා** | - හෝ |
| **යාව** | - යම්තාක් | **පාතො** | - උදෑසන |
| **සද්ධිං** | - සමග | **තාව** | - ඒතාක් |
| **දිවා** | - දවල් | **සහ** | - සමග |
| **යදා** | - යම් කලෙක | **අජ්ජ** | - අද |
| **සචෙ** | - ඉදින් | **තදා** | - එකල |
| **හීයො** | - ඊයේ | **සකිං** | - වරක් |
| **ඉධ** | - මෙහි | **පච්ඡා** | - පසුව |
| **සායං** | - සවස | **එත්ථ** | - මෙහි |
| **අන්තො** | - ඇතුළේ | **ආම** | - එසේය |
| **තත්ථ** | - එහි | **උපරි** | - මත්තෙහි |
| **එවං** | - මෙසේ | **තත්‍ර** | - එහි |
| **අථ** | - ඉක්බිති | **අද්ධා** | - ඒකාන්තයෙන් |
| **කදා** | - කවදා | **අථවා** | - නොහොත් |
| **සනිකං** | - හෙමින් | **අන්තරා** | - අතරෙහි |
| **එකදා** | - එක් කලෙක | **යථා** | - යම්සේ |
| **ඉතො** | - මෙයින් | **තතො** | - එයින්/එතැනින්/ඉන්පසු/එහෙයින් |
| **තථා** | - එසේ | **තිරියං** | - සරස |
| **කුතො** | - කොතැනකින් | **යහිං** | - යම් තැනෙක |
| **සමන්තා** | - හාත්පස | **උද්ධං** | - උඩ |

## උපසර්ග

ධාතුවකට හෙවත් ක්‍රියා මූලයකට මුලින් යෙදී එහි අර්ථයට විවිධ ආකාරයෙන් බලපෑම් කරන පද විශේෂය උපසර්ග නම් වේ. ඒවා ගණනින් 20කි.

ප, පරා, නි, නී, උ, දු, සං, වි, අව, අනු, පරි, අධි, අභි, පති, සු,ආ, අති, අපි, අප, උප යනු ඒ උපසර්ග විස්ස යි.

උපසර්ග භාෂාවේ යෙදෙන ආකාර තුනකි.

i. ධාතුවේ අර්ථය වැළැක්වීම.

| | | | |
|---|---|---|---|
| ගච්ඡති | (යයි) | ආගච්ඡති | (එයි) |
| ගණ්හාති | (ගනියි) | උග්ගණ්හාති | (උගනියි) |

ii. ධාතුවේ අර්ථයට අනුව පැවතීම.

| | | | |
|---|---|---|---|
| කමති | (යයි) | පක්කමති | (යයි) |
| වාරයති | (වළක්වයි) | නිවාරයති | (වළක්වයි) |

iii. ධාතුවේ අර්ථය වැඩි කිරීම.

| | | | |
|---|---|---|---|
| සොභති | (බබළයි) | සුසොභති | (අතිශයින් බබළයි) |
| වන්‍දති | (වඳියි) | අභිවන්‍දති | (වෙසෙසින් වඳියි) |

**ධාත්වත්ථං බාධකෙ කොචි, කොචි තං අනුවත්තතෙ,**
**තමෙවඤ්ඤෙ විසෙසෙති, උපසග්ගගතී තිධා.**

උපසර්ග පද යොදාගනිමින් වාක්‍ය දිගුකොට අලංකාර ව ලිවිය හැකි ය.

| | |
|---|---|
| බුද්ධො රාජති. | පුරිසො ගච්ඡති. |
| බුද්ධො විරාජති. | පුරිසො අනුගච්ඡති. |
| සම්බුද්ධො ලොකෙ විරාජති. | සප්පුරිසො සම්බුද්ධං අනුගච්ඡති. |

උපසර්ග දෙකක් සහිත පද

උප + සං + කමති - උපසඞ්කමති
අභි + උ + ගච්ඡති - අබ්භුග්ගච්ඡති
අභි + නී + හරති - අභිනීහරති
සු + සං + ඨිතො - සුසණ්ඨිතො
පති + ආ + ගච්ඡති - පච්චාගච්ඡති
සු + දු + ජයං - සුදුජ්ජයං

## අභ්‍යාස

01. පහත සඳහන් වාක්‍ය නිපාත පද යොදා දීර්ඝ කොට ලියන්න.

i. ධනවන්තා සුඛං ජීවන්ති.
ii. දළිද්දා දුක්ඛං සයන්ති.
iii. තෙ ඉදං සාධුකං මනසි කරොන්ති.
iv. චොරො මම ඡත්තං ගණ්හාති.
v. සීහො සීඝං ධාවිත්වා වනං පවිසති.
vi. මයං ගොණෙ බන්ධාම.
vii. රථස්ස චක්කානි සමං පරිවත්තන්ති.
viii. තුම්හෙ පුරතො ගච්ඡථ.
ix. අහං අකාසං උල්ලොකෙමි.
x. ත්වං තස්ස සීසං පහරසි.

02. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. කවි මණයො කිණි.
ii. අධිපති ආහාරං භුඤ්ජි.
iii. චොරා ඔදනං බිපිංසු.
iv. අහං ගිරිම්හි නිසීදිං.
v. ව්‍යාධයො මනුස්සෙ පීළෙසුං.
vi. මයං ධම්මං ජානාම.
vii. තුම්හෙ ගරුනා සද්ධිං මන්තෙථ.
viii. අතිථී රුක්ඛං ආරුහති.
ix. වාණිජා ජලනිධිම්හි චරිංසු.
x. කාකො ආකාසං උග්ගච්ඡි.

03. ‘චත්තාරො පණ්ඩිතමාණවකා’ කථාවෙහි සඳහන් සියලු නිපාත පද සහ උපසර්ග සහිත ආඛ්‍යාත පද උපුටා දක්වන්න.

04. පහත සඳහන් වාක්‍ය සුදුසු නිපාත යොදා සම්පූර්ණ කරන්න.

i. සීහා ................ ව්‍යග්ඝා ................ වනෙ වසන්ති.
ii. තෙ ................ වදිංසු, ................ කරිංසු.
iii. ................ දෙවො න වස්සති.
iv. තෙසං භාතරො ................ වසන්ති?
v. ................ රුක්ඛා සන්ති, ................ ඵලානි අපි සන්ති.
vi. ................ ත්වං නහායිස්සසි?
vii. සො ................ පාතො ................නදිං ගමිස්සති.
viii. ................ ත්වං නහායිස්සසි ................ අහං ................ නහායිස්සාමි.

05. පාලියට නගන්න.

i. අපේ නෑයෝ මෙතැනින් ගමට ගොස් නැවත ආවෝය.
ii. ළමයා පාර හරහා දිව ගියේය.
iii. ගෙය හාත්පස ගස් තිබෙයි.
iv. තෝ දූන් මෙතැනින් ගොස් හෙට දහවල් මෙහි එව.
v. මාණවකයා නැකැත් බලා ම ගසට නැග්ගේය.

# දසමො පාඨො

# සිනෙහලෙඛනං

සීහලදීපෙ කල්‍යාණතිසෙසා නාම රාජා ඉසසරියං පවතෙතති. තසස උතතියො නාම කනිටෙඨා උපරාජා අහොසි. සො කල්‍යාණියතෙථරසස සනතිකෙ සිපපං සිකඛි. තතො සො රඤ්ඤො අගගමහෙසියා සදධිං විසසාසං අකාසි. රාජා තං ඤතවා ගණහථෙතනති අමචෙච ආණාපෙසි. උතතියො ඤතවා භීතො පලායිතවා අඤ්ඤතථ වසනෙතා එකසමිං දිවසෙ දෙවිං සරිතවා පණණං ලිඛිතවා එකං දහරං භිකඛුවෙසං ගාහාපෙතවා ඉදං රහසෙසන දෙවියා දෙහීති පණණං අදාසි. තදා කල්‍යාණියතෙථරො නිචචං රාජගෙහෙ පරිභුඤ්ජති. දූතො ගනතවා රාජදවාරෙ ඨීතො ථෙරො තං රාජකුලූපගො අයනති සඤ්ඤමකාසි. රාජපුරිසා'පි ථෙරසස අනෙතවාසිකො අයනති විනෙතසුං. අථ රාජා ච රාජමහෙසිකා ච තෙ සකකචචං පරිවිසිතවා වනදිතවා පකකමිංසු. තතො දූතො තං ලෙඛං දෙවියං පෙකඛමානාය භූමියං පාතෙසි. රාජා තසස සදදං සුතවා නිවතතිතවා ඔලොකෙතවා ථෙරසස ලෙඛන සමානං ලෙඛං දිසවා නිසසංසයං ථෙරෙන කතකමමනති මඤ්ඤමානො කුජඣිතවා එතං තෙලකටාහෙ ඛිපථා'ති ආණාපෙසි.

**(රසවාහිනී)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **සීහලදීපෙ** | (ස) | - | සිංහල ද්වීපයෙහි |
| **කල්‍යාණියතිසෙසා** | (නා) | - | කැලණිතිස්ස |
| **ඉසසරියං** | (ත) | - | අධිපති බව / අධිපතිත්වය |
| **පවතෙතති** | (ක්‍රි) | - | පවත්වයි |
| **උපරාජා** | (ස) | - | යුවරජ |
| **සනතිකෙ** | (නි) | - | සමීපයෙහි |
| **සිකඛි** | (ක්‍රි) | - | උගත්තේය |
| **අගගමහෙසී** | (ස) | - | අගමෙහෙසිය |
| **විසසාසං** | (නා) | - | විශ්වාසයක් |
| **ඤතවා** | (පූ.ක්‍රි) | - | දැන |
| **ගණහථෙතනති** | (සං) | - | මොහු අල්ලා ගනිවු යැයි |
| **ආණාපෙසි** | (ක්‍රි) | - | අණ කළේය |
| **භීතො** | (කි) | - | බියපත් වූයේ |
| **පලායිතවා** | (පූ.ක්‍රි) | - | පලාගොස් |
| **අඤ්ඤතථ** | (නි) | - | අන් තැනක |
| **වසනෙතා** | (කි) | - | වාසය කරන්නේ |
| **සරිතවා** | (පූ.ක්‍රි) | - | සිහිකොට |

| | | | |
|---|---|---|---|
| පණ්ණං | (නා) | - | ලියුමක් |
| භික්ඛුවෙසං | (ස) | - | භික්ෂුවෙස් |
| ගාහාපෙත්වා | (පූ.ක්‍රි) | - | ගන්වවා |
| රහස්සෙන | (නා) | - | රහසින් |
| නිච්චං | (නි) | - | නිතර |
| රාජගෙහෙ | (ස) | - | රජගෙහි |
| පරිභුඤ්ජති | (ක්‍රි) | - | වළඳයි |
| රාජද්වාරෙ | (ස) | - | වාසල් දොර |
| ඨිතො | (කි) | - | සිටියේ |
| අගමාසි | (ක්‍රි) | - | ගියේය |
| රාජකුලූපගො | (ස) | - | රජගෙට යන එන අය |
| සඤ්ඤමකාසි | (සං) | - | සිතුවේය |
| රාජපුරිසා | (ස) | - | රාජපුරුෂයෝ |
| අන්තෙවාසිකො | (ස) | - | අතවැසියා |
| චින්තෙසුං | (ක්‍රි) | - | සිතූහ |
| රාජමහෙසිකා | (ස) | - | රජ මෙහෙසිය |
| සක්කච්චං | (නි) | - | සකසා |
| පරිවිසිත්වා | (පූ.ක්‍රි) | - | වළඳවා |
| පක්කමිංසු | (ක්‍රි) | - | ගියාහුය |
| ලෙඛං | (නා) | - | ලියමන |
| පෙක්ඛමානාය | (කි) | - | බලා සිටිද්දී |
| නිවත්තිත්වා | (පූ.ක්‍රි) | - | නැවතී |
| නිස්සංසයං | (ස) | - | නිසැක ව ම |
| මඤ්ඤමානො | (කි) | - | හඟිමින් |
| කුජ්ඣිත්වා | (පූ.ක්‍රි) | - | කිපී |
| තෙලකටාහෙ | (නා) | - | තෙල් සැළියෙහි |
| ඛිපථාති | (සං) | - | දමවු යැයි |

අභ්‍යාස

1. 'සිනෙහ ලෙඛනං' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කල්‍යාණියතිස්සො නාම රාජා කුහිං ඉස්සරං පවත්තෙසි?
ii. තදා කො උපරාජා අහොසි?
iii. උත්තියො කාය විස්සාසං අකාසි?
iv. උත්තියො කථං දෙවියා පණ්ණං පෙසෙසි?
v. දූතො කෙන සද්ධිං රාජගෙහං පාවිසි?

## සරල වාක්‍ය පරිවර්තනය I

පාලි භාෂාවෙන් මාධ්‍ය භාෂාවටත් මාධ්‍ය භාෂාවෙන් පාලි භාෂාවටත් සරල වාක්‍ය පරිවර්තනය කරන ආකාරය ඉගෙනගැනීම මෙම පාඩමේ අරමුණු යි. ඔබ මේ වන විටත් කර්තෘ කර්ම ක්‍රියා සහිත වාක්‍ය නිර්මාණය කිරීමට හා ඒවා පරිවර්තනය කිරීමට උගෙන ඇත.

**පුරිසො ගාමං ගච්ඡති.**
**අස්සා මග්ගෙ ධාවන්ති.**
**ත්වං ඔදනං භුඤ්ජසි.**
**තුම්හෙ පොත්ථකානි පඨථ.**
**අහං අක්ඛරං ලිඛාමි.**
**මයං ගජෙ හරාම.**

ඉහත දැක්වෙන වාක්‍ය සිංහල භාෂාවට නගමු.

**පුරුෂයා ගමට යයි.**
**අශ්වයෝ මාර්ගයේ දුවත්.**
**නුඹ ආහාර අනුභව කරහි.**
**නුඹලා පොත් පාඩම් කරහු.**
**මම අකුරක් ලියමි.**
**අපි ඇතුන් ගෙනයමු.**

පළමු වාක්‍යයේ '**පුරිසො**' යනු පඨමා විභක්ති ඒකවචනය යි. එය එම වාක්‍යයේ '**ගච්ඡති**' යන පඨමපුරිස ඒකවචන ආඛ්‍යාතයෙන් උක්ත ව තිබේ. '**ගාමං**' යනු එම වාක්‍යයේ කර්ම පදය යි. එය දුතියා විභක්ති ඒකවචනයෙන් යෙදී ඇත.

**පුරිසො - පඨමා විභක්ති ඒකවචන**
**ගාමං - දුතියා විභක්ති ඒකවචන**
**ගච්ඡති - වත්තමානා පඨමපුරිස ඒකවචන**

මේ ආකාරයට උක්ත පද, කර්ම පද, ආඛ්‍යාත පද හා වෙනත් පද තේරුම් ගන්න. වාක්‍යයක් නිවැරදි සිංහල භාෂාවට නැගීමේ දී සිංහල භාෂාව පිළිබඳ අවබෝධයක් තිබිය යුතු ය. මෙහි දී ස්ත්‍රීලිංග උක්ත පද සමග ආඛ්‍යාත පද යෙදීමේ දී අපගේ විශේෂ අවධානය යොමු විය යුතු ය.

**පිතා පුත්තෙන සද්ධිං ගාමං ගච්ඡි.**
**ආචරියො සිස්සානං පොත්ථකානි අදාසි.**
**ත්වං ඉමං පාඨං අපඨො.**
**තුම්හෙ පාඨසාලං අගච්ඡිත්ථ.**
**අහං පොත්ථකං අකිණිං.**
**මයං යාචකානං ආහාරං අදදිම්හ.**

මෙම වාක්‍ය සිංහලට නැගූ විට

**පියා පුතා සමග ගමට ගියේය.**
**ගුරුවරයා ශිෂ්‍යයන්ට පොත් දුන්නේය.**
**නුඹ මේ පාඩම පාඩම් කළෙහි.**
**නුඹලා පාසලට ගියෙහු.**
**මම පොතක් මිලට ගතිමි.**
**අපි යාචකයන්ට ආහාර දුනිමු.**

ඉහත වාක්‍යවල උක්ත පද පුල්ලිංග නාම හෝ සර්වනාම පද ලෙස යෙදී තිබේ. එහෙයින් **ගියේය, දුන්නේය** ආදි වශයෙන් ආඛ්‍යාත පද යෙදී ඇත. පහත දැක්වෙන වාක්‍ය දෙස බලන්න.

**පණ්ණානි පතන්ති.**
**රුක්ඛම්හා ඵලානි පතන්ති.**
**පුප්ඵානි විකසන්ති.**
**නදියො සවන්ති.**

මෙම වාක්‍ය සිංහලට නැගූ විට

**කොළ වැටෙයි.**
**ගසෙන් ගෙඩි වැටෙයි.**
**මල් පිපෙයි.**
**ගංගා ගලයි.**

යනුවෙන් බහුවචන උක්ත පදයට ඒකවචන ආඛ්‍යාත පද යෙදී තිබේ. '**පණ්ණානි**' යනු ප්‍රථමා බහුවචන උක්ත පදයකි. '**පතන්ති**' යනු ප්‍රථමපුරිස බහුවචන ආඛ්‍යාත පදයකි. එහෙත් එය සිංහලයට නැගූවිට '**කොළ වැටෙයි**' යනුවෙන් සිටියි. සිංහල භාෂාවේ අප්‍රාණවාචී බහුවචන උක්ත පදයට ඒකවචනයෙන් ආඛ්‍යාතය යෙදීම මෙයට හේතුව යි.

ස්ත්‍රීලිංග උක්ත පද අතීත හා අනාගත කාල ප්‍රථමපුරිස ඒකවචන ආඛ්‍යාත පද සමග යෙදෙන අවස්ථාවක දී ඒවා මාධ්‍ය භාෂාවට පරිවර්තනය කිරීම පහත දැක්වෙන වාක්‍ය මගින් හඳුනා ගනිමු.

| | | |
|---|---|---|
| **වනිතා ඔදනං පචි.** | - | **වනිතා ඔදනං පචිස්සති.** |
| වනිතාව බත පිසුවාය. | - | වනිතාව බත පිසින්නීය. |
| **දාරිකා මග්ගෙ ධාවි.** | - | **දාරිකා මග්ගෙ ධාවිස්සති.** |
| දැරිය මාර්ගයේ දිව්වාය. | - | දැරිය මාර්ගයේ දුවන්නීය. |
| **කඤ්ඤා ගොධං පහරි.** | - | **කඤ්ඤා ගොධං පහරිස්සති** |
| කන්‍යාව ගොයාට පහර දුන්නාය. | - | කන්‍යාව ගොයාට පහර දෙන්නීය. |
| **බ්‍රාහ්මණී ගෙහං අගමි.** | - | **බ්‍රාහ්මණී ගෙහං ගච්ඡිස්සති.** |
| බැමිණිය ගෙට ගියාය. | - | බැමිණිය ගෙට යන්නීය. |
| **මාතා පුත්තස්ස ආහාරං අදදි.** | - | **මාතා පුත්තස්ස ආහාරං දදිස්සති.** |
| මව පුතාට ආහාර දුන්නාය. | - | මව පුතාට ආහාර දෙන්නීය. |

පාලි භාෂාවේ ආඛ්‍යාත විෂයෙහි ලිංග භේදයක් භාවිත නො වුණ ද සිංහල භාෂාවේ එසේ භාවිත වන බව ඉහත නිදසුන්වලින් පෙනී යයි. එක ම ආඛ්‍යාත පදය පුල්ලිංග හා ස්ත්‍රීලිංග නාම පද දෙකක් සමග යෙදී පරිවර්තනය වන අයුරු බලන්න.

**මාතා ඕදනං පචි** - අම්මා බත පිසුවාය.
**පිතා ඕදනං පචි** - පියා බත පිසුවේය.
**මාතා ඕදනං පචිස්සති** - අම්මා බත පිසන්නීය.
**පිතා ඕදනං පචිස්සති** - පියා බත පිසන්නේය.

ගෞරවාර්ථ උක්ත පද සමග ආඛ්‍යාත පද යෙදීමේ දී ද අප විසින් සැලකිලිමත් විය යුතු ය. සිංහල භාෂාවේ එබඳු වාක්‍යවල ආඛ්‍යාතය බහුවචනයෙන් සිටී.

**මාතා ඕදනං පචි** - මෑණියෝ බත පිසූහ.
**පුත්තො ගෙහං ආගමි** - පුතණුවෝ ගෙට පැමිණියහ.
**ථෙරො ධම්මං දෙසෙසි** - තෙරණුවෝ ධර්මය දෙසූහ.
**සත්ථා ඉදං කථෙසි** - ශාස්තෘන් වහන්සේ මෙය වදාළහ./ වදාළ සේක.
**භගවා ජෙතවනෙ විහරති** - භාග්‍යවතුන් වහන්සේ ජේතවනයේ වැඩවසති/ වැඩවසන සේක.

ඉහත නිදසුන්වල මෑණියෝ යන ගෞරවාර්ථ උක්ත පදය නිසා '**පිසුවාය**' යන ආඛ්‍යාත පදය 'පිසූහ' යනුවෙන් යොදා තිබේ. සෙසු නිදසුන්වල ද ආඛ්‍යාත පදය බහුවචනයෙන් යෙදී තිබෙන්නේ ඒ හේතුවෙනි. වාක්‍ය පරිවර්තනයේ දී මෙම කරුණු පිළිබඳ ව ද සැලකිලිමත් විය යුතු ය. එසේ නො වන්නේ නම් පහත අයුරින් වැරදි සිදුවිය හැකි ය.

| වාක්‍යය | වැරදි පරිවර්තනය | නිවැරදි පරිවර්තනය |
|---|---|---|
| ඵලානි පතන්ති | ගෙඩි වැටෙති | ගෙඩි වැටෙයි |
| ථෙරො අවදි | තෙරුන්වහන්සේ කීවේය | තෙරුන්වහන්සේ කීහ/ කී සේක |
| මාතා ඕදනං පචි | මව බත පිසුවේය | මව බත පිසුවාය |
| සා ගාමං ගච්ඡිස්සති | ඇය ගමට යන්නේය | ඇය ගමට යන්නීය |
| දාරිකා වනං ගච්ඡි | දැරිය වනයට ගියේය | දැරිය වනයට ගියාය |

සිංහල භාෂාවෙන් පාලි භාෂාවට නැගීමේ දී ද මෙකී ක්‍රමය අනුගමනය කළ යුතු වෙයි.

ගස් වැටෙයි - **රුක්ඛා පතන්ති**
මල් පිපෙයි - **පුප්ඵානි විකසන්ති.**
වනිතාව ගමට ගියාය - **වනිතා ගාමං ගච්ඡි.**
දැරිය මල් නෙළුවාය - **දාරිකා පුප්ඵානි ඔචිනි.**
තෙරුන් වහන්සේ වැඩියහ - **ථෙරො ගච්ඡි.**
බුදුන්වහන්සේ වදාළ සේක - **බුද්ධො කථෙසි.**

කර්තෘ කර්ම ක්‍රියා සහිත වාක්‍ය පරිවර්තනයේ දී මෙකී කරුණු ද සැලකිල්ලට භාජනය කළ යුතු ය. පහත දැක්වෙන වගුව නිරීක්ෂණය කරන්න.

| වර්තමාන කාල | අනාගත කාල | අතීත කාල |
|---|---|---|
| පුප්ඵානි විකසන්ති<br>(මල් පිපෙයි)<br>වනිතා ගච්ඡති<br>(වනිතාව යයි)<br>ථෙරො වදති<br>(තෙරුන් වහන්සේ දේශනා කරති) | පුප්ඵානි විකසිස්සන්ති<br>(මල් පිපෙන්නේය)<br>වනිතා ගච්ඡිස්සති<br>(වනිතාව යන්නීය)<br>ථෙරො වදිස්සති<br>(තෙරුන් වහන්සේ දේශනා කරන්නාහ) | පුප්ඵානි විකසිංසු<br>(මල් පිපුණේය)<br>වනිතා ගච්ඡි<br>(වනිතාව ගියාය)<br>ථෙරො අවදි<br>(තෙරුන් වහන්සේ දෙසූහ) |

කර්ම පදය නිවැරදි ව භාවිත කිරීම ද වාක්‍ය පරිවර්තනයේ දී වැදගත් වේ. පහත නිදසුන් වාක්‍ය දෙස බලන්න.

**වානරා රුක්ඛං ආරුහිංසු.** (වඳුරෝ ගසට නැංගාහ)
**වානරා රුක්ඛෙ ආරුහිංසු.** (වඳුරෝ ගස්වලට නැංගාහ)
**මනුස්සා රුක්ඛං ඡින්දිංසු.** (මිනිස්සු ගස කැපූහ)
**මනුස්සා රුක්ඛෙ ඡින්දිංසු.** (මිනිස්සු ගස් කැපූහ)

'**මනුස්සා රුක්ඛං ඡින්දිංසු**' යන වාක්‍යයේ '**රුක්ඛං**' යනු දුතියා විභක්ති ඒකවචනය යි. එය 'ගසට' යනුවෙන් සිංහලට නගා ඇති අතර '**මනුස්සා රුක්ඛං ඡින්දිංසු**' යන තැන **රුක්ඛං** යන දුතියා විභක්ති ඒකවචන පදයට 'ගස' යනුවෙන් නගා ඇත. බහුවචනයේ දී '**රුක්ඛෙ**' යන පදයට 'ගස්වලට' හා 'ගස්' යන අරුත් දී තිබේ.

**අභ්‍යාස**

01\. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. දාරකො එකං ගොණං පස්සති.
ii. දාරිකා පීඨෙ නිසීදති.
iii. වාණිජො මනුස්සෙ පස්සති.
iv. රුක්ඛම්හා ඵලං පතති.
v. නාරී වනම්හා දාරූනි ආහරති.
vi. අයං සීහො එකං ඉත්ථිං මාරෙති.
vii. ත්වං වත්ථානි වික්කිණිත්වා මූලං ලභසි.
viii. අහං පුප්ඵානි ඔචිනාමි.
ix. සො තිණං ආහරති.
x. ත්වං විහාරං ගච්ඡසි.

02\. ඉහත වාක්‍යවල උක්තය හා ආඛ්‍යාතය බහුවචනයට හරවා නැවත ලියන්න.

03\. පහත සඳහන් වාක්‍ය සුදුසු පද යොදා සම්පූර්ණ කරන්න.

i. ..........................එකං ගොණං ...............................
ii. ............................... පීඨෙ ...............................
iii. ...............................මනුස්සෙ ...............................
iv. රුක්ඛම්හා ............................... ...............................
v. ............................... වනම්හා දාරූනි ...............................
vi. ............................... ..........එකං ඉත්ථිං ...............................
vii. .................වත්ථානි වික්කිණිත්වා මූලං ...............................
viii. ............................... පුප්ඵානි ...............................
ix. ............................... නරං ...............................
x. ............................... විහාරං ...............................

04\. පහත සඳහන් ගාථා සිංහලට නගන්න.

න හි සො උපක්කමො අත්ථි - යෙන ජාතා න මීයරෙ
ජරම්පි පත්වා මරණං - එවං ධම්මො හි පාණිනො

දහරා ච මහන්තා ච - යෙ බාලා යෙ ච පණ්ඩිතා
සබ්බෙ මච්චුවසං යන්ති - සබ්බෙ මච්චුපරායනා

05\. පහත සඳහන් වාක්‍ය සිංහල වාක්‍ය රටාව අනුව පරිවර්තනය කරන්න.

i. ඉදං රහස්සෙන දෙවියා දෙහි.
ii. තදා කල්‍යාණියත්ථෙරො නිච්චං රාජගෙහෙ පරිභුඤ්ජති.
iii. ථෙරො තං රාජකුලූපගො අයන්ති සඤ්ඤමකාසි.
iv. තෙ සක්කච්චං ථෙරං පරිවිසිත්වා වන්දිත්වා පක්කමිංසු.
v. රාජා එතං තෙලකටාහෙ ඛිපථාති ආණාපෙසි.

| එකාදසමො පාඨො | කිං පටිගච්චෙ'ව වායමිතෙන |
|---|---|

රාජා ආහ.
භන්තෙ නාගසෙන, කිං පටිගච්චෙ'ව වායමිතෙන? නනු සම්පත්තෙ කාලෙ වායමිතබ්බන්ති?
ථෙරො ආහ. සම්පත්තෙ කාලෙ මහාරාජ, වායාමො අකිච්චකරො භවති. පටිගච්චෙ'ව වායාමො කිච්චකරො භවතී'ති.
'ඔපම්මං කරොහී'ති.
'තං කිං මඤ්ඤසි මහාරාජ, යදා ත්වං පිපාසිතො භවෙය්‍යාසි, තදා ත්වං උදපානං ඛණාපෙය්‍යාස' තළාකං ඛණාපෙය්‍යාසි, පානීයං පිවිස්සාමී'ති?
'න හි භන්තෙ'ති'
'එවමෙව ඛො මහාරාජ සම්පත්තෙ කාලෙ වායාමො අකිච්චකරො භවති. පටිගච්චෙ'ව වායාමො කිච්චකරො භවතී'ති
භියොයා ඔපම්මං කරොහී'ති
'තං කිම්මඤ්ඤසි මහාරාජ, යදා ත්වං බුභුක්කිතො භවෙය්‍යාසි, තදා ත්වං ඛෙත්තං කසාපෙය්‍යාසි, සාලිං රොපාපෙය්‍යාසි, ධඤ්ඤං අතිහරාපෙය්‍යාසි භත්තං භුඤ්ජිස්සාමී'ති'?
න හි භන්තෙ'ති'
'එවමෙව ඛො මහාරාජ සම්පත්තෙ කාලෙ වායාමො අකිච්චකරො භවති. පටිගච්චෙ'ව වායාමො කිච්චකරො භවතී'ති'
භියොයා ඔපම්මං කරොහී'ති.
'තං කිම්මඤ්ඤසි මහාරාජ, යදා යදා තෙ සඞ්ගාමො පච්චුපට්ඨිතො භවෙය්‍ය, තදා ත්වං පරිඛං ඛණාපෙය්‍යාසි, ගොපුරං කාරාපෙය්‍යාසි, අට්ටාලකං කාරාපෙය්‍යාසි, ධඤ්ඤං අතිහරාපෙය්‍යාසි, තදා ත්වං හත්ථිස්මිං සික්ඛෙය්‍යාසි, අස්සස්මිං සික්ඛෙය්‍යාසි, රථස්මිං සික්ඛෙය්‍යාසි, ධනුස්මිං සික්ඛෙය්‍යාසි, ථරුස්මිං සික්ඛෙය්‍යාසී'ති?
න හි භන්තෙ'ති'
'එවමෙව ඛො මහාරාජ, සම්පත්තෙ කාලෙ වායාමො අකිච්චකරො භවති. පටිගච්චෙ'ව වායාමො කිච්චකරො භවතී'ති'

**(මිලින්දපඤ්හා)**

**පද මාලාව**

| | | | |
|---|---|---|---|
| **පටිගච්චෙව** | **(සං)** | - | කල් ඇති ව ම |
| **වායමිතෙන** | **(කි)** | - | වෑයම් කිරීමෙන් |
| **සම්පත්තෙ** | **(කි)** | - | පැමිණි කල්හි |
| **වායමිතබ්බං** | **(කි)** | - | වෑයම් කළ යුතු ය |
| **අකිච්චකරො** | **(ස)** | - | වැඩ නො කරන්නෙක් /අපහසු/නිෂ්ඵල |
| **ඔපම්මං** | **(ත)** | - | උපමාවක් |
| **මඤ්ඤසි** | **(ක්‍රි)** | - | සිතහි |

| | | | |
|---|---|---|---|
| **පිපාසිතො** | (කි) | - | පිපාස වූයේ |
| **භවෙය්‍යාසි** | (ක්‍රි) | - | වන්නෙහි නම් |
| **උදපානං** | (නා) | - | ළිඳක් |
| **ඛණාපෙය්‍යාසි** | (ක්‍රි) | - | සාරවන්නෙහි නම් |
| **භියෙ‍ය්‍යා** | (නි) | - | බොහෝ සෙයින් |
| **තළාකං** | (නා) | - | තඩාගයක් |
| **පිවිස්සාමි** | (ක්‍රි) | - | බොන්නෙමි |
| **බුභුක්ඛිතො** | (කි) | - | කනුකැමැත්තේ |
| **භවෙය්‍යාසි** | (ක්‍රි) | - | වන්නෙහි නම් |
| **කසාපෙය්‍යාසි** | (ක්‍රි) | - | සීසාවන්නේ නම් |
| **සාලිං** | (නා) | - | හැල් |
| **රොපාපෙය්‍යාසි** | (ක්‍රි) | - | රෝපණය කරවන්නේ නම් |
| **ධඤ්ඤං** | (නා) | - | ධාන්‍ය |
| **අතිහරාපෙය්‍යාසි** | (ක්‍රි) | - | ගෙන්වන්නේ නම් |
| **සඞ්ගාමො** | (නා) | - | සංග්‍රාමයක් |
| **පච්චුපට්ඨිතො** | (කි) | - | එළඹියේ |
| **පරිඛං** | (නා) | - | දිය අගල |
| **ගොපුරං** | (නා) | - | දොරටුව (දොර කොටුවක්) |
| **කාරාපෙය්‍යාසි** | (ක්‍රි) | - | කරවන්නේ නම් |
| **අට්ටාලකං** | (නා) | - | අට්ටාලයක් |
| **හත්ථිසිප්පං** | (නා) | - | ඇත් ශිල්පයෙහි |
| **සික්ඛාපෙය්‍යාසි** | (ක්‍රි) | - | හික්මවන්නෙහි නම් |
| **රථසිප්පං** | (නා) | - | රථ ශිල්පයෙහි |
| **ධනුසිප්පං** | (නා) | - | දුනු ශිල්පයෙහි |
| **ථරුසිප්පං** | (නා) | - | කඩු ශිල්පයෙහි |

**අභ්‍යාස**

1. 'කිං පටිගච්චෙ'ව වායමිතෙන' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කො නාගසෙනත්ථෙරං පඤ්හං පුච්ඡි?
ii. උදකත්ථාය මනුස්සා කිං කරිස්සන්ති?
iii. රාජානො කිමත්ථාය පරිඛං ඛණාපෙන්ති?
iv. තුම්හෙ කුතො උදකං ලභථ?
v. රාජා නගරං රක්ඛිතුං කිං කිං කරොති?

## සරල වාක්‍ය පරිවර්තනය II

### නිපාත පද හා සම්බන්ධ වන සුවිශේෂ වාක්‍ය රටා

නිපාත මගින් ගොඩනැගෙන වාක්‍ය රටා රාශියක් පාලියෙහි දක්නට ලැබේ. වාක්‍යය සිංහලට හෝ වෙනත් භාෂාවකට පරිවර්තනය කිරීමේ දී නිවැරදි අර්ථය හා යෙදී ඇති රටාව අවබෝධ කර නො ගතහොත් පරිවර්තනය බොහෝ විට ව්‍යාකූල වේ.

**විභක්ත්‍යර්ථවත් නිපාත**

නිපාත අනෙකුත් නාම මෙන් විභක්තීන්හි වරනැගෙන්නේ නැතත් විභක්ත්‍යර්ථ ප්‍රකාශක නිපාත සමුදායක් ද ඇත. ඒවායින් විභක්ත්‍යර්ථ ප්‍රකාශ වේ.

**පඨමා විභක්ති අර්ථ**

**කො නාමො'සි ත්වං.**
(ඔබ කවර නම් ඇත්තෙක් ද?)

**දුතියා විභක්ති අර්ථ**

**තුමෙහහි අභිණ්හං පච්චවෙක්ඛිතබ්බං.**
(නුඹලා විසින් නිතර මෙනෙහි කළ යුතු ය)

**තතියා විභක්ති අර්ථ**

**සො සහසා ආගච්ඡි.**
(ඔහු වහා ආවේය)

**පඤ්චමී විභක්ති අර්ථ**

**පාපමිත්තෙ ආරකා පරිවජ්ජෙය්‍ය.**
(පවිටු මිතුරා දුරින් දුරු කළ යුතු ය)

**සත්තමී විභක්ති අර්ථ**

**කුමාරී උපරි පාසාදෙ තිට්ඨති.**
(කුමරිය මතු මහලෙහි සිටියි)

**ආලපන විභක්ති අර්ථ**

**ආවුසො, කති වස්සො'සි ත්වං.**
(ඇවැත්නි, ඔබ කොපමණ වයස් ඇත්තෙක් ද?)

**ප්‍රශ්නවාචක නිපාත**

පරිවර්තනයේ දී ප්‍රශ්නවාචක නිපාත පද පිළිබඳ ව ද දැනීමක් තිබිය යුතු ය. නිපාත පද යෙදීමෙන් විවිධ ප්‍රශ්න නිර්මාණය වන ආකාරය නිරීක්ෂණය කරන්න.

**කිං** - කුමක් ද
**කථං** - කෙසේ
**කුහිං** - කොහි ද
**කච්චි** - කෙසේ ද
**නනු** - නො වේ
**අපි** - ද
**කත්ථ** - කොහි
**කදා** - කවදා
**කීව** - කෙතෙක් ද

**මා නිපාත යෝගය**

මා නිපාතය ප්‍රතිෂේධාර්ථයෙහි (වැළක්වීම) යෙදේ. එය යෙදෙන්නේ **අජ්ජතනී, හීයත්තනී** යන අතීත කාල ක්‍රියා සමග ය. එහෙත් එහි අර්ථය අනුව කියවෙන්නේ වර්තමාන කාල විධානයකි.

උදා:-

**මා මං අපාදකො හිංසි** (පා නැත්තා මට හිංසා නො කරන්න)
**මාවොච ඵරුසං කඤ්චි** (කිසිවෙකුටත් රළු වචන නො කියන්න)
**මා සොචිත්ථ මා පරිදෙවිත්ථ** (ශෝක නො කරව් නො තැවෙව්)

ඇතැම් වාක්‍ය සම්බන්ධ වීමේ දී නිපාත පද යෙදේ.

**සචෙ** - ඉදින්
**යදි** - ඉදින්
**සෙය්‍යථාපි** - යම්සේ
**යථා** - යම්සේ
**තථා** - එසේ

උදා:- **සචෙ ත්වං නහායිස්සසි අහම්පි නහායිස්සාමි.**
(ඉදින් නුඹ නාන්නෙහි නම් මම ද නාන්නෙමි)
**යථා මාතා වදති තථා අහං කරොමි.**
(යම් සේ මව කියයි ද මම එසේ කරමි)

**අභ්‍යාස**

01. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. බොහෝ රජවරු සැප ඇත්තෝ වෙති.
ii. රට වැසියෝ ද දැහැමි වෙති.
iii. මම දෙවනුව ද බුදුන් සරණ යමි.
iv. පෙර බෝසත් බරණැස උපන්නේය.
v. යමෙක් පමා වූවෝ වෙත් ද? ඔවුහු මළාහු වැනි ය.

02. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. සො සම්බාධොයං ඝරාවාසො ඉති විදිත්වා පබ්බජි.
ii. සචෙ චතුත්ථං නිධාපෙය්‍ය ආපදාසු ඵාසුං භවිස්සති.
iii. පඤ්ඤාවන්තස්ස එකාහං ජීවිතං සෙය්‍යො.
iv. ද්වෙ ඉමෙ භික්ඛවෙ අන්තා පබ්බජිතෙන න සෙවිතබ්බා.
v. අහං පටිසඞ්ඛායොනිසො චීවරං පටිසෙවාමි.

03. 'මා' නිපාතය යොදා පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. වැඩිහිටියන්ට පරිභව නො කරන්න.
ii. කිසිවිටෙකත් බොරු නො කියන්න.
iii. පවිටු මිතුරන් ඇසුරු නො කරන්න.
iv. තිරිසනුන්ට හිංසා නො කරන්න.
v. අන් සතු දෑ පැහැර නො ගන්න.

04. සිංහලට නගන්න.

i. කිං ඉදං?
ii. කො එසො?
iii. තං කථං හොති?
iv. කස්මා හෙතුනා ආගතොසි?
v. ත්වං කුහිං ගච්ඡසි?
vi. කො තුම්හාකං සහායො?
vii. කති වස්සොසි?
viii. කෙ එතෙ?
ix. කිං නිස්සාය ගච්ඡසි?
x. කුහිං තව භාතා?
xi. කථං සුඛදුක්ඛං?

xii. කත්ථ තව ගෙහං?
xiii. කස්මා ආගතොසි?
xiv. කුහිං තස්ස පොත්ථකං?
xv. ඉමෙසු කතරො පුරිසො තුය්හං භාතා?
xvi. කො තත්ථ සල්ලපති?
xvii. කුතො ආගතොසි?
xviii. කිං ඉච්ඡසි?
ixx කස්ස එසා ලෙඛනී?
xx කෙන ඉදං කතං?

# ද්වාදසමො පාඨො

# සිප්පෙසු කොවිදො හොහි

එකදිවසං එකා වනිතා අත්තනො පුත්තෙන සද්ධිං විහාරං ගච්ඡති. අථ තස්ස පුත්තො එකං යාචකං දිස්වා මාතරං පුච්ඡති.

''කො'යං අම්මා'ති?

මාතා වදති - යාචකො'යං තාතා'ති

යාචකො අම්ම, කිං නාම කරොතී'ති?

සො කිර පුත්ත, භික්ඛං යාචති, භික්ඛාය එව ජීවිකං කප්පෙතී'ති.

අම්ම, භික්ඛාචාරං කිර දුක්කරං.

අථ කස්මා සො භික්ඛාය ජීවිකං කප්පෙතී'ති?

''එසො කිර පුත්ත අලසො. අනාරද්ධවිරියො. සො දහරකාලෙ කිඤ්චි සිප්පං උග්ගණ්හිතුං න වායමි. මාතාපිතූසු ආචරියස්ස සන්තිකං පෙසෙන්තෙසු'පි න කිඤ්චි උග්ගණ්හි. තස්මා සො කිඤ්චි ජීවනොපායං න ජානාති. සිප්පං අජානන්තෙන භික්ඛාය විනා කත්තබ්බං නත්ථී''ති.

''නාහං අම්ම, භික්ඛාය ජීවිතුං ඉච්ඡාමි. අහං පන සාධුකං උග්ගණ්හිස්සාමී''ති

''සාධු තාත, සාධුකං උග්ගණ්හිත්වා සබ්බසිප්පෙසු කොවිදො හොහි. අථ සුඛං ජීවාහී''ති

''විජ්ජා දදාති විනයං
විනයෙන භවති ඡෙකතා
ඡෙකතා දෙති සම්පත්තිං
තෙන ධම්මං තතො සුඛං''

පද මාලාව

| | | | |
|---|---|---|---|
| **වනිතා** | (නා) | - | වනිතාව |
| **අත්තනො** | (නා) | - | තමාගේ |
| **සද්ධිං** | (නි) | - | සමග |
| **යාචකං** | (නා) | - | යාචකයකු |
| **දිස්වා** | (පූ.ක්‍රි) | - | දැක |
| **මාතරං** | (නා) | - | මව |
| **පුච්ඡති** | (ක්‍රි) | - | විමසයි |
| **කොයං** | (සං) | - | මේ කවරෙක් ද? |
| **අම්ම** | (නා) | - | මෑණියනි |
| **යාචකොයං** | (සං) | - | මේ සිඟන්නා |
| **කිර** | (නි) | - | වනාහි |
| **යාචති** | (ක්‍රි) | - | සිඟයි/ඉල්ලයි |

| | | | |
|---|---|---|---|
| කප්පෙති | (ක්‍රි) | - | පවත්වයි |
| භික්ඛාචාරං | (ස) | - | සිඟමන |
| දුක්කරං | (කි) | - | අපහසු |
| අලසො | (නා) | - | කම්මැළි |
| අනාරද්ධවීරියො | (ස) | - | උත්සාහය නැත්තා |
| දහරකාලෙ | (ස) | - | කුඩා කාලයේ |
| කිඤ්චි | (නි) | - | කිසියම් |
| සිප්පං | (නා) | - | ශිල්පයක් |
| උග්ගණ්හිතුං | (තු) | - | ඉගෙන ගන්නට |
| වායමි | (ක්‍රි) | - | වෑයම් කළේය |
| සන්තිකං | (නි) | - | සමීපයට |
| පෙසෙන්තසු | (කි) | - | යවද්දී |
| ජීවනොපායං | (සං) | - | ජීවනෝපායක් |
| ජානාති | (ක්‍රි) | - | දනියි |
| අජානන්තෙන | (කි) | - | නො දන්නා විසින් |
| කත්තබ්බං | (කි) | - | කළ යුතු |
| ජීවිතුං | (තු) | - | ජීවත් වීමට |
| ඉච්ඡාමි | (ක්‍රි) | - | කැමැත්තෙමි |
| උග්ගණ්හිස්සාමි | (ක්‍රි) | - | ඉගෙන ගනිමි |
| සබ්බසිප්පෙසු | (ස) | - | සියලු ශිල්පයන්හි |
| කොවිදො | (නා) | - | දක්ෂයෙක් |
| විජ්ජා | (නා) | - | විද්‍යාව |
| දදාති | (ක්‍රි) | - | දෙයි |
| විනයං | (නා) | - | විනය |
| ඡේකතා | (ත) | - | දක්ෂ බව |
| සම්පත්තිං | (නා) | - | සම්පත් |

**අභ්‍යාස**

1. 'සිප්පෙසු කොවිදො හොහි' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කෙ විහාරං ගච්ඡන්ති?
ii. කො යාචකං පස්සි?
iii. යාචකො කථං ජීවති?
iv. මාතා පිතරො යාචකං දහරකාලෙ කත්ථ පෙසෙසුං?
v. සබ්බසිප්පෙසු කොවිදො කථං ජීවති?

## සන්ධි I

ලෝප ආදේශ, ආගම ආදිය මගින් පූර්ව වර්ණය හා පර වර්ණය අතර හිඩැස නැතිවන සේ ගැළපීම සන්ධි නම් වේ. පූර්ව වර්ණය යනු පෙර පදයේ අග ඇති අකුර යි. පර වර්ණය යනු දෙවන පදයේ මුල ඇති අකුර යි.

කුසුමෙන + අනෙන = සන්ධි වන පද දෙක

කුසුමෙන් + අ + අනෙන

පූර්ව වර්ණය පර වර්ණය

පහත වගුව දෙස බලන්න.

| පූර්වපදය | පූර්වවර්ණය | පරවර්ණය | පරපදය |
|---|---|---|---|
| ලොක | අ | අ | අගෙගා |
| මුනි | ඉ | ඉ | ඉනෙදා |
| බහු | උ | උ | උපකාරං |
| සබෙබ | එ | එ | එව |
| සො | ඔ | අ | අපි |
| ති | ඉ | අ | අඞගිකං |
| සො | ඔ | ම් | මුනි |
| එවං | ං | ආ | ආදිනා |
| සොතුං | ං | ඉ | ඉච්ඡාමි |
| බුද්ධානං | ං | ස් | සාසනං |

### සන්ධි විධි

**ලොක** + **අගෙගා** යන දෙපදය '**ලොකගෙගා**' යනුවෙන් සන්ධි කිරීම සඳහා පූර්ව වර්ණය කපා හැරීමට සිදුවේ. ඉන් අනතුරුව පෙරපදයේ අග ඇති ව්‍යඤ්ජනයට **(ක්)** පර පදයේ මුල ඇති ස්වරය **(අ)** එකතු කළ යුතු ය. මෙසේ සන්ධි කිරීමට යොදා ගන්නා **ලෝප, ආදේශ, ආගම** ආදිය සන්ධි විධි නම් වේ.

පාලි භාෂාවේ සන්ධි විධි අටක් දක්නට ලැබේ.

1. ලෝපය
2. ආදේශය
3. ආගමය
4. ද්විත්වය
5. දීර්ඝය
6. හ්‍රස්වය
7. විපර්යාසය
8. ආරෝහණය

**ලෝපය** - ලෝපය යනු අකුරු නො පෙනීයාම යි. නො කියා හැරීම යි.

| | | | | |
|---|---|---|---|---|
| බුද්ධො | + | ඉති | | |
| බුද්ධො | + | ~~ඉ~~ | ති | ලෝපය |
| බුද්ධොති | | | | |

**ආදේශය** - අකුරක් වෙනුවට අකුරක් පැමිණවීම ආදේශය යි.

| | | | | |
|---|---|---|---|---|
| වස්ස | + | උදකෙන | | |
| වස්ස් | + | ~~අ~~ | උදකෙන | |
| වස්ස් | + | ඔදකෙන | | ආදේශය |
| වස්සොදකෙන | | | | |

**ආගම** - තිබෙන අකුරුවලට හානියක් නො කොට අමුතුවෙන් ම අකුරක් පැමිණීම ආගම යි.

| | | | | |
|---|---|---|---|---|
| පුන | + | ආගච්ඡති | | |
| පුන | + | ර් | ආගච්ඡති | ආගම |
| පුනරාගච්ඡති | | | | |

**ද්විත්වය** - අකුරක් අකුරු දෙකක් බවට පත්වීම ද්විත්වය යි.

| | | | | |
|---|---|---|---|---|
| ඉධ | + | පමාදො | | |
| ඉධ | + | ප් | පමාදො | ද්විත්වය |
| ඉධප්පමාදො | | | | |

**දීර්ඝය** - හ්‍රස්ව අකුරක් දීර්ඝ අකුරක් බවට වීම දීර්ඝය යි.

| | | | | |
|---|---|---|---|---|
| බහු | + | උපකාරං | | |
| බහ් | + | උපකාරං | | |
| බහ් | + | ඌ | පකාරං | දීර්ඝය |
| බහූපකාරං | | | | |

**හ්‍රස්වය** - දීර්ඝ අකුරක් හ්‍රස්ව අකුරක් බවට පත්වීම හ්‍රස්වය යි.

| | | | | |
|---|---|---|---|---|
| මහා | + | බලං | | |
| මහ් | + | ආ | බ්බලං | ද්විත්වය |
| මහ් | + | අ | බ්බලං | හ්‍රස්වය |
| මහබ්බලං | | | | |

**විපර්යාසය** - අකුරුවල ස්ථාන මාරුවීම විපර්යාසය යි.

| | | | | |
|---|---|---|---|---|
| බහු | + | ආබාධො | | |
| බහ් | + | ~~උ~~ | ආබාධො | |
| බහ් | + | ව් | ආබාධො | |
| බව් | + | හ් | ආබාධො | විපර්යාසය |
| බව්හාබාධො | | | | |

**ආරෝහණය** - ව්‍යඤ්ජනාක්ෂරයකට ස්වරයක් එක් කිරීම ආරෝහණය යි.

| | | | |
|---|---|---|---|
| තෙන | + | එව | |
| තෙන් | + | ~~අ~~ | එව |
| තෙනේව | | | ආරෝහණය |

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ලෝප, ආදේශ හා ආගම යන සන්ධි විධි සඳහා උදාහරණය බැගින් සපයන්න.
ii. පූර්ව වර්ණය හා පර වර්ණය යනු මොනවා ද?
iii. සන්ධි විධි අට නම් කරන්න.
vi. පහත දැක්වෙන පදවල පූර්ව වර්ණය හා පර වර්ණය වෙන් කර දක්වන්න.

සිගාලො + අපි
නගරෙ + එව
අව + ලොකෙත්වා
පති + ආගමි
එවං + ආහ
සෙට්ඨි + ඨානං
දෙවානං + ඉන්දො
ජීවන + උපායං
දුක්ඛ + පත්තො
අහං + එව

2. 'සිපෙපසු කොවිදො හොහි' ඡේදයෙහි ඇති සන්ධි පද උපුටා විසන්ධි කර දක්වන්න.

3. පහත දැක්වෙන පදවල සන්ධි විධි නම් කරන්න.

| | | | | |
|---|---|---|---|---|
| i. | වත | + | ඉදං | = වතිදං |
| ii. | අච්ඡරිය | + | පත්තො | = අච්ඡරියප්පත්තො |
| iii. | අථ | + | අපරභාගෙ | = අථාපරභාගෙ |
| iv. | සද්දං | + | අකාසි | = සද්දමකාසි |
| v. | ආකාසෙ | + | එව | = ආකාසෙව |
| vi. | ධූපෙන | + | එතෙන | = ධූපෙනෙතෙන |

4. පහත දැක්වෙන වාක්‍ය සිංහලට නගන්න.

i. අතීතෙ එකස්මිං වනසණ්ඩෙ සිගාලො විහාසි.
ii. පුරා ලඞ්කායං අනුරාධපුරපුලත්ථිපුරාදීනි නගරානි අභවිංසු.
iii. පුබ්බෙ විය සමපති නගරෙසු ගොපුරං වා අට්ටාලකං වා නත්ථි.
iv. අජ්ජ අස්මිං නගරෙ ධූමරථට්ඨානඤ්ච, සන්දෙසාගාරඤ්ච, අධිකරණසාලාදයොපි ච සන්ති.
v. තෙන හෙතුනා ගාමිණීකුමාරො දුට්ඨගාමිණී’ති පඤ්ඤායී.

5. පහත දැක්වෙන වාක්‍ය පාලියට නගන්න.

i. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ සැවැත්නුවර වැඩ වසන සේක.
ii. ඒ දේවතාවා එකත් පසෙක සිටියේය.
iii. සත්වයෝ ධර්මයෙන් සැප ලබත්.
iv. සූර්ය රශ්මියෙන් පියුම් පිපෙයි.
v. ඒ ශිෂ්‍යයෝ ගුරුවරයාගේ අවවාදය පිළිගත්හ.

# තෙරසමො පාඨො

# උපක්කමො

රාජා තං කාරණං දිස්වා භයප්පත්තො එසො ඛො මං මාරෙත්වා රජ්ජම්පි ගහිතුං සමත්ථො, එතං මාරෙතුං වට්ටතී'ති චින්තෙත්වා නගරං සම්පත්තො කුමාරං පක්කොසාපෙත්වා අමච්චෙ ආහ. ඉමං භණෙ බන්ධනාගාරෙ කරොථා'ති ආණාපෙසි. තෙ තථා කරිංසු' අථ'ස්ස වසන්තස්ස චත්තාරො මාසා අතික්කන්තා. තතො රාජා චතුමාසච්චයෙන දීඝතො සට්ඨිහත්ථප්පමාණෙ සට්ඨිවෙළුකලාපෙ ආහරාපෙත්වා ගණ්ඨියො සොධාපෙත්වා අන්තො අයොසාරං පූරෙත්වා රාජඞ්ගණෙ ඨපාපෙත්වා විසමලොමකුමාරං බන්ධනාගාරතො ආහරාපෙත්වා අමච්චෙ එවමාහ. භණෙ සචායං කුමාරො ඉමිනා ඛග්ගෙන වෙළුකලාපෙ චතුරඞ්ගුලං චතුරඞ්ගුලං කත්වා ඡින්දතු. නො චෙ ඡින්දිතුං සක්කොති, තං මාරෙථා'ති ආහ.

(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| දිස්වා | (පූ.ක්‍රි) | - | දැක |
| භයප්පත්තො | (සං) | - | බියට පැමිණියේ |
| එසො | (ස.නා) | - | මෙතෙමේ |
| මාරෙත්වා | (පූ.ක්‍රි) | - | මරා |
| සමත්ථො | (නා) | - | දක්ෂයෙකි |
| මාරෙතුං | (තු) | - | මරන්නට |
| වට්ටති | (ක්‍රි) | - | වටී |
| සම්පත්තො | (කි) | - | පැමිණියේ |
| පක්කොසාපෙත්වා | (පූ.ක්‍රි) | - | කැඳවා |
| බන්ධනාගාරෙ | (ස) | - | සිරගෙහි |
| දීඝතො | (ත) | - | දිගින් |
| සට්ඨිහත්ථප්පමාණෙ | (ස) | - | සැටරියන් පමණ |
| වෙළුකලාපෙ | (ස) | - | උණමිටි |
| ආහරාපෙත්වා | (පූ.ක්‍රි) | - | ගෙන්වාගෙන |
| ගණ්ඨියො | (නා) | - | ගැට |
| සොධාපෙත්වා | (පූ.ක්‍රි) | - | ශුද්ධ කොට |
| අයොසාරං | (ස) | - | යකඩකුරු |
| ඛග්ගෙන | (නා) | - | කඩුවෙන් |
| චතුරඞ්ගුලං | (ස) | - | සතර අඟලක් |
| ඡින්දිතුං | (තු) | - | සිඳින්නට |
| මාරෙථ | (ක්‍රි) | - | මරව් |

**අභ්‍යාස**

1. 'උපක්කමො' ඡේදය සිංහලට නඟන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. එතං මාරෙතුං වට්ටතීති කො චින්තෙසි?
ii. කෙ කං බන්ධනාගාරෙ ඨපෙසුං?
iii. බන්ධනාගාරෙ වසන්තස්ස තස්ස කති මාසා අතික්කන්තා?
iv. රාජා සට්ඨිවෙළුකලාපෙ ආහරිත්වා කිං කිං අකරි?
v. අනෙතා වෙළුකලාපෙ කානි පූරෙසි?

## සන්ධි II

පහත දැක්වෙන තද කළු අකුරින් මුද්‍රිත පදවලට අවධානය යොමු කරමින් හොඳින් කියවන්න.

- පූජෙමි බුද්ධං **කුසුමෙනනෙන**
- යං සච්චබද්ධගිරිකෙ **සුමනාචලග්ගෙ**
- තතො නං **සුඛමෙස්සති**
- **ඡායාව** අනපායිනී
- **චක්කංව** වහතො පදං

ඉහත පාලි පාඨවල **කුසුමෙන** + **අනෙන** යන දෙපදය '**කුසුමෙනනෙන**' යනුවෙන් ද, **සුමන** + **අචල** + **අග්ගෙ** යන පද '**සුමනාචලග්ගෙ**' යනුවෙන් ද **සුඛං** + **එස්සති** යන දෙපදය '**සුඛමෙස්සති**' යනුවෙන් ද, **ඡායා** + **ඉව** යන දෙපදය '**ඡායාව**' යනුවෙන් ද, **චක්කං** + **ඉව** යන දෙපදය '**චක්කංව**' යනුවෙන් ද සන්ධි වී තිබේ. එම පද සන්ධි නො වී තිබුණේ නම්,

- පූජෙමි බුද්ධං **කුසුමෙන** + **අනෙන**
- යං සච්චබද්ධගිරිකෙ **සුමන** + **අචල** + **අග්ගෙ**
- තතො නං **සුඛං** + **එස්සති**
- **ඡායා** + **ඉව** අනපායිනී
- **චක්කං** + **ඉව** වහතො පදං

උච්චාරණය කිරීමේ දී හා ලේඛනයේ දී අපහසුතා ඇති වේ. මේ නිසා පද සන්ධි කිරීමෙන් ප්‍රයෝජන කිහිපයක් සිදු වන බව පෙනේ.

- ලේඛනයට පහසුවීම
- සුබෝච්චාරණය
- පද්‍ය බන්ධනයේ දී ඡන්දස් රැකීම
- භාෂා භාවිතයේ දී ව්‍යක්ත බව

## සන්ධි ප්‍රභේද

පාලි භාෂාවේ සන්ධි අභ්‍යන්තර සන්ධි හා බාහිර සන්ධි යැයි ප්‍රධාන වශයෙන් ප්‍රභේද දෙකකි.

## අභ්‍යන්තර සන්ධි

තනි පදයක් තුළ සිදු වන්නේ අභ්‍යන්තර සන්ධිය යි. නාම, සමාස, තද්ධිත, කිතක හා ආඛ්‍යාත පද සාදා ගැනීම සඳහා ශබ්ද ප්‍රකෘතියකට හෝ ධාතුවකට ප්‍රත්‍යය එක් කෙරෙයි. මෙහි දී සිදු වන්නේ අභ්‍යන්තර සන්ධිය යි. අභ්‍යන්තර සන්ධිය අනිවාර්ය වේ.

| | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| බුද්ධ | + | සි | = බුද්ධො | | පච | + | අ | + | ති | පචති |
| නර | + | අං | = නරං | | ලිඛ | + | අ | + | අන්ති | ලිඛන්ති |
| වානර | + | එන | = වානරෙන | | ගමු | + | අ | + | සි | ගච්ඡසි |

## බාහිර සන්ධි

වෙන් වෙන් වශයෙන් ඇති පද දෙකක් අතර සිදු වන සන්ධිය බාහිර සන්ධිය යි. අභ්‍යන්තර සන්ධිය මෙන් බාහිර සන්ධිය අනිවාර්ය නො වන අතර ලේඛකයාගේ හෝ කථිකයාගේ හෝ කැමැත්ත පරිදි සන්ධි කිරීමට හෝ නො කර සිටීමට හැකි ය. පාලි භාෂාවේ බාහිර සන්ධි ප්‍රභේද හතරක් දක්නට ලැබේ.

- **ස්වර සන්ධිය**
- **නිග්ගහීත සන්ධිය**
- **ව්‍යඤ්ජන සන්ධිය**
- **වොමිස්සක සන්ධිය**

## ස්වර සන්ධිය

සන්ධි වන පද දෙකෙන් පූර්ව වර්ණය හා පර වර්ණය ස්වර නම් එය ස්වර සන්ධියට අයත් වේ.

| | | | |
|---|---|---|---|
| ලොක් | අ | + | අග්ගො |
| ඡාය් | ආ | + | ඉව |
| බන්ධුස්ස් | අ | + | ඉව |
| තථ් | ආ | + | එව |
| ස් | ඔ | + | අපි |

ස්වර සන්ධියේ ප්‍රභේද කිහිපයකි.

| | | | | | |
|---|---|---|---|---|---|
| 1 | පූර්ව ස්වරලෝපය | ලොක | + | අග්ගො | ලොකග්ගො |
| 2 | පර ස්වරලෝපය | පන | + | ඉමෙ | පනමෙ |
| 3 | අසවර්ණාදේශය | න | + | උපෙති | නොපෙති |
| 4 | යකාරාදේශය | පති | + | අනන්තං | පච්චනන්තං |
| 5 | වකාරාදේශය | සො | + | අස්ස | ස්වාස්ස |
| 6 | දකාරාදේශය | ඉධ | + | අහං | ඉදාහං |
| 7 | රිකාරාදේශය | යථා | + | එව | යථරිව |
| 8 | අබ්භාදේශය | අභි | + | උග්ගතො | අබ්භුග්ගතො |
| 9 | පූර්වස්වර දීර්ඝය | කිංසු | + | ඉධ | කිංසූධ |
| 10 | පරස්වර දීර්ඝය | සද්ධා | + | ඉධ | සද්ධීධ |
| 11 | ය,ව,ම,ද,න,ත,ර,ළ,ග ආගමය | තස්මා | + | ඉහ | තස්මාතිහ |

## පූර්ව ස්වරලෝපය

ස්වරයක් පර වූ විට පූර්වස්වරය ලොප් වේ. (සරා සරෙ ලොපං)

ලොක + අග්ගො - විසන්ධිය
ලොක් + අ + අග්ගො - පූර්ව වර්ණයේ ස්වර ව්‍යඤ්ජන වෙන් කිරීම
ලොක් + ~~අ~~ + අග්ගො - පූර්ව ස්වරලෝපය
ලොකග්ගො - සන්ධි පදය

තීණි + ඉමානි - තීණිමානි
සබ්බෙ + එව - සබ්බෙව
භික්ඛුනී + ඔවාදො - භික්ඛුනොවාදො
ධනමෙම + අත්ථි - ධනමමත්ථි
නො හි + එතං - නොහෙතං
සමෙතු + ආයස්මා - සමෙතායස්මා

## පර ස්වරලෝපය

අසමාන ස්වරයක් පර වූ විට පර ස්වරයට විකල්පයෙන් ලෝපය වේ. (වා පරො අසරූපා)

පන + ඉමෙ
පන + ~~ඉ~~ මෙ - පර ස්වරලෝපය
පනමෙ

යස්ස + ඉදානි - යස්සදානි
සඤ්ඤා + ඉති - සඤ්ඤාති
ඡායා + ඉව - ඡායාව
ආකාසෙ + ඉව - ආකාසෙව
චක්ඛු + ඉන්ද්‍රියං - චක්ඛුන්ද්‍රියං
වන්දෙ + අහං - වන්දෙහං

## අසවර්ණාදේශය

පූර්ව ස්වරයට ලොප් කළ විට පර ස්වරය වූ ඉකාර උකාර දෙකට පිළිවෙළින් එකාර ඔකාරාදේශය වේ. **(ක්වචාසවණ්ණං ලුත්තෙ)**

**බන්ධුස්ස + ඉව**
**බන්ධුස්ස් + අ + ඉව**
**බන්ධුස්ස් + ~~අ~~ + ඉව - පූර්ව ස්වරලෝපය**
**බන්ධුස්ස් + එව - අසවර්ණාදේශය**
**බන්ධුස්සෙව**

**න + උපෙති**
**න් + අ + උපෙති**
**න් + ~~අ~~ + උපෙති - පූර්ව ස්වරලෝපය**
**න් + ඔ පෙති - ඔකාරාදේශය**
**නොපෙති**

**චන්ද + උදයො - චන්දොදයො**
**යථා + උදකෙ - යථොදකෙ**
**සුරිය + උදයො - සුරියොදයො**

**උප + ඉක්ඛති - උපෙක්ඛති**
**උප + ඉතො - උපෙතං**
**ජින + ඊරිතං - ජිනෙරිතං**

## යකාරාදේශය

ස්වරයක් පර වූ විට ඉවර්ණයට යකාරයක් ආදේශ වේ. **(ඉවණ්ණො යන්නවා)**

**පති + අනන්තං**
**පත් + ඉ + අනන්තං**
**පත් + ය් + අනන්තං - යකාරාදේශය**
**පත් + ච් + අනන්තං - චකාරාදේශය**
**පච් + ච් + අනන්තං - ද්විත්වය**
**පච්චන්තං**

**අති + අනන්තං - අච්චන්තං**
**ඉති + එවං - ඉච්චෙවං**

**ඉති + ආහ - ඉච්චාහ**
**ඉති + ආදයො - ඉච්චාදයො**

★ සබ්බොචන්ති - යකාරයට චකාරයක් ආදේශ වීම.
★ පරද්වෙභාවො ඨානෙ - ස්ථානාසන්න වශයෙන් ද්විත්ව වීම.

ස්වරයක් පර වූ විට පූර්ව පද කෙළවර ඇති එකාරයට ද යකාරයක් ආදේශ වේ. **(යමෙදන්තස්සාදෙසො)**

**තෙ + අජ්ජ**
**ත් + එ + අජ්ජ**
**ත් + ය් + අජ්ජ - යකාරාදේශය**
**ත්‍යාජ්ජ**

**මෙ + අයං - ම්‍යායං**
**තෙ + අහං - ත්‍යාහං**

### වකාරාදේශය

ස්වරයක් පර වූ විට පූර්ව පදයේ කෙළවර ඇති ඔකාර උකාරයන්ට පිළිවෙළින් වකාරාදේශය වේ.

සො + අස්ස
ස් + ඔ + අස්ස
ස් + ව් + අස්ස - වකාරාදේශය
ස්වස්ස

අනු + එති
අන් + උ + එති
අන් + ව් + එති - වකාරාදේශය
අන්වෙති

අථ ඛො + අස්ස - අථඛ්වස්ස

අනු + අද්ධමාසං - අන්වද්ධමාසං

### රිකාරාදේශය

ස්වරයකින් පර වූ එකාරයට රිකාරයක් ආදේශ වේ. මුලින් ඇති දීර්ඝ ස්වරය හ්‍රස්ව වේ. (එවාදිස්සරි පුබ්බො ච රස්සො)

යථා + එව
යථා + රිව - රිකාරාදේශය
යථරිව - දීර්ඝ ස්වරය හ්‍රස්ව වීම

මෙම පද දෙක යථෙව යනුවෙන් ද සන්ධි වේ.

### අබ්භාදේශය

ස්වරයක් පර වූ විට 'අභි' ශබ්දයට 'අබ්භ' යන ආදේශය වේ. (අබ්භො අභි)

අභි + උග්ගතො
අබ්භ + උග්ගතො - අබ්භ ආදේශය
අබ්භ් + ~~අ~~ + උග්ගතො - පූර්ව ස්වරලෝපය
අබ්භුග්ගතො

### පූර්ව ස්වර දීර්ඝය

පරස්වරය ලොප් වූ විට පූර්ව ස්වරය දීර්ඝ වේ. (පුබ්බො ච)

කිංසු + ඉධ
කිංසු + ~~ඉ~~ - පර ස්වරලෝපය
කිංස් + උ + ධ
කිංස් + ඌ + ධ - පූර්ව ස්වරදීර්ඝය
කිංසූධ

ලොකස්ස + ඉති - ලොකස්සාති

සාධු + ඉති - සාධූති

## පර ස්වර දීර්ඝය

පූර්ව ස්වරය ලොප් වූ විට පර ස්වරය දීර්ඝ වේ. (දීඝං)

යානි + ඉධ
යාන් + ~~ඉ~~ ඉධ - පූර්ව ස්වරලෝපය
යාන් + ඊ ධ - පර ස්වරදීර්ඝය
යානීධ

| | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|
| සද්ධා | + | ඉධ | = | සද්ධීධ | තථා | + උපමං | = | තථූපමං |
| අති | + | ඉතො | = | අතීතො | බුද්ධ | + අනුස්සති | = | බුද්ධානුස්සති |

## ය ව ම ද න ත ර ළ ග ආගමය

ස්වර දෙකක් අතරට ය ව ම ද න ත ර ළ ග යන අකුරු ආගම වේ. (යවමදනතරළාචාගමා)

න + ඉමස්ස
න + ය් + ඉමස්ස - යකාරාගමය
නයිමස්ස

| | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|
| ති | + අඞ්ගිකං | = | තිවඞ්ගිකං | ඉතො | + | ආයති | = | ඉතොනායති |
| ලහු | + එස්සති | = | ලහුමෙස්සති | තස්මා | + | ඉහ | = | තස්මාතිහ |
| අත්ත | + අත්ථං | = | අත්තදත්ථං | සබ්භි | + | එව | = | සබ්භිරෙව |
| ඡ | + අභිඤ්ඤා | = | ඡළභිඤ්ඤා | පුථ | + | එව | = | පුථගෙව |

**අභ්‍යාස**

1. පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ප්‍රධාන සන්ධි ප්‍රභේද නම් කරන්න.
ii. සන්ධි ප්‍රයෝජන ලියා දක්වන්න.
iii. ස්වර සන්ධි ප්‍රභේද ලියා දක්වන්න.
iv. ස්වර සන්ධි ප්‍රභේදයන්ට අදාළ බාලාවතාර සූත්‍රපාඨ ලියන්න.

2. 'උපක්කමො' ඡේදයේ ඇති සන්ධි පද උපුටා දක්වන්න.

3. පහත දැක්වෙන විසන්ධි පද සන්ධි කරන්න.

i. තෙන + එව
ii. පන + එකදා
iii. චිරෙන + එව
iv. ඉති + ආදීනි
v. වස්ස + උදකෙන
vi. පාතො + එව
vi. නගරෙ + එව
vii. පති + ආගමි
viii. පන + එසො
ix. ඉදානි + අපි
x. පාදෙ + අපි
xi. අභි + උග්ගතො

4. පහත සඳහන් සන්ධිපද විසන්ධි කරන්න.

i. තස්මාතිහ
ii. ආකාසෙව
iii. තථූපමං
iv. නාතික්කමති
v. සාධූති
v. මාතාති
vi. අතීව
vii. තථාපි
viii. සුරියාලොකං
ix. පුථගෙව

5. පහත සඳහන් සන්ධි ප්‍රභේද සඳහා නිදසුන් දෙක බැගින් දෙන්න.

i. පූර්ව ස්වර ලෝපය
ii. පර ස්වර ලෝපය
iii. අසවර්ණාදේශය
iv. අබ්භාදේශය

# චුද්දසමො පාඨො

# අච්ඡරියං

තං සුත්වා'පි රාජා අසද්දහන්තො මනුස්සෙ ආණාපෙසි. එතාය හත්ථපාදෙ ගහෙත්වා අග්ගිම්හි පක්ඛිපථා'ති. තෙ තථා කරිංසු. අථ සා අග්ගිම්හි පක්ඛිපමානා නත්ථඤ්ඤො මෙ කොචි පටිසරණො'ති සරණමෙව සරණං කරොමී'ති චින්තෙත්වා බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සඞ්ඝං සරණං ගච්ඡාමී'ති වදන්තී, මනසා ච අනුස්සරන්තී, අග්ගිම්හි පති. තතො තථාවිධො'පි සො අග්ගි තස්සා සරීරෙ ලොමකූපමත්තම්පි උණ්හාකාරං කාතුං නාසක්ඛි. පදුමගබ්භං පවිට්ඨා විය සීතිභූතසරීරා අහොසි. රාජා තං අච්ඡරියං දිස්වා සංවිග්ගො ලොමහට්ඨජාතො වෙගෙන තං උපසඞ්කමිත්වා උභොහි හත්ථෙහි පග්ගය්හ උරෙ නිපජ්ජාපෙත්වා රාජාසනෙ නිසීදාපෙත්වා අඤ්ජලිං පග්ගය්හ ඨිතො කස්මා තෙ තං අග්ගි සරීරං මා පරිදහී'ති පුච්ඡි.

**(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **අසද්දහන්තො** | (කි) | - | විශ්වාස නො කරන්නේ |
| **ආණාපෙසි** | (ක්‍රි) | - | අණ කළේය |
| **එතාය** | (ස.නා) | - | මැයගේ |
| **පක්ඛිපථ** | (ක්‍රි) | - | බහව් (දමව්) |
| **කරිංසු** | (ක්‍රි) | - | කළහ |
| **පක්ඛිපමානා** | (කි) | - | දමනු ලබන්නී |
| **පටිසරණො** | (නා) | - | පිළිසරණක් |
| **වදන්තී** | (කි) | - | කියන්නී |
| **තථාවිධො** | (නි) | - | මෙබඳු |
| **ලොමකූපමත්තං** | (ස) | - | ලෝම ගසක් පමණ |
| **උණ්හාකාරං** | (නා) | - | උණු වූ සෙයක් |
| **පවිට්ඨා** | (කි) | - | පිවිසියෙකු |
| **සීතිභූත** | (කි) | - | සිහිල් වූ |
| **අච්ඡරියං** | (නා) | - | ආශ්චර්ය |
| **සංවිග්ගො** | (කි) | - | කලකිරුණේ |
| **ලොමහට්ඨජාතො** | (කි) | - | ලොමු ඩැහැගත්තේ |
| **උභොහි හත්ථෙහි** | (නා) | - | අත් දෙකින් |
| **පග්ගය්හ** | (පූ.ක්‍රි) | - | ගෙන |
| **නිපජ්ජාපෙත්වා** | (පූ.ක්‍රි) | - | හොවා |
| **රජාසනෙ** | (ස) | - | රාජාසනයෙහි |
| **ඨිතො** | (කි) | - | සිටියේ |
| **පුච්ඡි** | (ක්‍රි) | - | විචාළේය |

**අභ්‍යාස**

1. 'අච්ඡරියං' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කො මනුස්සෙ ආණාපෙසි?
ii. තෙ මනුස්සා කිං කරිංසු?
iii. සා කිං අනුස්සරි?
iv. රාජා කිං දිස්වා ලොමහට්ඨජාතො අහොසි?
v. තං දිස්වා රාජා කිං අකරි?

## සන්ධි III

### ව්‍යඤ්ජන සන්ධි

පූර්ව වර්ණය ස්වරයක් වී පර වර්ණය ව්‍යඤ්ජනයක් ද වේ නම් එම පද දෙක සන්ධි වන්නේ ව්‍යඤ්ජන සන්ධි විධියෙනි.

**ඉධ + පමාදො**
**ඉධ + ප් + පමාදො - ව්‍යඤ්ජන ද්විත්වය**
**ඉධප්පමාදො**

**සො + භික්ඛු**
**ස් + ඔ + භික්ඛු**
**ස් + ~~ඔ~~ + භික්ඛු - ඔකාර ලෝපය**
**ස් + අ + භික්ඛු - අකාරාගමය**
**සභික්ඛු**

### ව්‍යඤ්ජන සන්ධි ප්‍රභේද

- පූර්ව ස්වරලෝපය හා ස්වරාගමය
- ව්‍යඤ්ජන ද්විත්වය
- අල්පප්‍රාණාක්ෂර ආදේශය
- ඔකාර ආදේශය
- අව ආදේශය

### පූර්ව ස්වරලෝපය හා ස්වරාගමය

ස්වරයකට පර ව ව්‍යඤ්ජනාක්ෂරයක් ඇති විට එම ස්වරය ලොප් වේ. එම ස්වරය ලොප් වූ ස්ථානයට අකාරයක් ආගම වේ. විකල්පයෙන් උකාරයක් හා ඔකාරයක් ද ආගම වේ. **(ලොපඤ්ච තත්‍රාකාරො)**

එසො + මග්ගො
එස් + ඔ + මග්ගො
එස් + ~~ඔ~~ + මග්ගො - ඔකාරලෝපය
එස් + අ + මග්ගො - අකාරාගමය
එසමග්ගො

| | | | | |
|---|---|---|---|---|
| සො | + | සීලවා | - | සසීලවා |
| කච්චිනු | + | ත්වං | - | කච්චිනොත්වං |
| එසො | + | ධම්මො | - | එසධම්මො |
| ජානෙම | + | තං | - | ජානෙමුතං |

## ව්‍යඤ්ජන ද්විත්වය

ස්වරයකට පර ව ඇති ව්‍යඤ්ජනාක්ෂරයක් සුදුසු ස්ථානයේ දී ද්විත්ව වේ. (පරද්වෙභාවො ඨානෙ)

වි + පයුත්තො
වි + ප් + පයුත්තො - ව්‍යඤ්ජන ද්විත්වය
විප්පයුත්තො

| | | | | |
|---|---|---|---|---|
| අ | + | පමාදො | - | අප්පමාදො |
| දු | + | ගතො | - | දුග්ගතො |
| මහා | + | බලො | - | මහබ්බලො |
| සු | + | පතිට්ඨිතො | - | සුප්පතිට්ඨිතො |

## අල්පප්‍රාණාක්ෂර ආදේශය

ඝෝෂ අඝෝෂ වූ සතරවන දෙවන වර්ගාක්ෂරයන්ට පිළිවෙළින් තෙවන පළමුවන වර්ගාක්ෂර ආදේශ වේ. (වග්ගෙ ඝොසාඝොසානං තතිය පඨමා)

උ + ඝොසො
උ + ඝ් + ඝොසො - ව්‍යඤ්ජන ද්විත්වය
උ + ග් + ඝොසො - අල්පප්‍රාණාක්ෂර ආදේශය
උග්ඝොසො

| | | | | |
|---|---|---|---|---|
| ප | + | ඝරති | - | පග්ඝරති |
| දු | + | භික්ඛ | - | දුබ්භික්ඛ |
| පඤ්ච | + | ඛන්ධ | - | පඤ්චක්ඛන්ධ |
| පඨම | + | ඣානං | - | පඨමජ්ඣානං |

ඔකාරාගමය

ස්වරයකට පර ව ව්‍යඤ්ජනාක්ෂරයක් ඇති විට ඇතැම් තැනක ඔකාරයක් ආගම වේ. **(ක්‍වචි ඔ බ්‍යඤ්ජනෙ)**

**පර + සහස්සං**
**පර + ඔ + සහස්සං** - **ඔකාරාගමය**
**පර් + ඔ + සහස්සං** - **පූර්ව ස්වරලෝපය**
**පරොසහස්සං**

අව ආදේශය

තැනක 'අව' උපසර්ගයට ඔකාරයක් ආගම වේ. **(ඔ අවසෙස)**

**අව + නද්ධා**
**ඔ + නද්ධා**
**ඔනද්ධා**

**නිග්ගහීත සන්ධිය**

බින්දුවට පර ව ස්වරයක් හෝ ව්‍යඤ්ජනයක් ඇති විට ලෝපාදි ව්‍යාකරණ විධි මගින් සිදු වන සන්ධිය නිග්ගහීත සන්ධිය යි.

**චක්කං + ඉව**
**චක්කං + ව** - **පර ස්වරලෝපය**
**චක්කංව**

**රණං + ජහො**
**රණඤ් + ජහො** - **ඤකාරාදේශය**
**රණඤ්ජහො**

**ඉදං + අවොච**
**ඉදම් + අවොච** - **මකාරාදේශය**
**ඉදමවොච**

**නිග්ගහීත සන්ධි ප්‍රභේද**

- වර්ගාන්ත ආදේශය
- ලකාර ආදේශය
- මකාර හා දකාර ආදේශය
- ඤකාර ආදේශය
- නිග්ගහීත ආගමය
- නිග්ගහීත ලෝපය
- ස්වර ලෝපය

## වර්ගාන්ත ආදේශය

වර්ගාක්ෂරයක් පර වූ විට මුලින් ඇති නිග්ගහීතයට පර ව ඇති වර්ගයේ අන්තයේ ඇති අක්ෂරය ආදේශ වේ. **(වගගනතං වා වගෙග)**

**කිං + කතො**
**කිඞ් + කතො - ඞකාරාදේශය**
**කිඞකතො**

**සං + ජාතො**
**සඤ් + ජාතො - ඤකාරාදේශය**
**සඤජාතො**

**සං + ගහො = සඞගහො**
**සං + කපප = සඞකපප**
**ධමමං + චරෙ = ධමමඤචරෙ**
**සං + ඨිතො = සණඨිතො**
**තං + ඨානං = තණඨානං**
**තං + ධනං = තනධනං**
**සං + භූතො = සමභූතො**

## ලකාර ආදේශය

බින්දුවට පරව ලකාරා ය ඇති විට එම බින්දුවට ලකාරයක් ආදේශ වේ. **(වකාරෙනෙව ලෙලො ච)**

**සං + ලාප**
**සල් + ලාප - ලකාරාදේශය**
**සලලාප**

**සං + ලෙඛ**
**සලෙලඛ - ලකාරාදේශය**

**පුං + ලිඞග**
**පුලලිංග - ලකාරාදේශය**

**සං + ලකෙකතවා**
**සලලකෙකතවා - ලකාරාදේශය**

### මකාර හා දකාර ආදේශ

බින්දුවට පර ව ස්වරයක් ඇති විට එම බින්දුවට මකාරයක් හෝ දකාරයක් ආදේශ වේ. **(මදාසරෙ)**

**එවං + අස්ස**
**එවම් + අස්ස - මකාරාදේශය**
**එවමස්ස**

**එතං + අවොච**
**එතද් + අවොච - දකාරාදේශය**
**එතදවොච**

**තං + අහං - තමහං**
**කිං + එතං - කිමෙතං**
**යං + අනිච්චං - යදනිච්චං**
**තං + අනත්තා - තදනත්තා**

### ඤකාර ආදේශය

එකාරය හෝ හකාරය පර වූ විට බින්දුවට ඤකාරයක් ආදේශ වේ. **(එහෙඤ්ඤං)**

| | | | |
|---|---|---|---|
| තං | + එව | | |
| තඤ් | + එව | | - ඤකාරාදේශය |
| තඤ් | + ඤ් | එව | - ද්විත්වය |
| තඤ්ඤෙව | | | |

| | | | |
|---|---|---|---|
| තං | + | හි | |
| තඤ් | + | හි | - ඤකාරාදේශය |
| තඤ්හි | | | |

### නිග්ගහීත ආගමය

ස්වරයක් හෝ ව්‍යඤ්ජනයක් පර වූ විට නිග්ගහීතයක් ආගම වේ. **(නිගහීතඤ්ච)**

**චක්ඛු + අනිච්චං**
**චක්ඛු + ං + අනිච්චං - නිග්ගහීතාගමය**
**චක්ඛුංඅනිච්චං**

**අව + සිරො - අවංසිරො**
**චක්ඛු + උදපාදි - චක්ඛුංඋදපාදි**
**අනු + ථූලං - අනුංථූලං**

**නිග්ගහීත ලෝපය**

බින්දුවට පර ව ස්වරයක් හෝ ව්‍යඤ්ජනයක් ඇති විට ඇතැම් අවස්ථාවක බින්දුව ලොප් වේ. **(ක්වචි ලොපං) (බ්‍යඤ්ජනෙ ච)**

**විදූනං + අග්ගං**
**විදූන + ~~ං~~ + අග්ගං - නිග්ගහීතලෝපය**
**විදූන් + ~~අ~~ + අග්ගං - පූර්ව ස්වරලෝපය**
**විදූනග්ගං**

**තාසං + අහං - තාසාහං**
**බුද්ධානං + සාසනං - බුද්ධානසාසනං**
**සච්චානං + දස්සනං - සච්චානදස්සනං**

**පර ස්වරලෝපය**

නිග්ගහීතයට පර ව ඇති ස්වරය ඇතැම් විටක ලොප් වේ. **(පරො වා සරො)**

**බීජං + ඉව**
**බීජං + ~~ඉ~~ ව - පර ස්වරලෝපය**
**බීජංව**

**චක්කං + ඉව - චක්කංව**

පර ස්වරය ලොප් වූ විට බින්දුවට වර්ගාන්තාදේශය වූ තැන් ද දක්නට ලැබේ.

**කතං + ඉති**
**කතං + ~~ඉ~~ ති - පර ස්වරලෝපය**
**කතන් + ති - වර්ගාන්තාදේශය**
**කතන්ති**

**අභිනන්දුං + ඉති - අභිනන්දුන්ති**
**අප්පං + අපි - අප්පම්පි**
**දුතියං + අපි - දුතියම්පි**

**අභ්‍යාස**

පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. ව්‍යඤ්ජන සන්ධිය හඳුන්වා උදාහරණ දෙකක් ලියන්න.
ii. ව්‍යඤ්ජන සන්ධියේ ප්‍රභේද නම් කරන්න.
iii. ව්‍යඤ්ජන ද්විත්වයට හා අල්පප්‍රාණාක්ෂරාදේශයට නිදසුන් පහ බැගින් සොයා ලියන්න.
iv. නිග්ගහීත සන්ධියේ ප්‍රභේද ලියා දක්වන්න.
v. වර්ගාන්තාදේශයට නිදසුන් සොයා ලියන්න.
vi. ඉහත සඳහන් 'අච්ඡරියං' ඡේදයේ ඇති සන්ධි පද විසන්ධි කර ඒවා කිනම් සන්ධි ප්‍රභේදයකට අයත් දැයි ලියා දක්වන්න.

# පඤ්චදසමො පාඨො

# ගන්ථධුරං විපස්සනාධුරං

අතීතෙ සාවත්ථියං සහායකා දෙව කුලපුත්තා විහාරං ගන්ත්වා සත්ථුධම්මදෙසනං සුත්වා පබ්බජිංසු. තෙ පඤ්චවස්සානි ආචරියුපජ්ඣායානං සන්තිකෙ වසිත්වා සත්ථාරං උපසඞ්කමිත්වා 'සාසනෙ කති ධුරානී'ති පුච්ඡිංසු. සත්ථා සාසනෙ ගන්ථධුරං විපස්සනා ධුරන්ති දෙව ධුරානී'ති ආහ. තෙසු එකො අහං විපස්සනාධුරං පූරෙස්සාමී'ති විපස්සනං කථාපෙත්වා වායමන්තො සහපටිසම්භිදාහි අරහත්තං පාපුණි. ඉතරො අහං ගන්ථධුරං පූරෙස්සාමී'ති තෙපිටකං බුද්ධවචනං උග්ගණ්හිත්වා තෙ ගතගතට්ඨානෙ ධම්මං දෙසෙති. සරභඤ්ඤං භණති. පඤ්චන්නං භික්ඛුසතානං ධම්මං වාචෙති. භික්ඛූ සත්ථුසන්තිකෙ කම්මට්ඨානං ගහෙත්වා ඉතරං ථෙරං උපසඞ්කමිත්වා තස්සොවාදෙ ඨත්වා අරහත්තං පත්වා ථෙරං වන්දිත්වා 'සත්ථාරං දට්ඨුකාමම්හා'ති වදන්ති.

(පාලි කථාමඤ්ජරී)

පදමාලාව

| | | | |
|---|---|---|---|
| සහායකා | (නා) | - | යහළුවෝ |
| දෙව | (නා) | - | දෙදෙනෙක් |
| කුලපුත්තා | (ස) | - | කුලපුත්‍රයෝ |
| සත්ථුධම්මදෙසනං | (ස) | - | ශාස්තෘන් වහන්සේගේ ධර්මදේශනය |
| පබ්බජිංසු | (ක්‍රි) | - | පැවිදි වූහ |
| පඤ්චවස්සානි | (ස) | - | අවුරුදු පහක් |
| ආචරියුපජ්ඣායානං | (ස) | - | ආචාර්ය උපාධ්‍යායන් වහන්සේලාගේ |
| වසිත්වා | (පූ.ක්‍රි) | - | වාසය කොට |
| සත්ථුසාසනෙ | (ස) | - | ශාස්තෘන් වහන්සේගේ ශාසනයෙහි |
| කති | (නි) | - | කෙතෙක් ද? |
| ධුරානි | (නා) | - | ධුරයෝ |
| පුච්ඡිංසු | (ක්‍රි) | - | විචාළහ |
| ගන්ථධුරං | (ස) | - | ග්‍රන්ථ ධුරය |
| විපස්සනාධුරං | (ස) | - | විදර්ශනා ධුරය |
| තෙසු | (ස.නා) | - | ඔවුන් අතරෙහි |
| පූරෙස්සාමි | (ක්‍රි) | - | පුරන්නෙමි |
| කථාපෙත්වා | (පූ.ක්‍රි) | - | කියන්නට සලස්වා |
| වායමන්තො | (කි) | - | උත්සාහ කරමින් |
| සහපටිසම්භිදාහි | (නා) | - | විශිෂ්ට ඥානයන් සහිත ව (පිළිසිඹියා සමග) |

| | | | |
|---|---|---|---|
| අරහත්තං | (ත) | - | රහත් බවට |
| පාපුණි | (ක්‍රි) | - | පැමිණියේය |
| ඉතරො | (ස.නා) | - | අනෙක් තැනැත්තා |
| පූරෙස්සාමි | (ක්‍රි) | - | පුරන්නෙමි |
| බුද්ධවචනං | (ස) | - | බුද්ධ දේශනාව |
| උග්ගණ්හිත්වා | (පූ.ක්‍රි) | - | ඉගෙනගෙන |
| ගතගතට්ඨානෙ | (ස) | - | ගිය ගිය තැන |
| දෙසෙති | (ක්‍රි) | - | දේශනා කරයි |
| සරභඤ්ඤං | (නා) | - | (මිහිරි ලෙස) හඬනගා කීම |
| භණති | (ක්‍රි) | - | දේශනා කරයි |
| පඤ්චන්නං භික්ඛුසතානං | (ස) | - | පන්සියයක් භික්ෂූන්ට |
| වාචෙති | (ක්‍රි) | - | උගන්වයි |
| සත්ථුසන්තිකෙ | (ස) | - | ශාස්තෘන් වහන්සේ සමීපයෙහි |
| කම්මට්ඨානං | (නා) | - | කමටහන් |
| තස්සොවාදෙ | (සං) | - | උන්වහන්සේගේ අවවාදයෙහි |
| ඨත්වා | (පූ.ක්‍රි) | - | සිට |
| වන්දිත්වා | (පූ.ක්‍රි) | - | වැඳ |
| දට්ඨුකාමම්හාති | (සං) | - | දකිනු කැමැත්තෝ වෙමු |
| වදන්ති | (ක්‍රි) | - | කියති |

**අභ්‍යාස**

1. 'ගන්ථධුරං විපස්සනාධුරං' පාඨය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සහායකා දෙව කුලපුත්තා කිං සුත්වා පබ්බජිංසු?
ii. ද්වින්නං සහායකානං එකො කථං අරහත්තං පාපුණි?
iii. ද්වින්නං සහායකානං ඉතරො කිං අකාසි?
iv. තෙ පඤ්චවස්සානි ආචරියුපජ්ඣායානං සන්තිකෙ වසිත්වා සත්ථාරං උපසඞ්කමිත්වා කිං පුච්ඡිංසු?
v. සත්ථුසාසනෙ කති ධුරානි?

## සමාස නාම I

පද දෙකක් හෝ ඊට වැඩි ගණනක් හෝ එක් පදයක් වන සේ යෙදීම 'සමාස' නම් වේ.

| | | | |
|---|---|---|---|
| උදා:- | බුද්ධස්ස රූපං | = බුද්ධරූපං | (බුද්ධ රූපය) |
| | දෙවා ච මනුස්සා ච | = දෙවමනුස්සා | (දෙව්මිනිස්සු) |
| | ගාමං ගතො | = ගාමගතො | (ගමට ගිය) |

මෙහි 'බුද්ධස්ස' සහ 'රූපං' යන පද දෙක එකතු වී එක් පදයක් බවට පත් වී ඇත. මෙසේ පද කෙටි කිරීමෙන් හෙවත් සමාස කිරීමෙන් එක් පදයක් බවට පත් වීම, එකට උච්චාරණය කිරීමට හැකි වීම, එක් විභක්තියක් ගැනීම, භාෂාව අලංකාර වීම ආදි ප්‍රයෝජන ලැබේ.

**සමාස ප්‍රභේද**

සමාස වන පදයන්ගේ ස්වරූපය අනුව සමාස ප්‍රභේද හයක් වේ.

1. **කම්මධාරය**
2. **දිගු**
3. **තප්පුරිස**
4. **ද්වන්ද**
5. **බහුබ්බීහි**
6. **අව්‍යයීභාව** වශයෙනි.

**1. කම්මධාරය සමාසය**

විශේෂණ පදයක් විශේෂ්‍ය පදයක් හා එකට ගැළපීම 'කම්මධාරය' සමාස නම් වේ.

| | | |
|---|---|---|
| **මහන්තො වීරො** | = **මහාවීරො** | (මහාවීර) |
| **සාරිපුත්තො ච සො ථෙරො චාති** | = **සාරිපුත්තත්ථෙරො** | (සැරියුත් තෙරුන්) |
| **අන්ධො ච සො බධිරො චාති** | = **අන්ධබධිරො** | (අඳබිහිරි) |
| **ධම්මො ඉති බුද්ධි** | = **ධම්මබුද්ධි** | (ධර්ම බුද්ධිය) |
| **ගුණො එව ධනං** | = **ගුණධනං** | (ගුණධනය) |

**2. දිගු සමාසය**

සමාස වන පදයන්ගෙන් මුල් පදය සංඛ්‍යාවාචී පදයක් නම් ඒ සමාසය 'දිගු' නම් වේ.

| | | |
|---|---|---|
| **චතස්සො දිසා** | = **චතුද්දිසා** | (සිවුදිසා) |
| **පඤ්ච සීලානි** | = **පඤ්චසීලං** | (පන්සිල්) |
| **තයො භවා** | = **තිභවං** | (භව තුනක්) |

**3. තප්පුරිස සමාසය**

දුතියා ආදි විභක්ත්‍යන්ත පදයක් පර පදයක් සමග ගළපා සමාස කිරීම 'තප්පුරිස' සමාස නම් වේ.

| | | |
|---|---|---|
| **සරණං ගතො** | = **සරණගතො** | (සරණ ගිය) |
| **බන්ධනා මුත්තො** | = **බන්ධනමුත්තො** | (බන්ධනයෙන් මිදුණු) |
| **ධම්මෙ රතො** | = **ධම්මරතො** | (දහමෙහි ඇලුණු) |
| **පියෙහි විප්පයොගො** | = **පියවිප්පයොගො** | (ප්‍රියයන්ගෙන් වෙන් වූ) |
| **රාජතො භයං** | = **රාජභයං** | (රජ බිය) |

**අභ්‍යාස**

1. පහත සඳහන් පද සමාස කරන්න.

i. පඤ්ඤා එව රතනං
ii. බුද්ධො ච සො නාගො ච ඉති
iii. ගාමං ගතො
iv. අග්ගිතො භයං
v. විඤ්ඤූහි ගරහිතො

2. පහත සඳහන් සමාස පදයන්හි විග්‍රහ වාක්‍යය ලියන්න.

i. විකාලභොජනං
ii. බුද්ධධම්මො
iii. චොරභයං
iv. තිලොකං
v. මහාවීරො

3. පහත සඳහන් සමාස පදයන්හි ප්‍රභේද දක්වන්න.

i. ධම්මබුද්ධි
ii. චක්ඛුසොතං
iii. චතුසච්චං
iv. මහාබලං
v. තිදණ්ඩං
vi. නීලුප්පලං
vii. රුක්ඛසාඛා
viii. තිභවං
ix. බුද්ධසාවකො
x. සද්ධාධනං

4. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. සො දුග්ගතකුලං පස්සති.
ii. පුරිසො තිණ්හඵරසුනා රුක්ඛං ඡින්දති.
iii. උපාසකො සද්ධම්මං උග්ගණ්හාති.
iv. මහාථෙරො පිණ්ඩාය ගාමං පාවිසි.
v. සො උණ්හොදකං මුඛෙ ආසිඤ්චති.

5. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. ඔහු ත්‍රිපිටක බුද්ධ වචනය ඉගෙන ගනියි.
ii. ආනන්ද, අනිත්‍ය සංඥාව කවරේ ද?
iii. රාජ පුරුෂයෝ සොරුන් ලුහුබඳිති.
iv. දුකට පත් මිනිසා ආහාර ඉල්ලයි.
v. උපාසකයා පන්සිල් රකියි.

# සොළසමො පාඨො

# මිත්තධම්මො

සො වම්මිකා නික්ඛම්ම තං තථා නීයමානං දිස්වා සංවිග්ගො දුක්ඛප්පත්තො සහායස්ස මෙ අජ්ජ අවසෙසන උපත්ථම්භං භවිතුං වට්ටතී'ති, තං සමස්සාසෙත්වා අත්තභාවං විජහිත්වා අඤ්ඤතරවෙසෙන රාජපුරිසෙ උපසඞ්කම්ම ඉමං පුරිසං මුහුත්තං මා මාරෙථා'ති දළ්හං වත්වා සො මුහුත්තෙන රඤ්ඤො අග්ගමහෙසියා වසනට්ඨානං ගන්ත්වා සප්පවණ්ණෙන දෙවිං ඩසිත්වා තාය විසෙන මුච්ඡිතකාලෙ මනුස්සවණ්ණෙන වජ්ඣප්පත්තො විසොසධං ජානාතී'ති වත්වා තං ඛණෙයෙව සහායස්ස සන්තිකං ගන්ත්වා රඤ්ඤො තව පක්කොසිතකාලෙ ගන්ත්වා උදකප්පසතෙන දෙවියා සරීරෙ පහරිත්වා නිබ්බිසං කරොහී'ති වත්වා පක්කාමි.

**(රසවාහිනී)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **වම්මිකා** | **(නා)** | - | තුඹසින් |
| **නික්ඛම්ම** | **(පූ.ක්‍රි)** | - | නික්ම |
| **තථා** | **(නි)** | - | එසේ |
| **නීයමානං** | **(කි)** | - | ගෙනයනු ලබන |
| **තං** | **(ස.නා)** | - | ඒ (පුරුෂයා) |
| **දිස්වා** | **(පූ.ක්‍රි)** | - | දැක |
| **සංවිග්ගො** | **(ක්‍රි)** | - | කලකිරුණේ |
| **දුක්ඛප්පත්තො** | **(ස)** | - | දුකට පැමිණියේ |
| **මෙ** | **(ස.නා)** | - | මාගේ |
| **සහායස්ස** | **(නා)** | - | යහළුවාට |
| **අජ්ජ** | **(නි)** | - | අද |
| **උපත්ථම්භං** | **(නා)** | - | උපකාර/ පිහිට |
| **භවිතුං** | **(තු)** | - | වන්නට |
| **වට්ටති** | **(ක්‍රි)** | - | වටී |
| **ඉති** | **(නි)** | - | යැයි |
| **සමස්සාසෙත්වා** | **(පූ.ක්‍රි)** | - | අස්වසා |
| **අත්තභාවං** | **(ස)** | - | ආත්මභාවය |
| **විජහිත්වා** | **(පූ.ක්‍රි)** | - | අත්හැර |

| | | | |
|---|---|---|---|
| අඤ්ඤතරවෙසෙන | (ස) | - | එක්තරා වේශයකින් |
| රාජපුරිසෙ | (ස) | - | රාජ පුරුෂයන් |
| උපසඞ්කම්ම | (පූ.ක්‍රි) | - | එළඹ |
| ඉමං | (ස.නා) | - | මේ |
| පුරිසං | (නා) | - | පුරුෂයා |
| මුහුත්තං | (නා) | - | මොහොතක් |
| මා | (නි) | - | එපා (නො) |
| මාරෙථ | (ක්‍රි) | - | මරව් |
| වත්වා | (පූ.ක්‍රි) | - | කියා |
| රඤ්ඤො | (නා) | - | රජුගේ |
| අග්ගමහෙසි | (ස) | - | අගමෙහෙසිය |
| වසනට්ඨානං | (ස) | - | වසන තැනට |
| ගන්ත්වා | (පූ.ක්‍රි) | - | ගොස් |
| සප්පවණ්ණෙන | (ස) | - | සර්ප වේශයෙන් |
| දෙවිං | (නා) | - | දේවිය |
| ඩසිත්වා | (පූ.ක්‍රි) | - | දෂ්ට කොට |
| තාය | (ස.නා) | - | ඇය |
| විසෙන | (නා) | - | විෂයෙන් |
| මුච්ඡිතකාලෙ | (ස) | - | මූර්ච්ඡා වූ කල්හි |
| මනුස්සවණ්ණෙන | (ස) | - | මිනිස් වෙසින් |
| වජ්ඣප්පත්තො | (ස) | - | වධයට පැමිණි පුරුෂ තෙම |
| විසොසධං | (ස) | - | විෂ බෙහෙතක් |
| ජානාති | (ක්‍රි) | - | දනියි |
| තං ඛණෙයෙව | (සං) | - | එකෙණෙහි ම |
| සන්තිකං | (නි) | - | සමීපයට |
| රඤ්ඤා | (නා) | - | රජු විසින් |
| පක්කොසිතකාලෙ | (ස) | - | කැඳවූ කල්හි |
| උදකපසතෙන | (ස) | - | දියපතකින් |
| දෙවියා | (නා) | - | දේවිගේ |
| සරීරෙ | (නා) | - | ශරීරයෙහි |
| පහරිත්වා | (පූ.ක්‍රි) | - | ගසා |
| නිබ්බිසං | (ස) | - | විෂ නැති |
| කරොහි | (ක්‍රි) | - | කරව |
| පක්කාමි | (ක්‍රි) | - | ගියේය |

**අභ්‍යාස**

1. 'මිත්තධම්මො' ඡේදය සිංහලට නගන්න.
2. 'මිත්තධම්මො' ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. කො වම්මිකා නික්ඛම්ම තං තථා නීයමානං දිස්වා සංවිග්ගො දුක්ඛප්පත්තො?
ii. සහායස්ස මෙ අජ්ජ අවස්සයෙන උපත්ථම්භං භවිතුං වට්ටතී'ති කො චින්තෙසි?
iii. සො තං සමස්සාසෙත්වා අත්තභාවං විජහිත්වා අඤ්ඤතරවෙසෙන කුහිං උපසඞ්කමි?
iv. සො මුහුත්තෙන කුහිං ගන්ත්වා සප්පවණ්ණෙන දෙවිං ඩසි?
v. උදකප්පසතෙන කස්සා සරීරෙ පහරිත්වා නිබ්බිසං කරොහී'ති වත්වා පක්කාමි?

## සමාස නාම II

### 4. ද්වන්ද්ව සමාසය

ඒක විභක්තික නාම පද දෙකක් හෝ වැඩි ගණනක් හෝ 'ච' නිපාතයෙන් එක පදයක් වන සේ කෙටි කිරීම ද්වන්ද්ව සමාසය යි.

උදා:-
චක්ඛුං ච සොතං ච = චක්ඛුසොතං (ඇස් කන්)
ගීතං ච වාදිතං ච = ගීතවාදිතං (ගායනය හා වාදනය)
පත්තං ච චීවරං ච = පත්තචීවරං (පාසිවුරු)
මාතා ච පිතා ච = මාතාපිතරො (මවුපියවරු)

### 5. බහුබ්බීහි සමාසය

සමාස වන පදවල අර්ථය හැර වෙනත් පදයක අර්ථය ප්‍රධාන වී සිදුවන සමාසය බහුබ්බීහි සමාසය යි.

| | | |
|---|---|---|
| ආගතො සමණො යං සො | = ආගතසමණො | (විහාරො - විහාරය) |
| ජිතානි ඉන්ද්‍රියානි යෙන සමණෙන සො'යං | = ජිතින්ද්‍රියො | (මුනි - මුනිවරයා) |
| දින්නං භොජනං යස්ස සො | = දින්නභොජනො | (භික්ඛු - භික්ෂුව) |
| අපගතා සිස්සා යාය සා | = අපගතසිස්සා | (පාඨසාලා - පාසැල) |
| මහන්තානි ධනානි යෙසං තෙ | = මහද්ධනා | (සෙට්ඨිනො - සිටුවරු) |
| බහවො තාපසා යස්මිං සො | = බහුතාපසො | (අස්සමො - ආශ්‍රමය) |

### 6. අව්‍යයීභාව (අබ්‍යයීභාව) සමාසය

උපසර්ගයක් හෝ නිපාත හෝ මුලින් යෙදී ගැළපෙන සමාසය අව්‍යයීභාව සමාස නම් වේ.

උදා:-
උප = නගරස්ස සමීපං = උපනගරං (නගරය ළඟ)
අනු = රථස්ස පච්ඡා = අනුරථං (රියට පසු)
යාව = ජීවස්ස පරිච්ඡෙදං = යාවජීවං (දිවි ඇති තෙක්)
බහි = නගරස්ස බහි = බහිනගරං (නගරයෙන් පිට)
උපරි = පාසාදස්ස උපරි = උපරිපාසාදං (ප්‍රාසාදය මත්තෙහි)

**අභ්‍යාස**

1. පහත සඳහන් සමාස පද විග්‍රහ කරන්න.

i. උපරිසිඛරං
ii. නිග්ගතජනො
iii. ජාතරූපරජතං
iv. චක්ඛුසොතං
v. අනුරථං

2. පහත සඳහන් පද සමාස කරන්න.

i. පාණිං ච පාදං ච
ii. සම්පන්නානි සස්සානි යස්මිං සො
iii. භත්තස්ස පච්ඡා
iv. දින්නං භොජනං යස්ස සො
v. කාසි ච කොසලා ච

3. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. දසබලො සාවකානං ධම්මං දෙසෙති.
ii. වනිතායො භින්නඝටානි භූමියං පාතෙන්ති.
iii. මාතාපිතරො දාරකානං ඔවාදං කරොන්ති.
iv. කුමාරී උපරිපාසාදං ආරුහති.
v. පෙතා තිරොකුඩ්ඩෙසු තිට්ඨන්ති.

4. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. ඇ නගරය සමීපයෙහි වාසය කළාය.
ii. දායකයා භික්ෂුවට පාසිවුරු පූජා කරයි.
iii. ඒ තාපසයා දිනපතා ගංගාව සමීපයට යයි.
iv. ඔහු දිවි ඇති තෙක් බුදුන් සරණ ගියේය.
v. බ්‍රාහ්මණයා පෙරබත් කාලයෙහි දන් දුන්නේය.

5. පහත සඳහන් පදවල සමාස නාමය දක්වන්න.

i. හංසබකා
ii. මහද්ධනා
iii. අනුරූපං
iv. සීලධනං
v. යාවජීවං
vi. සීතුණ්හං
vii. අඤ්ඤනගරං
viii. දෙවමනුස්සා
ix. ආගතසමණො
x. හත්ථපාදමංසලොහිතං

6. පහත සඳහන් ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

i. සමාස හඳුන්වන්න.
ii. සමාස ප්‍රභේද කීය ද?
iii. සමාස ප්‍රයෝජන ලියා දක්වන්න.
iv. කම්මධාරය සමාසය හඳුන්වන්න.
v. දින්නභොජනො, යාවජීවං, පත්තචීවරං යන පදවල සමාසය නම් කරන්න.

7. 'මිත්තධම්මො' ඡේදයේ එන සමාස පද උපුටා දක්වන්න.

# සත්තරසමො පාඨො | ඉත්ථිසද්දො පුරිසස්ස චිත්තං ආකඩ්ඪති

සාමණෙරො අරඤ්ඤෙ දාරූනි උද්ධරන්තියා එකිස්සා ඉත්ථියා ගීතසද්දං සුත්වා යට්ඨිකොටිං විස්සජ්ජෙත්වා 'තිට්ඨථ තාව භන්තෙ, කිච්චං මෙ අත්ථී'ති තස්සා සන්තිකං අගමාසි. සො තත්ථ තාය සද්ධිං සීලවිපත්තිං පාපුණි. ථෙරො ඉදානි එකො ගීතසද්දො සූයිත්ථ. සො ච ඛො ඉත්ථියා සද්දො, සාමණෙරො'පි චිරායති. සො එකංසෙන සීලවිපත්තිං පත්තො භවිස්සතී'ති චින්තෙසි. සාමණෙරො'පි අත්තනො කිච්චං නිට්ඨාපෙත්වා ආගම්ම 'ගච්ඡාම භන්තෙ''ති ආහ. 'සාමණෙර, පාපො ජාතො'සී"ති ථෙරො පුච්ඡි. සො කිඤ්චි න කථෙසි.

අථ 'තාදිසෙන පාපකෙන සද්ධිං මම ගමනං නත්ථී"ති ථෙරො ආහ. සො ගිහී හුත්වා 'එථ, භන්තෙ, ගච්ඡාමා"ති ථෙරං ආහ. ථෙරො 'ආවුසො, ගිහී පාපො'පි පාපො; සමණපාපො'පි පාපො; තයා සද්ධිං මම ගමනං නත්ථී"ති වත්වා තං විස්සජ්ජෙසි. සො කන්දන්තො වනසණ්ඩං පාවිසි. අථ ථෙරස්ස සීලතෙජෙන සක්කස්ස පණ්ඩුකම්බලසිලාසනං උණ්හං අහොසි. සක්කො ලොකං ඔලොකෙන්තො දිබ්බෙන චක්ඛුනා ථෙරං අද්දස. අථ දෙවින්දො මග්ගිකවෙසං ගහෙත්වා ථෙරං උපසඞ්කමිත්වා ථෙරෙන සද්ධිං පටිසන්ථාරං කත්වා සාවත්ථිං ගන්තුං ථෙරං පක්කොසි.

**(පාලි කථාමඤ්ජරී)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **සාමණෙරො** | **(න)** | - | සාමණේරයන් වහන්සේ |
| **අරඤ්ඤෙ** | **(නා)** | - | කැලයේ |
| **දාරූනි** | **(නා)** | - | දර |
| **උද්ධරන්තියා** | **(කි)** | - | උදුරන (කඩන) |
| **එකිස්සා** | **(ස.නා)** | - | එක් තැනැත්තියකගේ |
| **ඉත්ථියා** | **(නා)** | - | ස්ත්‍රියකගේ |
| **ගීතසද්දං** | **(ස)** | - | ගී හඬක් |
| **යට්ඨිකොටිං** | **(ස)** | - | සැරයටි කොණ |
| **විස්සජ්ජෙත්වා** | **(පූ.ක්‍රි)** | - | හැර දමා |
| **තිට්ඨථ** | **(ක්‍රි)** | - | සිටින්න |
| **තාව** | **(නි)** | - | එතෙක් කල් |
| **කිච්චං** | **(කි)** | - | කටයුත්තක් |
| **මෙ** | **(ස.නා)** | - | මට |
| **අගමාසි** | **(ක්‍රි)** | - | ගියේය |
| **සද්ධිං** | **(නි)** | - | සමග |
| **සීලවිපත්තිං** | **(ස)** | - | ශීල විපත්තියට |

| | | | |
|---|---|---|---|
| පාපුණි | (ක්‍රි) | - | පැමිණියේය |
| ඉදානි | (න) | - | දැන් |
| සූයිත්ථ | (ක්‍රි) | - | ඇසුණේය |
| එකංසෙන | (නි) | - | ඒකාන්තයෙන් |
| භවිස්සති | (ක්‍රි) | - | වන්නේය |
| චින්තෙසි | (ක්‍රි) | - | සිතුවේය |
| නිට්ඨාපෙත්වා | (පූ.ක්‍රි) | - | නිමවා |
| ආගමම | (පූ.ක්‍රි) | - | අවුත් |
| ජාතො | (කි) | - | උපන්නේ |
| පුච්ඡි | (ක්‍රි) | - | විචාළේය |
| කිඤ්චි | (නි) | - | කිසිවක් |
| කථෙසි | (ක්‍රි) | - | කීවේය |
| තාදිසෙන | (නි) | - | එබඳු |
| පාපකෙන | (ත) | - | පවිටෙකු විසින් |
| සද්ධිං | (නි) | - | සමග |
| ගිහී | (නා) | - | ගිහියෙක් |
| හුත්වා | (පූ.ක්‍රි) | - | වී |
| එථ | (ක්‍රි) | - | එන්න |
| ආවුසො | (නි) | - | ඇවැත්නි |
| සමණපාපො | (ස) | - | ශ්‍රමණපාපියා |
| ගමනං | (කි) | - | ගමනක් |
| කන්දන්තො | (කි) | - | වැලපෙමින් |
| වනසණ්ඩං | (ස) | - | වනලැහැබට |
| පාවිසි | (ක්‍රි) | - | පිවිසියේය |
| සීලතෙජෙන | (ස) | - | ශීල තේජසින් |
| සක්කස්ස | (නා) | - | ශක්‍රයාගේ |
| සිලාසනං | (ස) | - | ශෛලාසනය |
| උණ්හං | (නා) | - | උණුසුම් |
| අහොසි | (ක්‍රි) | - | විය |
| ඔලොකෙන්තො | (කි) | - | බලන්නේ |
| දිබ්බෙන චක්ඛුනා | (නා) | - | දිවැසින් |
| අද්දස | (ක්‍රි) | - | දුටුවේය |
| දෙවින්දො | (ස) | - | ශක්‍රයා |
| මගිකවෙසං | (ස) | - | මගියෙකුගේ වේශය |
| ගහෙත්වා | (පූ.ක්‍රි) | - | ගෙන |
| උපසඞ්කමිත්වා | (පූ.ක්‍රි) | - | එළඹ |
| පටිසන්ථාරං | (නා) | - | පිළිසඳර |
| කත්වා | (පූ.ක්‍රි) | - | කොට |
| ගන්තුං | (තු) | - | යන්නට |
| පක්කොසි | (ක්‍රි) | - | කැඳවීය |

**අභ්‍යාස**

1. 'ඉත්ථී සද්දො පුරිසස්සං චිත්තං ආකඩ්ඪති' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. සාමණෙරො කාය සද්ධිං සීලවිපත්තිං පාපුණි?
ii. සාමණෙරො අත්තනො කිච්චං නිට්ඨාපෙත්වා ආගමම කිං ආහ?
iii. 'තාදිසෙන පාපකෙන සද්ධිං මම ගමනං නත්ථී"ති කො ආහ?
iv. කස්මා සක්කස්ස පණ්ඩුකම්බලසිලාසනං උණ්හං අහොසි?
v. දෙවින්දො කස්ස වෙසං ගණ්හි?

## තද්ධිත නාම

නාමයන් කෙරෙන් පර ව විවිධ අර්ථයන්හි නොයෙක් ප්‍රත්‍යයන් යෙදී සෑදෙන නාම සමූහය තද්ධිත නම් වේ.

උදා:- **සමණ + ණෙර = සාමණෙර** (සාමණේර තෙම)
**ගුණ + වන්තු = ගුණවන්තු** (ගුණ ඇති)
**සබ්බ + දා = සබ්බදා** (හැමකල්හි)

'මොහුට ශ්‍රද්ධාව ඇත' යනුවෙන් පද කීපයක් යොදා කිය යුතු අර්ථය එක් තද්ධිත පදයකින් ප්‍රකාශ කළ හැකි ය.

උදා:- **'අස්ස සද්ධා අත්ථි'** (තද්ධිත රහිත)
**'අයං සද්ධො'** (තද්ධිත සහිත)

**තද්ධිත ප්‍රභේද**

තද්ධිත නාම ප්‍රධාන වශයෙන් කොටස් තුනකට (03) බෙදේ. පහත දැක්වෙන්නේ තද්ධිත ප්‍රභේද හා ඒවායෙහි යෙදෙන ප්‍රත්‍යය කීපයකට උදාහරණයන් ය.

1. සාමඤ්ඤ තද්ධිත
2. භාව තද්ධිත
3. අව්‍යය තද්ධිත

## 1. සාමඤ්ඤ තද්ධිත

i. අපච්චත්ථ තද්ධිත
ii. අනෙකත්ථ තද්ධිත
iii. අත්ථ්‍යත්ථ තද්ධිත
iv. සඞ්ඛ්‍යා තද්ධිත

### i. අපච්චත්ථ තද්ධිත

යම් කෙනෙකුගේ දරුවෙක් යන අර්ථය පැවැසීමට නාමයන්ගෙන් පර ව 'ණ, ණායන' ආදි ප්‍රත්‍යය යෙදේ.

| | | |
|---|---|---|
| වසිට්ඨ + ණ | = වාසිට්ඨ | (වසිට්ඨගේ පුතා) |
| මොග්ගල්ල + ණායන | = මොග්ගල්ලායන | (මොග්ගල්ලගේ පුතා) |

### ii. අනෙකත්ථ තද්ධිත

නොයෙක් අර්ථයන්හි යෙදෙන තද්ධිත මෙයට අයත් වේ.

| | | |
|---|---|---|
| සකට + ණික | = සාකටික | (ගැලෙහි නියුක්ත වූයේ) |
| සඞ්ඝ + ණික | = සඞ්ඝික | (සංඝයාට අයත්) |
| මනුස්සජාති + ඉය | = මනුස්සජාතිය | (මිනිස් ජාතියෙහි වූ) |
| දයා + ආලු | = දයාලු | (කරුණා බහුලකොට ඇත්තේ) |
| සුවණ්ණ + මය | = සුවණ්ණමය | (රනින් කරන ලද) |

### iii. අත්ථ්‍යත්ථ තද්ධිත

යමෙකුට ධනය ආදි යමක් ඇත්නම් ඒ ඇති බව ප්‍රකාශ කිරීමට **'වන්තු, මන්තු'** යන ප්‍රත්‍යය යෙදේ.

| | | |
|---|---|---|
| ධන + වන්තු | = ධනවන්තු | (ධනය ඇති) |
| බුද්ධි + මන්තු | = බුද්ධිමන්තු | (නුවණ ඇති) |
| වාචා + ආල | = වාචාල | (වැඩි කථා ඇති) |

### iv. සඞ්ඛ්‍යා තද්ධිත

සඞ්ඛ්‍යා ශබ්ද කෙරෙන් පර ව විවිධ ප්‍රත්‍යය යෙදී සෑදෙන පද සඞ්ඛ්‍යා තද්ධිත නම් වේ.

| | | |
|---|---|---|
| සත්ත + ම | = සත්තම | (සත්වෙනි) |
| ද්වි + ක | = ද්වික | (දෙකේ සමූහය) |
| චතු + ථ | = චතුත්ථ | (සතරවෙනි) |

## 2. භාව තද්ධිත

යම් ශබ්දයක පැවැත්මට හේතු වූ ගුණක්‍රියාදි ලක්‍ෂණ 'භාව' නම් වේ. ඒ ලක්‍ෂණ පවසත් හොත් ශබ්ද කෙරෙන් පර ව '**ත්ත, තා**' ආදි ප්‍රත්‍යය වේ.

ලහු + තා = ලහුතා (සැහැල්ලු බව)
මනුස්ස + ත්ත = මනුස්සත්ත (මිනිසත් බව)
අරොග + ණ්‍ය = ආරොග්‍ය (නීරෝගී බව)
පණ්ඩිත + ණ්‍ය = පණ්ඩිච්ච (පණ්ඩිත බව)

## 3. අව්‍යය තද්ධිත

මේ ගණයට අව්‍යය ලක්‍ෂණ ඇති තද්ධිත පද අයත් වේ. මේවා විභක්තිවල නො වරනැගේ.

සබ්බ + ත්‍ථ = සබ්බත්‍ථ (සැමතැන)
සබ්බ + දා = සබ්බදා (හැමකල්හි)
බහු + ධා = බහුධා (බොහෝ ආකාරයෙන්)
අජ්ජ + තන = අජ්ජතන (අද, අද වූ)
ඉම + දානි = ඉදානි (දැන්)

| ප්‍රත්‍යය | නාමය හා ප්‍රත්‍යය | තද්ධිතය | අර්ථ |
|---|---|---|---|
| අව | මනු + අව | = මාණව | මනුගේ පුත්‍රයා |
| ආයන | කච්ච + ආයන | = කච්චායන | කච්චගේ පුතා |
| ඉක | අභිධම්ම + ඉක | = ආභිධම්මික | අභිධර්මය දන්නා |
| ඉක | සක්‍යපුත්ත + ඉක | = සක්‍යපුත්තික | සක්‍යපුත්තගේ පුත්‍රයා |
| ඉට්ඨ | පාප + ඉට්ඨ | = පාපිට්ඨ | පවිටු |
| ඉය | පාප + ඉය | = පාපීය | පවිටු |
| ක්ඛත්තුං | එක + ක්ඛත්තුං | = එකක්ඛත්තුං | එක්වරක් |
| තම | පාප + තම | = පාපතම | අතිශයින් ම පවිටු |
| තා | ජන + තා | = ජනතා | ජන සමූහය |
| තා | මුදු + තා | = මුදුතා | මෘදු බව |
| ධා | දස + ධා | = දසධා | දසවැදැරම් |
| මන්තු | සති + මන්තු | = සතිමන්තු | සිහි ඇති |
| වන්තු | ගුණ + වන්තු | = ගුණවන්තු | ගුණ ඇති |

**තද්ධිත භාවිතය හා ප්‍රයෝජනය**

තද්ධිත නාම සියලු විභක්තිවල හා ලිඞ්ගත්‍රයෙහි නාමපද මෙන් වරනැගේ. එහෙයින් තද්ධිතවලින් භාෂාවට විශේෂ ප්‍රයෝජන ලැබේ. මටසිලුටු බව හා සරල බව ද ඇති වේ. සමාසවලට වඩා පදයන්ගේ අතිශය කෙටිවීමක් තද්ධිත පදයන්ගෙන් ලැබේ.

**අභ්‍යාස**

1. පහත සඳහන් අර්ථ ප්‍රකට වන තද්ධිත පදය දී ඇති නාමයෙන් සකස් කරන්න.

| | | |
|---|---|---|
| i. | රනින් කළ | (සුවණ්ණ) |
| ii. | වච්ඡගේ පුතා | (වච්ඡ) |
| iii. | පයින් යන්නා | (පද) |
| iv. | නැවෙහි යෙදුණු | (නාවා) |
| v. | මගධයේ උපන් | (මගධ) |
| vi. | නුවණැති | (මෙධා) |
| vii. | ගුණැති | (ගුණ) |
| viii. | මෘදු බව | (මුදු) |
| ix. | නවවෙනි | (නව) |
| x. | මහත්බව | (විපුල) |

2. පහත දැක්වෙන තද්ධිත පදයන්හි ප්‍රභේද නම් කරන්න.

i. මාණවො
ii. කච්චායනො
iii. පාපිට්ඨො
iv. ගුණවා
v. දසධා
vi. පාපතමො
vii. ආභිධම්මිකො
viii. ජනතා
ix එකක්ඛත්තුං
x. සතිමා

3. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. කනිට්ඨො රාජපුත්තො සිප්පං උග්ගණ්හාති.
ii. අයං මාණවො කනකවිමානෙ නිබ්බත්තිස්සති.
iii. ධම්මිකො රාජා කායිකමානසිකං සුඛං වින්දති.
iv. දයාලු භගවා මහාජනතං සන්දිට්ඨිකං ධම්මං දෙසෙසි.
v. තයො තස්ස පාසාදා හොන්ති. එකො හෙමන්තිකො එකො ගිම්හිකො එකො වස්සිකො

4. සුදුසු තන්හි තද්ධිත පද භාවිත කරමින් පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. සාමණේරයන් වහන්සේ සැමකල්හි සිල් රකිති.
ii. දයාව ඇති පුරුෂයා යාචකයාට බොහෝ අයුරින් දන් දෙයි.
iii. කාන්තාව රනින් කරන ලද ආභරණ මිල දී ගනියි.
iv. අද මෙහි ඔහුගේ පණ්ඩිත බව ප්‍රකට විය.
v. ගැල්කරුවා නගරයේ සැමතැන ම ගැල ගෙන යයි.

5. නාම හා ප්‍රත්‍යය ගළපා අර්ථවත් තද්ධිත පද සාදන්න.

| | | |
|---|---|---|
| i. | කච්ච | තර |
| ii. | දිවා | ඉක |
| iii. | සඞ්ඝ | වී |
| iv. | පඤ්ඤා | ධා |
| v. | මායා | සො |
| vi. | ති | තා |
| vii. | සබ්බ | ආන |
| viii. | ලහු | වන්තු |
| ix. | අනන්ත | ණ්‍ය |
| x. | අරොග | ඉම |

6. පහත දැක්වෙන තද්ධිත පදයන්හි අර්ථ ලියන්න.

i. පුරාතනං
ii. අට්ඨමං
iii. එත්ථ
iv. මෙධාවිනී
v. කදා
vi. භාගිණෙය්‍ය
vii. පාටවං
viii. දාරුමයං
ix. බාහුසච්චං
x. පුත්තකො

# අට්ඨාරසමො පාඨො

# මිච්ඡාදිට්ඨිකො අහිගුණ්ඨිකො

එකො අහිගුණ්ඨිකො ගාමනිගමරාජධානිසු සප්පෙ කීළාපෙත්වා ජීවිකං කප්පෙන්තො එකං ගාමකං පත්වා තත්ථ සප්පෙ කීළාපෙත්වා සන්තුට්ඨෙහි ගාමවාසීහි දින්න විවිධොපායනො ඛාදනීයභොජනීයං ඛාදිත්වා භුඤ්ජිත්වා තත්ථෙව නිවාසං ගහෙත්වා නිසීදි. තස්මිං කිර ගාමකෙ මනුස්සා යෙභුය්‍යෙන රතනත්තයමාමකා, තස්මා තෙ රත්තිභාගෙ සයන්තා 'නමො බුද්ධායා''ති එවමාදිං වදන්ති. සො පන අහිගුණ්ඨිකො මිච්ඡාදිට්ඨිකො තිණ්ණං රතනානං ගුණං න ජානාති. තස්මා තෙසං තං වචනං සුත්වා සයම්පි කෙළිං කුරුමානො පරිහාසවසෙන 'නමො බුද්ධායා''ති වදති. අථෙකදිවසං සො අත්තනො කීළාපනසමත්ථං එකං සප්පං තත්ථ තත්ථ පරියෙසමානො ආහිණ්ඩති. තදා එකො නාගරාජා කස්සපදසබලස්ස ථූපං ගන්ත්වා වන්දිත්වා එකං වම්මිකං පවිසති. තං දිස්වා අහිගුණ්ඨිකො වෙගෙනාගන්ත්වා නාගරාජං ගණ්හිතුං මන්තං පරිජපි. සො මන්තං සුත්වා කුජ්ඣිත්වා තං මාරෙතුකාමො අනුබන්ධි. තං දිස්වා අහිගුණ්ඨිකො වෙගෙන පලායන්තො එකස්මිං පාසාණෙ පක්ඛලිත්වා පතමානො පුබ්බෙ වුත්තපරිහාසවචනපරිචයෙන 'නමො බුද්ධායා''ති වදන්තො පති. තස්ස තං වචනං අනුබන්ධන්තස්ස නාගරඤ්ඤො සොතපථෙ අමතං විය පති.

**(රසවාහිනී, ජම්බුදීපුප්පත්තිකථා)**

පදමාලාව

| | | | |
|---|---|---|---|
| **අහිගුණ්ඨිකො** | **(නා)** | - | නයි නටවන්නා |
| **ගාමනිගමරාජධානිසු** | **(ස)** | - | ගම් නියම්ගම් රාජධානිවල |
| **කීළාපෙත්වා** | **(පූ.ක්‍රි)** | - | ක්‍රීඩා කරවා (නටවා) |
| **කප්පෙන්තො** | **(කි)** | - | කරන්නේ |
| **ගාමකං** | **(නා)** | - | ගමකට |
| **පත්වා** | **(පූ.ක්‍රි)** | - | පැමිණ |
| **සන්තුට්ඨෙහි ගාමවාසීහි** | **(නා)** | - | සතුටු වූ ගම් වැසියන් විසින් |
| **දින්න** | **(කි)** | - | දෙන ලද |
| **උපායනො** | **(නා)** | - | තුටුපඬුරු ඇත්තේ |
| **ඛාදනීයං** | **(කි)** | - | කෑ යුතු |
| **භොජනීයං** | **(කි)** | - | බුදිය යුතු |
| **භුඤ්ජිත්වා** | **(පූ.ක්‍රි)** | - | අනුභව කොට |
| **නිවාසං** | **(නා)** | - | නවාතැන් |
| **ගහෙත්වා** | **(පූ.ක්‍රි)** | - | ගෙන |
| **නිසීදි** | **(ක්‍රි)** | - | හුන්නේය |
| **යෙභුය්‍යෙන** | **(නි)** | - | බොහෝ සෙයින් |
| **රත්තිභාගෙ** | **(ස)** | - | රාත්‍රි භාගයෙහි |

| | | | |
|---|---|---|---|
| සයනතා | (කි) | - | නිදන්නාහු |
| මිචඡාදිට්ඨිකො | (ස) | - | මිථ්‍යා දෘෂ්ටිකයෙක් |
| ජානාති | (ක්‍රි) | - | දනියි |
| තෙසං | (ස.නා) | - | ඔවුන්ගේ |
| සයමපි | (සං) | - | තෙමේත් |
| කුරුමානො | (කි) | - | කරන්නේ |
| පරිහාසවසෙන | (නා) | - | පරිහාස වශයෙන් |
| කීළාපන | (කි) | - | ක්‍රීඩා කරවීමට |
| සමත්‍ථං | (නා) | - | සමත් වූ |
| පරියෙසමානො | (කි) | - | සොයමින් |
| ආහිණ්ඩති | (ක්‍රි) | - | ඇවිදියි |
| නාගරාජා | (ස) | - | නා රජෙක් |
| දසබලසස | (ස) | - | බුදුන් වහන්සේගේ |
| වම්මිකං | (නා) | - | තුඹසකට |
| පවිසති | (ක්‍රි) | - | පිවිසෙයි |
| ගණ්හිතුං | (තු) | - | අල්වාගන්නට |
| පරිජපි | (ක්‍රි) | - | ජප කළේය |
| කුජ්ඣිත්‍වා | (පූ.ක්‍රි) | - | කිපී |
| අනුබන්ධි | (ක්‍රි) | - | ලුහු බැන්දේය |
| පලායනෙතා | (කි) | - | පැනයන්නේ |
| පක්ඛලිත්‍වා | (පූ.ක්‍රි) | - | පැකිලී |
| පතමානො | (කි) | - | වැටෙන්නේ |
| පරිහාසවචන | (ස) | - | පරිහාස වචන |
| පරිචයෙන | (නා) | - | පුරුද්දෙන් |
| වදනෙතා | (කි) | - | කියමින් |
| අනුබන්ධනතසස | (කි) | - | ලුහු බඳින්නා වූ |
| නාගරඤ්ඤො | (ස) | - | නා රජුගේ |
| සොතපථෙ | (ස) | - | කන් සිදුරෙහි |

**අභ්‍යාස**

1. 'මිචඡාදිට්ඨිකො අහිගුණ්ඨිකො' ඡේදය සිංහලට නගන්න.
2. ඡේදය ආශ්‍රයෙන් පහත සඳහන් ප්‍රශ්නවලට පාලියෙන් පිළිතුරු සපයන්න.

i. අහිගුණ්ඨිකො කථං ජීවිකං කප්පෙසි?
ii. අහිගුණ්ඨිකො කත්‍ථ නිවාසං ගහෙත්‍වා නිසීදි?
iii. කෙ රත්තිභාගෙ සයනතා 'නමො බුද්ධායා''ති වදනති?
iv. සො පන අහිගුණ්ඨිකො මිචඡාදිට්ඨිකො උදාහු සම්මාදිට්ඨිකො?
v. නාගරාජා කිං සුත්‍වා කුජ්ඣිත්‍වා තං මාරෙතුකාමො අනුබන්ධි?

## කිතක නාම

ධාතුවක් අගට ප්‍රත්‍යයක් එකතු වී සෑදෙන පද විශේෂයකට කිතක යැයි කියනු ලැබේ. **(පච + මාන > පචමාන)** තද්ධිත පද හා කිතක පද වෙනස් වන්නේ තද්ධිත නාමයකට පරව ප්‍රත්‍යයක් එකතු වී සෑදීමත් **(කච්ච + ආන > කච්චාන)** කිතක ධාතුවකට පර ව ප්‍රත්‍යයක් එකතු වී සෑදීමත් නිසා ය.

පුල්ලිංග, ස්ත්‍රීලිංග හා නපුංසකලිංග යන ලිංග තුනෙහි ම යෙදෙන මේවා නාම මෙන් විභක්තිවල වරනැගිය හැකි ය.

### කිතක ප්‍රභේද

**කිච්ච** හා **කිතක** වශයෙන් කිතක ප්‍රධාන කොටස් දෙකකට බෙදේ.

**1. කිච්ච**

මේවා කර්ම කාරකයෙහි හා භාව කාරකයෙහි යෙදේ.

උදා:- **සබ්බෙහි කුසලං කත්තබ්බං.**
(සියල්ලන් විසින් පින් කළ යුතු ය)
**තයා මඤ්චෙ සයිතබ්බං.**
(තා විසින් ඇඳෙහි ශයනය කළ යුතු ය)

| | |
|---|---|
| **කත්තබ්බ** | (කළ යුතු) |
| **භවිතබ්බ** | (විය යුතු) |
| **කරණීය** | (කළ යුතු) |
| **භවනීය** | (විය යුතු) |
| **වජ්ජ** | (කිය යුතු) |
| **දම්ම** | (දමනය කළ යුතු) |

**2. කිතක**

කිතක නාම ප්‍රභේද කීපයකින් යුක්ත ය. මේවා කාල තුනෙහි හා කර්තෘ කාරකයෙහි යෙදේ.

i. **අතීත කිතක**
ii. **වර්තමාන කිතක**
iii. **අනාගත කිතක**
iv. **ත්‍රෛකාලික කිතක**
v. **අව්‍යය කිතක**

## I. අතීත කිතක

**ත, තවන්තු, තාවී** යන ප්‍රත්‍යය යෙදීමෙන් අතීත කිතක පද සාදාගනු ලැබේ.

| | | | |
|---|---|---|---|
| **භූත** | (සිදු වූ) | **නීත** | (ගෙන ගිය) |
| **කත** | (කරන ලද) | **ජිත** | (දිනූ) |
| **භීත** | (බියපත්) | **දෙසිත** | (දේශනා කළ) |
| **භුත්තාවී** | (අනුභව කළ) | **හත** | (නසන ලද) |
| **බුද්ධ** | (අවබෝධ කළ) | **ලිඛිත** | (ලියන ලද) |

උදා:- **බුද්ධෙන ධම්මො දෙසිතො** (බුදුරදුන් විසින් ධර්මය දේශනා කරන ලදී)
**සො මඤ්චෙ සයිතො** (ඔහු ඇඳෙහි ශයනය කළේය)
**සො ගාමං ගතාවී** (ඔහු ගමට ගියේය)

## II. වර්තමාන කිතක

**මාන, අන්ත** යන ප්‍රත්‍යය යොදා සාදා ගන්නා වර්තමාන කිතක නාම පහත දක්වා ඇති අයුරින් වාක්‍යයන්හි යෙදිය හැකි ය.

උදා:- **ගච්ඡන්තො/ගච්ඡමානො අජං හරති** (යන්නා එළුවෙකු ගෙන යයි)
**බාලිකා රොදන්තී පාඨසාලං ගච්ඡති** (බාලිකාව හඬන්නී පාසැලට යයි)

| | | |
|---|---|---|
| **රොදන්ත,** | **රොදමාන** | (හඬන) |
| **කිණන්ත,** | **කිණමාන** | (මිල දී ගන්නා) |
| **පස්සන්ත,** | **පස්සමාන** | (බලන) |
| **සුණන්ත,** | **සුණමාන** | (අසන) |
| **නහායන්ත,** | **නහායමාන** | (නාන) |

## III. අනාගත කිතක

**ස්සං,** මාන ආදි ප්‍රත්‍යය අනාගත කිතක ප්‍රත්‍යය වශයෙන් යෙදේ.

උදා:- **සො කම්මං කරිස්සං වජති** (ඔහු කර්ම කරන්නේ යයි)

| | |
|---|---|
| **කරිස්සං** | (කරන්නේ) |
| **කුරුමානො** | (කරන්නේ) |

ඉහත කී වර්තමාන, අතීත හා අනාගතකාලික කිතක පද ලිංගත්‍රයෙහි වරනැගෙන බව ද දත යුතු ය.

## IV. ත්‍රෛකාලික කිතක

ත්‍රෛකාලික කිතක ප්‍රත්‍යය බොහෝ ය. මේවා තුන් කල්හි ම කර්තෘ කාරකයෙහි යෙදේ.

උදා:- **පාපකාරී දණ්ඩෙන යාචකං පහරි.**
(පව් කරන්නා පොල්ලෙන් හිඟන්නාට ගැසුවේය)

| | | | |
|---|---|---|---|
| **පාලක** | (රකින්නා) | **යාචක** | (සිඟන්නා) |
| **සවණ** | (ඇසීම) | **පචන** | (පිසීම) |
| **භොජන** | (අනුභව කිරීම) | **වදතු** | (කියන්නා) |
| **කත්තු** | (කරන්නා) | **පාපකාරී** | (පව් කරන්නා) |
| **ධම්මධර** | (ධර්මය දරන) | **දිනකර** | (දවස කරන, හිරු) |

## V. අව්‍යය කිතක

- **පූර්ව ක්‍රියා කිතක**

අවසාන ක්‍රියාවන්ට මුලින් සිදුවන ක්‍රියා පූර්ව ක්‍රියා නම් වෙයි.

උදා: **සො ගෙහං ගන්ත්වා ආහාරං භුඤ්ජති.**
(ඔහු ගෙදර ගොස් අහර අනුභව කරයි)

| 'ත්වා' ප්‍රත්‍යය | 'ත්වාන' ප්‍රත්‍යය | තූන' ප්‍රත්‍යය | |
|---|---|---|---|
| **පචිත්වා,** | **පචිත්වාන,** | **පචිතූන** | (පිස) |
| **දත්වා,** | **දත්වාන,** | **දාතූන** | (දී) |
| **ගන්ත්වා** | **ගන්ත්වාන,** | **ගන්තූන** | (ගොස්) |
| **සුත්වා,** | **සුත්වාන,** | **සොතූන** | (අසා) |
| **කත්වා,** | **කත්වාන,** | **කාතූන** | (කොට) |

- **තුමන්ත ක්‍රියා කිතක**

අවසාන ක්‍රියාවෙන් පසු ව කරන ක්‍රියා තුමන්ත ක්‍රියා නම් වේ. "**පුරිසො ධම්මං සොතුං ගච්ඡති**" මෙහි '**ගච්ඡති**' යන යැමේ ක්‍රියාවට පසුව '**සොතුං - අසන්නට**' යන ක්‍රියාව සිදු වේ. **තුං** අන්ත බැවින් මේවාට '**තුමන්ත**' නාමය ලැබී ඇත.

| | | | |
|---|---|---|---|
| **පචිතුං** | (පිසන්නට) | **හරිතුං** | (ගෙනයන්නට) |
| **නෙතුං** | (පමුණුවන්නට) | **දාතුං** | (දෙන්නට) |
| **පාතුං** | (බොන්නට) | **කාතුං** | (කරන්නට) |
| **ඨාතුං** | (සිටින්නට) | **හසිතුං** | (සිනාසෙන්නට) |
| **ගන්තුං** | (යන්නට) | **යාචිතුං** | (ඉල්ලන්නට) |

පහත දැක්වෙන වගුව අධ්‍යයනය කරන්න.

| ධාතුව | අර්ථය | තබ්බ | ත | න්ත | ත්වා | තුං |
|---|---|---|---|---|---|---|
| කර | කිරීම | කත්තබ්බ | කත | කරොන්ත | කත්වා | කාතුං |
| ගමු | යාම | ගන්තබ්බ | ගත | ගච්ඡන්ත | ගන්ත්වා | ගන්තුං |
| ඨා | සිටීම | ඨාතබ්බ | ඨිත | තිට්ඨන්ත | ඨත්වා | ඨාතුං |
| දා | දීම | දාතබ්බ | දින්න | දදන්ත | ත්වා | දාතුං |
| පච | පිසීම | පචිතබ්බ | පක්ක | පචන්ත | පචිත්වා | පචිතුං |
| පා | බීම | පාතබ්බ | පීත | පිවන්ත | පීත්වා | පාතුං |
| භාස | කීම | භාසිතබ්බ | භාසිත | භාසන්ත | භාසිත්වා | භාසිතුං |
| භුජ | බුදීම | භුඤ්ජිතබ්බ | භුත්ත | භුඤ්ජන්ත | භුඤ්ජිත්වා | භුඤ්ජිතුං |
| භූ | වීම | භවිතබ්බ | භූත | භවන්ත | භවිත්වා | භවිතුං |
| සු | ඇසීම | සොතබ්බ | සුත | සුණන්ත | සුත්වා | සොතුං |

**අභ්‍යාස**

1. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. ගාමං ගච්ඡන්තො දාරකො හසති.
ii. භික්ඛු ගාමෙ විහරන්තො ධම්මං දෙසෙති.
iii. කඤ්ඤා හසමානා භාසන්ති.
iv. යාචකා පචන්තං ඉත්ථිං ආහාරං යාචන්ති.
v. පුරිසො ඵලානි ඛාදමානො රුක්ඛෙ නිසීදති.

2. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. ඔහු නගරයට යන්නේ හඬයි.
ii. වෙළෙන්දා බඩු විකුණමින් ගම්වල ඇවිදියි.
iii. ළමයා සිනා සෙමින් ගෙදර ගියේය.
iv. මව බත් පිසන්නී හිඳියි.
v. අපි දුවන මිනිසුන් බලමු.

3. පහත සඳහන් කිතකපද යොදා වාක්‍ය තනන්න.

නිසීදන්තො, ධාවන්තී, සුණන්තො, සයන්තී, ගච්ඡන්තියො

4. පහත සඳහන් වාක්‍ය සිංහලට නගන්න.

i. සො ගාමං ගතො.
ii. බාලකෙහි කථා සුතා.
iii. ආගතාය නරාය ජලං දෙහි.
iv. මයා බුද්ධස්ස චරිතං සුතං.
v. නරෙහි ඵලානි ඛාදිතානි.

5. පහත සඳහන් වාක්‍ය පාලියට නගන්න.

i. ඔහුගේ ගෙදර පුතෙක් උපන්නේය.
ii. රාම ගමට ගියේය.
iii. මිනිසුන් විසින් ඔහුගේ කථාව අසන ලදි.
iv. දරුව, ලියන ලද පාඩම කියවන්න.
v. මා විසින් මෙසේ අසන ලදි.

6. 'මිච්ඡාදිට්ඨිකො අභිගුණ්ඨිකො' ඡේදයේ දැක්වෙන කිතක පද උපුටා දක්වන්න.

7. පහත සඳහන් කිතක පද වර්ග කර දක්වන්න.

| | | | | |
|---|---|---|---|---|
| කත්තබ්බං | දායක | භූත | පචිත්වා | පචිතුං |
| දාතුං | දත්වා | නීත | පාලක | භවනීය |
| ඨත්වා | වජ්ජ | කාතුං | දාතු | හීත |

8. පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

i. කිතක පද සාදා ගන්නේ කෙසේ ද?
ii. කිතක ප්‍රභේද ලියා දක්වන්න.
iii. අතීත කිතක හඳුන්වා දෙන්න.
iv. අව්‍යය කිතක පැහැදිලි කරන්න.
v. ත්‍රෛකාලික කිතක හඳුන්වන්න.

# ධම්මපදට්ඨකථා

**නිර්දිෂ්ට පාඨ සඳහා**

## I. අනිත්ථිගන්ධකුමාරවත්ථු

**'කාමතො'** ති ඉමං ධම්මදෙසනං සත්ථා ජෙතවනෙ විහරන්තො අනිත්ථිගන්ධකුමාරං නාම ආරබ්භ කථෙසි.

සො කිර බ්‍රහ්මලොකා චුතසත්තො සාවත්ථියං මහාභොගකුලෙ නිබ්බත්තො ජාතදිවසතො පට්ඨාය ඉත්ථිසමීපං උපගන්තුං න ඉච්ඡති. ඉත්ථියා ගය්හමානො රොදතී'ති වත්ථචුම්බටකෙන නං ගහෙත්වා ථඤ්ඤං පායෙන්ති. සො වයප්පත්තො මාතාපිතූහි තාත, ආවාහං තෙ කරිස්සාමා'ති වුත්තො න මෙ ඉත්ථියා අත්ථො'ති පටික්ඛිපිත්වා පුනප්පුනං යාචියමානො පඤ්චසතෙ සුවණ්ණකාරෙ පක්කොසාපෙත්වා තත්ථ සුවණ්ණස්ස නික්ඛසහස්සං දාපෙත්වා අතිවිය පාසාදිකං ඝනකොට්ටිමං ඉත්ථිරූපං කාරාපෙත්වා පුන මාතාපිතූහි තාත, තයි ආවාහං අකරොන්තෙ කුලවංසො නප්පතිට්ඨහිස්සති, කුලදාරිකං තෙ ආනෙස්සාමා'ති වුත්තෙ තෙනහි සචෙ මෙ එවරූපං කුමාරිකං ආනෙස්සථ කරිස්සාමි වො වචනන්ති තං සුවණ්ණරූපං දස්සෙසි. අථස්ස මාතාපිතරො අභිඤ්ඤාතෙ බ්‍රාහ්මණෙ පක්කොසාපෙත්වා අම්හාකං පුත්තො මහාපුඤ්ඤො, අවස්සං ඉමිනා සද්ධිං කතපුඤ්ඤා කුමාරිකා භවිස්සති, ගච්ඡථ ඉමං සුවණ්ණරූපං ගහෙත්වා එවරූපං කුමාරිකං ආහරථා'ති පහිණිංසු. තෙ සාධූති චාරිකං චරන්තා මද්දරට්ඨෙ සාගලනගරං ගතා. තස්මිං පන නගරෙ එකා සොළසවස්සුද්දෙසිකා අභිරූපා කුමාරිකා අහොසි, තං මාතාපිතරො සත්තභූමකස්ස පාසාදස්ස උපරිමතලෙ වාසෙසුං, තෙපි ඛො බ්‍රාහ්මණා සචෙ ඉධ එවරූපා කුමාරිකා භවිස්සති, ඉමං දිස්වා අයං අසුකකුලධීතා විය අභිරූපා'ති වක්ඛන්තී'ති තං සුවණ්ණරූපං තිත්ථමග්ගෙ ඨපෙත්වා එකමන්තෙ නිසීදිංසු. අථස්සා කුමාරිකාය ධාතී නං කුමාරිකං නහාපෙත්වා සයම්පි නහායිතුකාමා හුත්වා තත්ථ ආගතා තං රූපකං දිස්වා ධීතා මෙති සඤ්ඤාය අහො දුබ්බිනීතා'සි ඉදානෙවාහං තං නහාපෙත්වා නික්ඛන්තා, ත්වං මයා පුරෙතරං ඉධාගතාති හත්ථෙන පහරිත්වා ථද්ධභාවං චෙව නිබ්බිකාරතං ච ඤත්වා අහං ධීතා මෙති සඤ්ඤමකාසිං. කිං නාමෙතන්ති ආහ. අථ නං තෙ බ්‍රාහ්මණා 'එවරූපා තෙ අම්ම ධීතා'ති පුච්ඡිංසු. අයං මෙ ධීතුසන්තිකෙ කිං අග්ඝතී'ති, තෙන හි තෙ ධීතරං අම්හාකං දස්සෙහී'ති. සා තෙහි සද්ධිං ගෙහං ගන්ත්වා සාමිකානං ආරොචෙසි. තෙ බ්‍රාහ්මණෙහි සද්ධිං කතපටිසම්මොදනා ධීතරං ඔතාරෙත්වා හෙට්ඨාපාසාදෙ සුවණ්ණරූපකස්ස සන්තිකෙ ඨපෙසුං. සුවණ්ණරූපකං නිප්පභං අහොසි. බ්‍රාහ්මණා තං තෙසං දත්වා කුමාරිකං පටිච්ඡාපෙත්වා ගන්ත්වා අනිත්ථිගන්ධකුමාරස්ස මාතාපිතුන්නං ආරොචයිංසු. තෙ තුට්ඨමානසා ගච්ඡථ නං සීඝං ආනෙථා'ති මහන්තෙන සක්කාරෙන පහිණිංසු. කුමාරො'පි තං පවත්තිං සුත්වා කඤ්චනරූපකතො'පි කිර අභිරූපතරා දාරිකා අත්ථී'ති සවණවසෙනෙ'ව සිනෙහං උප්පාදෙත්වා සීඝං ආනෙන්තූ'ති ආහ. සාපි ඛො යානං ආරොපෙත්වා ආනීයමානා

අතිසුඛුමාලතාය යානුඝාතෙන සමුප්පාදිතවාතරොගා අන්තරාමග්ගෙයෙ'ව කාලමකාසි. කුමාරො'පි ආගතාගතං නිරන්තරං පුච්ඡති. තස්ස අතිසිනෙහෙන පුච්ඡන්තස්ස සහසා'ව අනාරොචෙත්වා කතිපාහං වික්ඛෙපං කත්වා තමත්ථං ආරොචෙසුං. සො තථාරූපාය නාම ඉත්ථියා සද්ධිං සමාගමං නාලත්ථන්ති උප්පන්නදොමනස්සො පබ්බතෙන විය සොකදුක්ඛෙන අජ්ඣොත්ථටො අහොසි. සත්ථා තස්ස උපනිස්සයං දිස්වා පිණ්ඩාය චරන්තො තං ගෙහද්වාරං අගමාසි. අථස්ස මාතාපිතරො සත්ථාරං අන්තො පවෙසෙත්වා සක්කච්චං පරිවිසිංසු, සත්ථා භත්තකිච්චාවසානෙ කහං අනිත්ථිගන්ධකුමාරො'ති පුච්ඡි. එසො භන්තෙ අහාරූපච්ඡෙදං කත්වා අන්තොගබ්භෙ නිසින්නො'ති. පක්කොසථ නන්ති. සො ආගන්ත්වා සත්ථාරං වන්දිත්වා එකමන්තං නිසීදි. සත්ථා කින්නුඛො කුමාර බලවසොකො තෙ උප්පන්නොති වුත්තෙ, ආම භන්තෙ එවරූපා නාම ඉත්ථී අන්තරාමග්ගෙ කාලකතාති සුත්වා බලවසොකො මෙ උප්පන්නො භත්තම්පි මෙ නච්ඡාදෙතී'ති. අථ නං සත්ථා ජානාසි පන ත්වං කුමාර කිං තෙ නිස්සාය සොකො උප්පන්නො'ති? න ජානාමි භන්තෙ'ති. කාමං නිස්සාය තෙ කුමාර බලවසොකො උප්පන්නො සොකො වා හි භයං වා කාමං නිස්සාය එවං උප්පජ්ජතී'ති වත්වා ඉමං ගාථමාහ:

**''කාමතො ජායතී සොකො - කාමතො ජායතී භයං,**
**කාමතො විප්පමුත්තස්ස - නත්ථි සොකො කුතො භය'න්ති''**

තත්ථ කාමතො'ති වත්ථුකාමකිලෙසකාමතො, දුවිධං පෙතං කාමං නිස්සාය ජායතී'ති අත්ථො. දෙසනාවසානෙ අනිත්ථිගන්ධකුමාරො සොතාපත්තිඵලෙ පතිට්ඨහී'ති.

## II. අඤ්ඤතරබ්‍රාහ්මණවත්ථු

‘**තණ්හාය ජායතී**’ති ඉමං ධම්මදෙසනං සත්ථා ජෙතවනෙ විහරන්තො අඤ්ඤතරං බ්‍රාහ්මණං ආරබ්භ කථෙසි.

සො කිරෙකො මිච්ඡාදිට්ඨිකො එකදිවසං නදීතීරං ගන්ත්වා ඛෙත්තං සොධෙති, සත්ථා තස්ස උපනිස්සයසම්පත්තිං දිස්වා තස්ස සන්තිකං අගමාසි. සො සත්ථාරං දිස්වා’පි සාමීචිකම්මං අකත්වා’ව තුණ්හී අහොසි, අථ නං සත්ථා පුරෙතරං ආලපිත්වා බ්‍රාහ්මණ කිං කරොසී’ති ආහ, ඛෙත්තං භො ගොතම සොධෙමී’ති, සත්ථා එත්තකමෙව වත්වා තතො, පුන දිවසෙ’පි තස්ස ඛෙත්තං කසිතුං ආගතස්ස සන්තිකං ගන්ත්වා බ්‍රාහ්මණ කිං කරොසී’ති පුච්ඡිත්වා ඛෙත්තං කසාමි භො ගොතමා’ති සුත්වා පක්කාමි. පුනදිවසාදීසු’පි තථෙව ගන්ත්වා, භො ගොතම ඛෙත්තං වපාමි නිද්දෙමි රක්ඛාමී’ති සුත්වා පක්කාමි. අථ නං එකදිවසං බ්‍රාහ්මණො ආහ, භො ගොතම ත්වං මම ඛෙත්තසොධනදිවසතො පට්ඨාය ආගතො, සචෙ මෙ සස්සං සම්පජ්ජිස්සති තුය්හම්පි සංවිභාගං කරිස්සාමි, තුය්හං අදත්වා සයං න ඛාදිස්සාමි, ඉතොදානි පට්ඨාය ත්වං මම සහායො’ති, අථස්ස අපරෙන සමයෙන සස්සං සම්පජ්ජි තස්ස සම්පන්නං මෙ සස්සං සෙවදානි දායාපෙස්සාමී’ති දායනත්ථං කත්තබ්බකිච්චස්ස රත්තිං මහාමෙඝො වස්සිත්වා සබ්බසස්සං හරි, ඛෙත්තං තච්ඡෙත්වා ඨපිතසදිසං අහොසි, සත්ථා පන පඨමදිවසෙයෙව තං සස්සං න සම්පජ්ජිස්සතී’ති අඤ්ඤාසි. බ්‍රහ්මණො පාතො’ව ඛෙත්තං ඔලොකෙස්සාමී’ති ගතො’ තුච්ඡං ඛෙත්තං දිස්වා උප්පන්නබලවසොකො චින්තෙසි, සමණො ගොතමො මම ඛෙත්තසොධනකාලතො පට්ඨාය ආගතො අහම්පි තං ඉමස්මිං සස්සෙ නිප්ඵන්නෙ තුය්හම්පි සංවිභාගං කරිස්සාමි. තුය්හං අදත්වා සයං න ඛාදිස්සාමි. ඉතො ‘පට්ඨායදානි ත්වං මම සහායො’ති අවචං’ සො’පි මෙ මනොරථො මත්ථකං න පාපුණී’ති ආහාරූපච්ඡෙදං කත්වා මඤ්චකෙ නිපජ්ජි, අථස්ස සත්ථා ගෙහද්වාරං අගමාසි, සො සත්ථු ආගමනං සුත්වා සහායං මෙ ආනෙත්වා ඉධ නිසීදාපෙථා’ති ආහ. පරිජනො තථා අකාසි සත්ථා නිසීදිත්වා කහං බ්‍රාහ්මණො’ති පුච්ඡිත්වා ගබ්භෙ නිපන්නො’ති වුත්තෙ පක්කොසථ නන්ති පක්කොසාපෙත්වා ආගන්ත්වා එකමන්තං නිසින්නං ආහ. කිං බ්‍රාහ්මණා’ති, භො ගොතම තුම්හෙ මම ඛෙත්තසොධනදිවසතො පට්ඨාය ආගතා. අහම්පි සස්සෙ නිප්ඵන්නෙ තුම්හාකං සංවිභාගං කරිස්සාමී’ති අවචං, සො මෙ මනොරථො න නිප්ඵන්නො තෙන මෙ සොකො උප්පන්නො භත්තම්පි මෙ නච්ඡාදෙතී’ති, අථ නං සත්ථා ජානාසි පන ත්වං බ්‍රාහ්මණ කිං තෙ නිස්සාය සොකො උප්පන්නො’ති පුච්ඡිත්වා න ජානාමි භො ගොතම, ත්වං පන ජානාසී’ති වුත්තෙ ආම බ්‍රාහ්මණ උප්පජ්ජමානො හි සොකො වා භයං වා තණ්හං නිස්සාය උප්පජ්ජතී’ති වත්වා ඉමං ගාථමාහ.

**“තණ්හාය ජායතී සොකො තණ්හාය ජායතී භයං,**
**තණ්හාය විප්පමුත්තස්ස නත්ථි සොකො කුතො භයං**”ති.

තත්ථ **තණ්හායා’ති** ඡද්වාරිකතණ්හාය එකං තණ්හං නිස්සාය උප්පජ්ජතී’ති අත්ථො දෙසනාවසානෙ බ්‍රාහ්මණො සොතාපත්තිඵලෙ පතිට්ඨහි.

